# ඉස්ලාම්

# 9 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



සියලු ම පෙළපොත් ඉලෙක්ට්‍රොනික් මාධ්‍යයෙන් ලබා ගැනීමට
www.edupub.gov.lk වෙබ් අඩවියට පිවිසෙන්න.

# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙනයනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමඟින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරුපරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රිය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළපොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමඟම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

**නියාමනය හා අධීක්ෂණය**

**පී. එන්. අයිලප්පෙරුම** — **අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,** අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

**මෙහෙයවීම**

**ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි** — **කොමසාරිස්** (සංවර්ධන), අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

**සම්බන්ධීකරණය**

එම්. ටී. අබ්දුර් රහ්මාන් — **සහකාර කොමසාරිස්,** අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

අයි. ඒ. එම්. අෆ්සාන් — **සහකාර කොමසාරිස්,** අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

**ලේඛක මණ්ඩලය**

එම්. එච්. එම්. බුහාරි — **ගුරු උපදේශක,** කලාප අධ්‍යාපන කාර්යාලය, මිනුවන්ගොඩ.

මෞලවි. යූ. එල්. ඒ. අමීර් — **කථිකාචාර්ය,** (අරාබි ඉස්ලාම් ශිෂ්ටාචාර දෙ), කොළඹ විශ්වවිද්‍යාලය.

එම්. එම්. ෆස්ලුර් රහ්මාන් — **ජ්‍යෙෂ්ඨ උපගුරු,** බාබුස් සලාම් ම. වි. පස්යාල.

ජනාබ්. එම්. එස්. එම්. බූසරි — **ජ්‍යෙෂ්ඨ උපගුරු,** අල් බද්රියා ම. වි. කහටෝවිට.

එම්. ආර්. එම්. මිහ්ලාර් — **ජ්‍යෙෂ්ඨ උපගුරු,** අරෆා ම. වි. උඩුගොඩ, රුක්ගහවිල.

එස්. ඒ. එම්. රිස්වි — **ජ්‍යෙෂ්ඨ උපගුරු,** අල් හික්මා විදුහල, කොළඹ -. 12

ජනාබ්. එම්. එෆ්. එම්. නල්රි — **විදුහල්පති,** අල් හම්රා මහා විද්‍යාලය, දර්ගා නගරය.

අසීමා හුසෛයින් — **ජ්‍යෙෂ්ඨ උපගුරු,** රාජකීය විදුහල, කොළඹ – 7

මෞලවියා. එම්. අයි. එස්. සුහාරා — **උපගුරු,** කයිරියා මුස්ලිම් කාන්තා විදුහල, කොළඹ 09.

## සංස්කාරක මණ්ඩලය

ඒ. සී. අගාර් මුහම්මද් — **නියෝජ්‍ය අධ්‍යක්‍ෂ,** නළීමියා ඉස්ලාමීය ආයතනය, බේරුවල.

**නියෝජ්‍ය සභාපති,** සමස්ත ලංකා ජම්මියතුල් උලමා.

එම්. එස්. අබ්දුල් බාරි — **ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,** (අරාබි ඉස්ලාම් ශිෂ්ටාචාර දෙ), පේරාදෙණිය විශ්වවිද්‍යාලය.

එම්. ආර්. එම්. ඉර්ෂාත් — **නියෝජ්‍ය අධ්‍යාපන අධ්‍යක්ෂ,** (ජාතික පාසල් ඒකකය), අධ්‍යාපන අමාත්‍යාංශය, ඉසුරුපාය, බත්තරමුල්ල.

මෞලවි. එම්. අයි. එම්. නව්ෆර්දීන් — **සහකාර අධ්‍යාපන අධ්‍යක්‍ෂ,** මුස්ලිම් පාසල් සංවර්ධන ශාඛාව, ඉසුරුපාය, බත්තරමුල්ල.

ජේ. එම්. ජෙසාර් — **කථිකාචාර්ය,** (ආගමික ඒකකය), ජාතික අධ්‍යාපන ආයතනය, මහරගම.

එම්. ටී. අබ්දුර් රහ්මාන් — **සහකාර කොමසාරිස්,** අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

## භාෂා සංස්කාරක

එම්. ඒ. එම්. දමයන්ති — **සංවර්ධන සහකාර,** ළඟම පාසල, හොඳම පාසල ව්‍යාපෘති ශාඛාව, ඉසුරුපාය, බත්තරමුල්ල.

## සෝදුපත් කියවීම

අල් හාෆිල්. මුහම්මදු නිස්ෆර් නිලාර් — **විෂයභාර ගුරු** (සිංහල), කුල්ලියතුර් රෂාද් අරාබි විදුහල, කොළඹ 14.

## පරිගණක සහායක

එස්. ඒ. අස්රිනා — පරිගණක අංශය, අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

එච්. එෆ්. රිස්නා — පරිගණක අංශය, අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

## චිත්‍ර හා පිටු සැකසුම හා පිටකවර නිර්මාණය

ජනාබ්. එම්. ඩබ්ලිව්. ඒ. අසාර් — **පරිගණක සහාය,** 6 F, රක්ෂපාන, මල්වාන.

# පටුන

## වැදගත් සටහන

පාඩම්වල අන්තර්ගත අරාබි පද නිවැරැදි ව කියවීම සඳහා පෙළපොතේ අවසානයේ දී වැදගත් අරාබි පද අරාබි භාෂාවෙන් හා සිංහල භාෂාවෙන් ලබා දී ඇත.

එම නිසා ගුරුතුමන්ගේ සහායෙන් එම අරාබි පද නිවැරැදි ව කියවීමට උත්සාහ කරන්න.

# 1
# තව්හීද්, රිසාලත්, මආද්

අල්ලාහ් සියල්ලෙහි ම මැවුම්කරුවා ය; ඒකයා ය; එක ම දෙවියා ය; සියලු වස්තූන්හි පරිපාලක ය; අවශ්‍යතා රහිතයා ය; අසමසම ය. සියල්ල ඔහුගේ අභිප්‍රාය පරිදි සිදු වෙයි. ඔහුට යමක් කිරීමට අවශ්‍ය නම්, 'කුන්' (ඇති වනු) යන අල්ලාහ්ගේ විධානය දීම පමණක් සෑහේ. මෙවැනි බලයෙන් පිරිපුන් අල්ලාහ් ස්ථිරව විශ්වාස කිරීම "ඊමාන්"යනුවෙන් හඳුන්වනු ලැබේ. මෙම විශ්වාසය යමෙකුගේ සිතෙහි ගැඹුරින් සටහන් වනවාත් සමග ම එහි එළිදැක්ම ලෙස "ලා ඉලාහ ඉල්ලල්ලාහ්" යන කලිමාව උසුරන්නා "මුඃමින්" (විශ්වාසවන්තයා) වේ. අල්ලාහ්ගේ විධානයන් තම ජීවිතය තුළ පූර්ණ වශයෙන් ම පිළිපැදීමට ඔහුට සිදු වේ. එවිට ඔහුගේ ඊමාන් සම්පූර්ණ වේ.

සත්‍ය ඊමානය, මුඃමින්වරයකුගේ ජීවිතය තුළ විශාල වෙනසක් ඇති කරන අතර යහ ක්‍රියාවන් කෙරෙහි ඔහු උත්සුක කරවා අයහපතින් වැළකී ක්‍රියා කිරීමටත් සහය වේ.

මෙහි දී අපි ඊමාන්හි වැදගත් අංශ වන **තව්හීද්, රිසාලත්, මආද්** පිළිබඳව කෙටියෙන් විමසමු.

## තව්හීද්

**තව්හීද්** යන්නෙහි අර්ථය **ඒකදේවත්වය** වේ.

මිනිසා, සතුන්, ග්‍රහලෝක ඇතුළු විශ්වය හා සියල්ල අල්ලාහ් මවා පරිපාලනය කරන්නේ ය; ජීවීන් පෝෂණය කරන්නේ ය; ජීවිතය හා මරණය ඒවාට ලබා දෙන්නේ ය.





ජාහිලියියා කාලයේ සිටි අරාබි ජනයා පවා මැවීම් සිදුකර පාලනය කරන්නෙක් ඇති බව පිළිගෙන සිටි බව අල්කුර්ආන් පෙන්වා දෙයි.

**අහස හා පොළොව මැවූ කෙනා ද සූර්යයා හා චන්ද්‍රයා වසඟ කර තබා සිටින්නා ද කවුද, යැයි නබිවරයාණෙනි නුඹ ඔවුන්ගෙන් ඇසුවෙහි නම් "අල්ලාහ් ම ය" යැයි නියත වශයෙන් ම ඔවුහු පවසන්නෝ ය. (අල් අන්කබූත් 29 : 61)**

මෙම කරුණු උදෙසා අල්ලාහ්ට වෙනත් කිසිවෙකුත් සමාන නොවේ යැයි ස්ථිරව විශ්වාස කලයුතු ය. මෙය පිළිගැනීමෙහි ලා ඉතිහාසය පුරා ම මිනිසා භේද භින්න වී ඇත. සමහරු පිළිගත්හ; තවත් සමහරු ප්‍රතික්ෂේප කළහ. ජාහිලියියා කාලයේ අරාබි ජනයා "ඉලාහ්" යන පදයේ අර්ථය හොඳින් දන සිටි හෙයින් එයට දැඩි සේ විරුද්ධ වූහ; මෙමගින් තම ආධිපත්‍යය සෞභාග්‍යය තුරන් වේ යැයි බිය වූහ. තම මානසික ඉච්චාවන්ට අනුව ජීවත් වීමට නොහැකි වේ යැයි සිතා තැති ගත්හ.

අල්ලාහ් "රබ්" ලෙසත් "ඉලාහ්" ලෙසත් පිළිගත් ජනයා අල්ලාහ්ගේ ගුණාංග හා ඔහුගේ අලංකාර ශුද්ධ නාමයන් ද ඔහු පැවසූ ආකාරයට පිළිගෙන විශ්වාස කළ යුතු ය. එය අල්ලාහ්ට ම ආවේණික සුවිශේෂිත ඒවා යැයි පිළිගත යුතු ය.

## රිසාලත්

තව්හීදයට පසු ඊමානයේ වැදගත් කරුණු අතරින් එකකි, **"රිසාලත්"** පිළිබඳ විශ්වාසය. **රිසාලත් යනු ධර්ම දූත මෙහෙවර** වේ. අල්ලාහ් මෙලොව තම නියෝජිතයා ලෙස මිනිසා මැව්වේ ය. ඔහු කෙසේ ජීවත් විය යුතු ද යන යහමග ද ලබා දුන්නේ ය. එම මගපෙන්වීම් ලබා දීම පිණිස මිනිසා අතරින් විශේෂිතයන් රැසක් තෝරා ගත්තේ ය. ඔවුහු නබිවරු හා රසූල්වරු වෙති.

ඔවුහු වහී මගින් තමන්ට පහළ කරන ලද ආගම් හා සුහුෆ් මගින් තම ප්‍රජාව යහමග යැවූහ. නබිවරුන් අතරින් සුවිශේෂිතයන් රසූල්වරු වෙති. නබිවරුන් හා රසූල්වරුන් අතරින් අවසාන නබිවරයා මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වේ. එහෙයින් මෙතුමා **"කාතමුන් නබියීන්"** නබිවරුන් අතරින් අවසාන නබිවරයා ලෙස හැඳින්වේ. මෙය ස්ථිරව විශ්වාස කිරීම රිසාලත් පිළිබඳ විශ්වාසය වේ.

## මආද්

ඊමානයේ අනෙකුත් වැදගත් අංගය "මආද්" පිළිබඳ විශ්වාසය වේ. **මරණයට පසු ජීවිතය මආද්** නම් වේ. ඉස්ලාමීය විශ්වාසනීය ප්‍රතිපත්තියට අනුව ජීවිතය මරණයත් සමග අවසන් නොවේ. සදාකාලික, ස්ථිර ජීවිතය පරලොව ජීවිතය වේ. මෙලොව ජීවත් වන විට මිනිසා විසින් සිදු කළ සෑම ක්‍රියාකාරකමක් ම පිළිබඳව පරලොවේ දී විමසුමට ලක් වේ. විමසුමේ තීන්දුව අනුව ත්‍යාග හෝ දඬුවම් එහි දී ලබා දෙනු ලැබේ. මෙලොව ජීවිතය තුළ දේව නියෝගයන්ගේ ආලෝකයෙන් ජීවත් වූ යහගැත්තන්ට ස්වර්ගය ලබා දෙනු ලැබේ. දේව නියෝගයන් නොසලකා ජීවත් වූ නරක ගැත්තන්ට නිරය ලබා දෙනු ලැබේ. මෙය මආද් - පරලොව පිළිබඳ විශ්වාසයේ සාරාංශය වේ.

**මෙවැනි තව්හීද්, රිසාලත්, මආද් වැනි ඊමාන්හි ප්‍රධාන අංග ත්‍රිත්වය හා ඒ හා සම්බන්ධ අනෙකුත් කොටස් පිළිබඳ ස්ථිරව විශ්වාස කර අපගේ ඊමාන් සම්පූර්ණ කර ගනිමු.**

### අභ්‍යාස

**කෙටි පිළිතුරු සපයන්න.**

1. "විශ්වාසී" යන පදයට අරාබි භාෂාවෙන් යෙදෙන පදය කුමක් ද?
2. තව්හීද් යන පදයේ අර්ථය කුමක් ද?
3. රබ් යනු අර්ථය කුමක් ද?
4. නබිවරුන් අතර සුවිශේෂිතයන් කවුරුන් ද?
5. මආද් යනු කුමක් ද?
6. "ඉලාහ්" යන පදයේ අර්ථය කුමක් ද?

# 2

# අල් අස්මාඋල් හුස්නා

ඊමානයේ ප්‍රමුඛස්ථානය අල්ලාහ් පිළිබඳ විශ්වාසයට හිමි වේ. අල්ලාහ් විශ්වාස කිරීමට ඔහු පිළිබඳව දැන ගෙන සිටිය යුතු ය. අල්ලාහ් පිළිබඳව නිවැරදිව වටහා ගැනීමට ඔහුගේ ශුද්ධ නාමයන් ද (අස්මාඋල් හුස්නා) ඔහුගේ ගුණාංග ද (සිෆාත්) සහය වේ.

අල්ලාහ්ට අලංකාර නාමයන් ඇත යන්න, අල්කුර්ආන් පහත දක්වෙන පරිදි සඳහන් කර ඇත.

**අල්ලාහ් හැර අන් දෙවියකු නැත. ඉතා අලංකාර නාමයන් හිමි වන්නේ ඔහුට ම ය. (20 : 08)**

**නබි තුමාණනි, ඔබ පවසන්න, නුඹලා අල්ලාහ් යනුවෙන් (ඔහු) කැඳවනු. නැතහොත්, අර් රහ්මාන් යනුවෙන් කැඳවනු. නුඹලා කෙසේ කැඳවුව ද ඔහුට තවත් ඉතා අලංකාර නම් රැසක් ඇත. (17 : 110)**

**අල්ලාහ් මැවුම්කරු ය; (ඔහු ම ය) මැවීම්වල උත්පාදකයා ය. (ඔහු ම ය) මැවීම්වල රූපයේ මූර්තිකරුවා ය. ඔහුට අලංකාර නාමයන් තිබේ. අහසේ හා මහපොළොවෙහි දෑ ඔහු සුවිශුද්ධ කරයි. ඔහු සර්ව බලධාරියා ය; සර්ව ප්‍රඥාවන්තයා ය. (59 : 24)**

අල්ලාහ්ට හිමි අස්මාඋල් හුස්නාහි සංඛ්‍යාව පිළිබඳව පහත දැක්වෙන පරිදි හදීස්වල සඳහන් කර ඇත.

"අල්ලාහ්ට අලංකාර නාමයන් 99ක් ඇත. යමෙකු ඒවා කටපාඩම් කරන්නේ ද ඔහු ස්වර්ගයට ඇතුළු වේ." (බුහාරි)

අස්මාඋල් හුස්නා කටපාඩම් කිරීම පමණක් නොව එය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ඉගැන්වූ පරිදි එදිනෙදා ජීවිතයේ දී භාවිත කළ යුතු ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා තම දෛනික ජීවිතයේ ප්‍රාර්ථනාවල හා දික්ර්වල අල්ලාහ්ගේ ශුද්ධ නාමය අධික වශයෙන් එක් කර ගත්තේ ය.

"යා අල්ලාහ් ! නුඹගේ ශුද්ධ වූ නාමයෙන් මම නිදගන්නෙමි නුඹගේ ශුද්ධවූ නාමයෙන් ප්‍රාණයට පත් වන්නෙමි," (මුස්ලිම්) යැයි නින්දට යෑමට පෙර ප්‍රාර්ථනා කළහ.

අස්මාඋල් හුස්නා 99 ම තිර්මිදි නම් හදීස් ග්‍රන්ථයේ සටහන් කර ඇත.


بسم الله الرحمن الرحيم
هو الله الذی لا اله الا هو
الرحمن جل جلاله
الرحيم جل جلاله
الملك جل جلاله
القدوس جل جلاله
السلام جل جلاله
المؤمن جل جلاله
المهيمن جل جلاله
العزيز جل جلاله
الجبار جل جلاله
المتكبر جل جلاله
الخالق جل جلاله
البارئ جل جلاله
المصور جل جلاله
الغفار جل جلاله
القهار جل جلاله
الوهاب جل جلاله
الرزاق جل جلاله
الفتاح جل جلاله
العليم جل جلاله
القابض جل جلاله
الباسط جل جلاله
الخافض جل جلاله
الرافع جل جلاله
المعز جل جلاله
المذل جل جلاله
السميع جل جلاله
البصير جل جلاله
الحكم جل جلاله
العدل جل جلاله
اللطيف جل جلاله
الخبير جل جلاله
الحليم جل جلاله
العظيم جل جلاله
الغفور جل جلاله
الشكور جل جلاله
العلی جل جلاله
الكبير جل جلاله
الحفيظ جل جلاله
المقيت جل جلاله
الحسيب جل جلاله
الجليل جل جلاله
الكريم جل جلاله
الرقيب جل جلاله
المجيب جل جلاله
الواسع جل جلاله



الحکیم جل جلاله
الودود جل جلاله
المجید جل جلاله
الباعث جل جلاله
الشہید جل جلاله
الحق جل جلاله
الوکیل جل جلاله
القوی جل جلاله
المتین جل جلاله
الولی جل جلاله
الحمید جل جلاله
المحصی جل جلاله
المبدئ جل جلاله
المعید جل جلاله
المحیی جل جلاله
الممیت جل جلاله
الحی جل جلاله
القیوم جل جلاله
الواجد جل جلاله
الماجد جل جلاله
الواحد جل جلاله
الاحد جل جلاله
الصمد جل جلاله
القادر جل جلاله
المقتدر جل جلاله
المقدم جل جلاله
المؤخر جل جلاله
الاول جل جلاله
الآخر جل جلاله
الظاهر جل جلاله
الباطن جل جلاله
الوالی جل جلاله
المتعال جل جلاله
البر جل جلاله
التواب جل جلاله
المنتقم جل جلاله
العفو جل جلاله
الرؤف جل جلاله
مالک الملک جل جلاله
ذوالجلال والاکرام جل جلاله
المقسط جل جلاله
الجامع جل جلاله
الغنی جل جلاله
المغنی جل جلاله
المانع جل جلاله
الضار جل جلاله
النافع جل جلاله
النور جل جلاله
الهادی جل جلاله
البدیع جل جلاله
الباقی جل جلاله
الوارث جل جلاله
الرشید جل جلاله
الصبور جل جلاله

මෙම ගුණ නාමයන් අනූ නවය අල්ලාහ් යන සුවිශේෂ වූ ගුණ නාමයේ ලක්ෂණ ලෙස පවසා ඇත. එබැවින් **අල්ලාහ්** යන ශුද්ධ නාමය **"ලෆ්ලුල් ජලාලාහ්"** යනුවෙන් අමතනු ලැබේ.

අස්මාඋල් හුස්නා මගින් අල්ලාහ්ගේ දැනුම, හැකියාව, බලය, උසස් ගුණාංග හා ශක්තිය යනාදී සියල්ලෙහි ම ඔහු අසමානයෙකි; යන්න පැහැදිලි ය. කිසිවෙකු ඔහුට සමාන කළ නොහැකි ය, යන්න මුඃමින්වරයකුගේ සිතෙහි ගැඹුරින් සටහන් විය යුතු ය. එසේ ම අල්ලාහ්ගේ මැවීම් ඔහුගේ ගුණාංගවලට සමාන කළහොත් එය ෂිර්ක් බවට පත් වේ.

අකීද ක්ෂේත්‍රයේ විද්වත්හු අස්මාඋල් හුස්නාව එහි අර්ථය පදනම් කර ගනිමින් පහත සඳහන් පරිදි වර්ග කළහ. ඒ අතරින් කිහිපයක් මෙසේ ය.

1. අල්ලාහ්ගේ මැවීමේ ශක්තිය සමග සම්බන්ධ ඒවා
2. අල්ලාහ්ගේ සෙනෙහස සමග සම්බන්ධ ඒවා
3. අල්ලාහ්ගේ බලය, ශක්තිය සමග සම්බන්ධ ඒවා
4. අල්ලාහ්ගේ දැනුම සමග සම්බන්ධ ඒවා

**අල්ලාහ්ට ඉතා අලංකාර නාමයන් තිබේ. එබැවින් ඔහුට එම අලංකාර නම්වලින් ආමන්ත්‍රණය කරනු. ඔහුගේ නාමයන්හි දෝෂාරෝපණය කරන්නන් නොසලකා හරිනු. ඔවුන් කරමින් සිටි දැයෙහි ඵලවිපාකය ඔවුනට ලැබෙනු ඇත.** (7: 180)

අල්ලාහ්ගේ අලංකාර ශුද්ධ නාමයන් අවධානයට ලක් කරමු.

අස්මාඋල් හුස්නාවෙහි අන්තර්ගත අල්ලාහ්ගේ ගුණාංග සමග සසඳන කල්හි ඔහු විසින් මවන ලද මිනිසා ඉතා ම දුර්වලවූවෙකු, යන්න වටහා ගත හැකි ය. එහෙයින් මිනිසා තම ජීවිතයේ දී ශෝකය ඇති වූ විට තමන්ව මැවූ බල සම්පන්න අල්ලාහ් සොයා යා යුතු ය; ඔහුගෙන් ම උපකාර ද, ආරක්ෂාව ද සෙවිය යුතු ය. මෙවැනි අවස්ථාවල දී මුඃමින්වරු තම දුආවන්හි අස්මාඋල් හුස්නා භාවිත කිරීම ඉතා ම යහපත් ය.

අස්මාඋල් හුස්නා මගින් අල්ලාහ්ගේ ශ්‍රේෂ්ඨත්වය දැනගෙන ඊමානය සම්පූර්ණ කර ගත හැකි ය. තව ද, එය මනනය කර අර්ථය වටහා ගෙන, දිනපතා පාරායනය කිරීම මගින් අල්ලාහ් වෙත සමීප වීමට ප්‍රයත්න දැරිය යුතු ය.

**අභ්‍යාස**

**(අ) හරි වැරදි ලකුණු කරන්න.**

1. අස්මාඋල් හුස්නා යන්නෙන් අල්ලාහ්ගේ ක්‍රියාකාරකම් යන්න අර්ථ ගැන්වේ. ( )
2. අල්ලාහ්ට අස්මාඋල් හුස්නා 99ක් ඇත. ( )
3. 'අල්ලාහ්' යන නාමය සුවිශේෂ ය. ( )
4. මිනිසාට තම අභිප්‍රාය මත වැරදි නාමයකින් අල්ලාහ් ඇමතිය හැකි ය. ( )
5. 'අර්රහ්මාන්' යන්න අල්ලාහ්ගේ දයාව හා සබැඳි ගුණාංගය පෙන්නුම් කරයි. ( )

**(ආ) කෙටි පිළිතුරු සපයන්න.**

1. අස්මාඋල් හුස්නා මගින් අල්ලාහ් ආමන්ත්‍රණය කළ යුතු ය, යන්න පහදන අල්කුර්ආන් වැකියක් ලියන්න.
2. ''ලෆ්ලුල් ජලාලාහ්'' යැයි අමතන ශුද්ධ නාමය කුමක් ද?
3. අස්මාඋල් හුස්නා 99 ම සඳහන් වන හදීසය සටහන් කර ඇත්තේ කුමන ග්‍රන්ථයේ ද?
4. අස්මාඋල් හුස්නා 10ක් අරාබියෙන් ලියා එහි අර්ථය සිංහලෙන් ලියා පෙන්වන්න.
5. සූරා අල් ෆාතිහා හි අන්තර්ගත සෙනෙහස හා සබැඳි අල්ලාහ්ගේ අස්මාඋල් හුස්නා දෙකක් ලියන්න.

# 3
# අවසාන දිනය




ඉස්ලාමයේ විශ්වාස කළ යුතු මූලධර්මවලින් 5 වන කරුණ වන්නේ අවසාන දිනය පිළිබඳව විශ්වාස කිරීමයි. අල්කුර්ආන්හි හා අල් හදීස්හි අවසාන දිනය කෙරෙහි විශ්වාස කිරීම පිළිබඳව අවධාරණය කොට ඇත.

අල්ලාහ් කෙරෙහි විශ්වාසය, ජීවිතය කෙසේ ආරම්භ වී දැයි යන සංකීර්ණ දැනුම ලබා දෙන අතර අවසාන දිනය පිළිබඳ විශ්වාසය ජීවිතයේ අවසානය පිළිබඳ සංකීර්ණ දැනුම ලබා දෙයි.

ජීවිතයේ ආරම්භය හා අවසානය පිළිබඳව සවිස්තරව දැන ගැනීම මගින් ජීවිතයේ අරමුණ සැලසුම් කිරීමට පහසු වන්නේ ය.

අවසාන දිනය ගැන විශ්වාසයක් නොමැත්තා ලෝකයේ තමාට රිසි සේ ජීවත් වන්නට සූදානම් වෙයි; ආගමික උපදෙස් හා යහගුණාංගයන් බැහැර කරයි. ඔහු සත්වයකු සේ තම ජීවිතය ගත කරයි. මේ නිසා ඔහු තමාගේ මානුෂීය ගුණාංග අහිමි කර ගනියි.

එවිට බොරුව, ආත්මාර්ථකාමිත්වය, ද්‍රෝහි වීම, පොරොන්දු කඩකිරීම, වැරදි මාර්ගවලින් ලාබ ඉපැයීම, සිය දිවි නසා ගැනීම, මිනී මැරීම් ආදි පහත් ක්‍රියාවන් ජනයා අතර ඉහළ යයි.

තව ද සත්‍යය, යුක්තිය, සාධාරණත්වය, දනමාන, පොරොන්දු ඉටු කිරීම, සමාජ සුබසාධනය ආදී උසස් ගුණාංග මිනිස් සමාජය තුළ උදාසීන වේ.

අවසාන දිනය ගැන විශ්වාසයක් නොමැති වූ විට අල්ලාහ් මිනිසාට යැයි නියම කළ අනන්‍යතාවන් අර්ථ විරහිත බවට පත් වේ.

අල් කුර්ආනයේ හා සුන්නාහි දේව විශ්වාසය සමඟ අවසාන දිනය සම්බන්ධ කර දැක්වීමෙන් එහි වැදගත්කම පෙන්වා ඇත. අල්කුර්ආන්හි 50කට අධික නාමයන්ගෙන් අවසාන

දිනය හඳුන්වා දී ඇත. යව්මුල් බඃස්, යව්මුල් හිසාබ්, යව්මුල් කියාමා, යව්මුල් ආඛිරා, යව්මුද් දීන්, යව්මුත් තගාබුන් ඉන් කිහිපයක් වේ.

මිනිසෙකු මෙලොවෙහි කරන යහ ක්‍රියාවන්ගේ ඵලය අවසාන දිනයේ දී ලබා දෙනු ලැබේ. ඊමාන් කර චිත්ත පාර්ශුද්ධියෙන් යහක්‍රියා කරන්නෝ අවසාන දිනයේ දී ජයගෙන ස්වර්ගය පරිත්‍යාගය ලෙස ලබා ගනිති. ප්‍රතික්ෂේප කිරීමෙහිත්, පාපී ක්‍රියාවන්හිත් ගිලී සිටින්නෝ නිරයට පිවිසෙති. පරලොව ජය ලබා ස්වර්ගය ළඟා කර ගැනීම මුස්ලිම්වරයෙකුගේ අරමුණ වීමත් ඒ සඳහා කැප වී ක්‍රියා කිරීමත් ඔහුගේ වගකීම විය යුතු ය.

අවසාන දිනයේ විශ්වාසය හා සම්බන්ධ සිදුවීම් කිහිපයක් කෙටියෙන් දක්වමු.

## බඃස් (නැවත නැගිටුවීම)

අල්ලාහ්ගේ අණ පරිදි ඉස්රාෆීල් අලෛහිස්සලාම් තුමා ප්‍රථමයෙන් ම සූර් නළාව පිඹීමත් සමඟ අවසාන දිනයේ සිදුවීම් ආරම්භ වේ. එවිට පොළොවේ හා ග්‍රහලෝකවල ක්‍රියාකාරිත්වය  බිඳී යයි. මිනිසුන් ඇතුළුව ජීවීහු සියලු දෙනා මරණයට පත් වෙති.

දීර්ඝ කාලයකට පසුව නැවත දෙවන සූර් පිඹිනු ලැබේ. එවිට මරණයට පත් වූ සියලු දෙනා නැවත ප්‍රාණවත්භාවයට පත් කරනු ලැබේ. මෙය බඃස් නමින් හැඳින්වේ.

## මහ්ෂර්

මහ්ෂර් යනු අතිවිශාල පිටියක් වේ. දෙවැනි සූර් සමඟ ප්‍රාණයට පත්කරනු ලැබූ සියලු දෙනා මෙම ස්ථානයට එක් රැස් වෙති. මෙහි දී හිසට ළංව පිහිටන සූර්යයාගේ උෂ්ණය දරාගත නොහැකිව මිනිස්සු වේදනා විඳිති. දහඩිය ගංවතුරක් ගලනා අයුරින් පිරී යයි. අර්ෂ්හි සෙවණැල්ල හැර අන් කිසිදු සෙවණක් නොමැත. ජනයා වේදනාව දරා ගත නොහැකිව තමන් වෙනුවෙන් නිර්දේශ කරන ලෙස නබිවරුන් වෙත ගොස් පවසති. එවිට එම නබිවරු අනෙක් නබිවරයා වෙත යන ලෙස යෝජනා කරති. අවසාන වශයෙන් ජනයා නබි මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් වෙත ගොස් වේදනාව දරාගත නොහැකි බැවින් පරලොව විමසුම ආරම්භ කරන ලෙස අල්ලාහ් තආලාගෙන් කන්නලවු කරන මෙන් බැගෑපත්ව පවසති. එතුමාත් අල්ලාහ් තආලාගෙන් බැගෑපත් වී අයැදින අතර කවරකුගේ සිතේ අබ මල් රේණුවක් තරම් වත් විශ්වාසයක් තිබේද ඔවුනට ෂෆාඅතය ලබා දෙන්නේ ය. මෙය **ෂෆාඅතුල් කුබ්රා** (මහා නිර්දේශය) නමින් ද හැඳින්වේ.

## හිසාබ්

මෙය ප්‍රශ්න කිරීම යනුවෙන් හැඳින්වේ. ජනයා තනි තනිව විභාග කරන ලෙස අල්ලාහ් අණ කරයි. තමන් කළ වැරදි වසං කර බේරී යාමට කිසිවෙකුටත් නොහැකි ය.

මිනිසා ජීවත් වූ භූමියත්, ඔහුගේ අවයවත්, ඔහු කළ ක්‍රියාවන් ගැන සාක්කි කියයි. තව ද ලොවෙහි ඔවුන් කළ ක්‍රියාවන් සටහන් කරගත් ලේඛන ඔවුනොවුන්ගේ දෑත්වලට දෙනු ලැබේ. යහ ගැත්තන්ගේ ලේඛන ඔවුන්ගේ දකුණතට දෙනු ලැබේ. ඔවුහු එය ලබාගෙන අනෙක් අයට පෙන්විම සඳහා සතුටින් දිවයති.

පාපීන්ගේ ලේඛන ඔවුන්ගේ වම් අතට දෙනු ලැබේ. ඒවා ලැබූ ඔවුහු මහත් වූ දුකෙන් හඬා වැළපෙති.

අනතුරුව මීසාන් නමින් හැඳින්වෙන තරාදියේ ඔවුනොවුන්ගේ ක්‍රියාවන් කිරනු ලැබේ. මෙම තරාදිය අංශු මාත්‍රයක ක්‍රියාවක් වුව ද නිවැරදි ලෙස පෙන්නුම් කරන්නක් වේ.

## හව්ලුල් කෞසර් (තටාකය)

අවසාන ප්‍රශ්න කිරීමෙන් පසු එක් එක් නබිවරු තම තමන්ගේ උම්මත්වරුන් සමඟ ඔවුනොවුන්ට හිමි තටාකයන් වෙත පැමිණ ජලය පානය කරති. මේවායින් ඉතා භාග්‍ය සම්පන්න තටාකය වන්නේ නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ හව්ලුල් කෞසර් නමැති තටාකයයි. එහි වතුර කිරට වඩා සුදුවන් ය; මී පැණියට වඩා රසවත් ය; කස්තූරිවලට වඩා සුවඳවත් වේ; එයින් ජලය පානය කළ තැනත්තන්ට කිසි ද පිපාසයක් ඇති නොවේ. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් පිළිපැද ජීවත් වූ යහගැත්තන් සියලු දෙනාට ම මෙහි ජලය පානය කිරීමේ භාග්‍යය ලැබේ.

## සිරාත් (පාලම)

ඊළඟ පියවර වන්නේ නිරයට ඉහළින් තනා ඇති සිරාත් නම් පාලම හරහා යාමේ අවස්ථාව ය. ජනයා තමන් කළ යහ ක්‍රියාවන්ට අනුව නානාප්‍රකාර වූ වේගයන්ගෙන් පාලම පසු කර යෑමට උත්සාහ කරති. කාෆිර්වරු හා පාපීහු එය පසු කර යෑමට නොහැකිව නිරයට ම ඇද වැටෙති.

**එබැවින් අවසාන දිනය පිළිබඳ විශ්වාසය අප හදවත් තුළ ගැඹුරින් තැන්පත් කොට අප ජීවිතය හොඳින් සකසා ගනිමු. ඒ වෙනුවෙන් ස්වර්ගය හිමිකර ගනිමු.**

**අභ්‍යාස**

**කෙටි පිළිතුරු සපයන්න.**

01. මහ්ෂර් යනු කුමක් ද?

02. සූර් නළාව පිඹින මලාඉකාවරයාගේ නම කුමක් ද?

03. ලෞකික ජීවිතයේ අරමුණු සැලසුම් කිරීමට උපකාර වන කරුණු මොනවා ද?

04. නබි මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ නිර්දේශ කිරීම අරාබි බසින් හැඳින්වෙන්නේ කෙසේ ද?

**පැවරුම්**

(අ) අවසාන දිනය හැඳින්වීමට අල්කුර්ආනයේ යොදා ඇති පද පහක් ලියන්න.

(ආ) අවසාන දිනයේ සිදුවීම් වර්ග කර ඒවා හා සම්බන්ධ අල්කුර්ආන්, අල් හදීස් සොයා සටහන් කර පන්ති කාමරයේ ප්‍රදර්ශනය කරන්න.

# 4
# ස්වර්ගය - නිරය




මෙලොව ජීවත් වන මිනිස්සු විවිධාකාරව ජීවත් වී අවසන් ගමන යන්නෝ ය. සමහරු තම යහගුණාංග ආභරණ ලෙස සලකති. ඔවුහු ඊමාන්, සත්‍යය, සාධාරණත්වය, දයාව, පරිත්‍යාගය, යනාදි ගුණාංගයන්ගෙන් හෙබි යහගැත්තෝ ය. තවත් සමහරු කුෆ්ර්, අසත්‍යය, මිනිස් ඝාතන, මංකොල්ලය, ද්‍රෝහීවීම, පොරොන්දු කඩ කිරීම, රැවටීම, වංචා කිරීම යනාදී කුරිරු පව්වල යෙදී සිටි අයහපත් පුද්ගලයෝ ය.

යහපත් - අයහපත් යන දෙපිරිසට ම ජීවිතයේ සමාප්තිය ලෙස මරණය තිබීම සාධාරණ ද? එය ජීවිතයේ අර්ථය පවසයි ද? එසේ නම් මෙලොවෙහි පින් කර ජීවත් වන අයට ලැබෙන ප්‍රතිලාභය කුමක් ද? පාප ක්‍රියාවල නියැලී අනෙක් අයට දුක් දෙමින් ජීවත් වන අයට දඬුවම් නොතිබේ ද?

වරදකරුවන් අතරත් පාපී ක්‍රියාවල කොතෙකුත් වෙනස්කම් තිබෙනවා නොවේ ද? ඝාතනයක් සිදු කළ පුද්ගලයාටත්, ඝාතන රාශියක් සිදු කළ පුද්ගලයාටත් ලෝකයා දෙනු ලබන ඉහළ ම දඬුවම මරණීය දණ්ඩනයයි. මෙය සාධාරණ ද? කොහෙත් ම නැත. එසේ නම් යහපත් අයටත්, අයහපත් අයටත් ඔවුනොවුන්ගේ ක්‍රියාවන්ට අනුව ප්‍රතිඵල ලබා දීම සාධාරණ නොවේ ද? එසේ සිදු කරන දිනය, මුඃමින්වරුන් වන අපි අවසාන දිනය ලෙස විශ්වාස කරන්නෙමු.

අවසාන දිනයේ නොයෙකුත් සිදුවීම් සිදු වන්නේ ය. ඒවා අපි පෙර පාඩමේ දී උගත්තෙමු. අවසාන දිනයේ අවසානයේ දී සිදු වන සිදුවීම යහපත් අය ස්වර්ගයට පිවිසීමත්, අයහපත් පාපී අය නිරයට ඇද වැටීමත් ය. අපි ස්වර්ගය හා නිරය පිළිබඳව කෙටියෙන් විමසමු.

# ස්වර්ගය

ස්වර්ගයට ජන්නතුල් ෆිර්දවුස්, ජන්නතුල් මඃවා, ජන්නතුල් අද්න්, දරුල් හුලූද්, දරුස් සලාම්, දරුල් මුකාමා, ජන්නතුන් නඊම් යනාදී විවිධ නම් තිබේ.

ස්වර්ගය ඉතා උසස් ස්ථානයක් වේ. ස්වර්ගයේ තත්ත්වයන් කිහිපයක් තිබේ. එයින් ඉතා උසස් ම තැන ෆිර්දවුස් නම් වේ. එහි නබිවරුන්, සිද්දීකීන්වරුන් හා ෂුහදාවරුන් වැනි උත්තමයෝ සිටිති. අතිවිශාල මාලිගාවල ස්වර්ගවාසීහු සිටිති. ඔවුහු විවිධ වර්ගයේ පලතුරු වර්ග හා පක්ෂීන්ගේ මාංසයන් ද අනුභව කරමින් සිටිති. එම මාලිගාවට පහළින් කිරි, පැණි, මත්පැන් යනාදියෙන් යුත් වෙන වෙන ම ගංගා හඬ නගමින් ගලා යයි. පහතින් දැක්වෙන අල්කුර්ආන් වැකි මෙම අතිරමණීය දර්ශනය විදහා පෙන්වයි.

**"නබිවරයාණනි, කවරෙකු විශ්වාස කොට යහ ක්‍රියා කළේ ද, ඔවුන්ට නියත වශයෙන් ම ස්වර්ගයේ සෙවණ තිබේ, යන ශුභාරංචිය පවසන්න. එහි ගංගා අඛණ්ඩව ගලා බසී. ඒවායින් ඔවුන්ට පලතුරක් කෑමට දෙනු ලැබේ. එවිට ඔවුහු කලිනුත් මෙය ම කෑවෙමු, යැයි (විස්මිතව) පවසති. එය (පෙනුමට) එක ම විදියට පෙනුණත් රසයෙන් වෙනස් වූ ඒවා ය. තව ද, පිවිතුරු භාර්යාවන් ද ඔවුන්ට හිමි වේ. ඔවුහු එහි ස්ථිරව ම සිටින්නෝ ය."** (2 : 25)

ස්වර්ගවාසීන්ගේ ඇඳුම් පැළඳුම් ගැන අල්කුර්ආන් වැකි මෙසේ පවසයි.

**"ස්වර්ගයේ රැඳී සිටින ඔවුන්ට රත්තරන්වලින් හා මුතුවලින් සෑදූ ආභරණ පලඳවනු ලැබේ. එහි දී ඔවුහු සේද රෙදිවලින් මැසූ ඇඳුම් ඇඳගෙන සිටිති."** (22 : 23)

යහගැත්තෝ යහමග ජීවත් වූ, ඔවුන්ගේ භාර්යාවෝ, ළමයි, ස්වර්ගයේ දර්ශනීය උද්‍යාන සෙවණේ නිස්කලංකව හාන්සි වී සතුටින් සිටිති. ස්වර්ගයේ කිසි ම තැනක අසභ්‍ය වචන හෝ පාපී කතා හෝ කනට ඇසීමට නොතිබේ. සියලු ම ස්වර්ගවාසීන්ගේ සිත්වලින් ක්‍රෝධය ඉවත් කොට ඇත. එම නිසා සියලු දෙනා ම සිනහමුසු මුහුණින් එකිනෙකාට සලාම් පවසමින් සහෝදරත්වයෙන් වැලඳ පිළිගනිති. ස්වර්ගයේ මුතු මැණික්, පබළු රැස්දෙමින් අලංකාරව දිලිසෙයි. එහි ස්වර්ගවාසීන්ට හිමි වන අතිමහත් සතුට නම් පූර්ණ චන්ද්‍රයා මෙන් දිස්වන අල්ලාහු තආලා තම දෙඇස්වලින් දැකීමේ භාග්‍යය හිමි වීමය.

# නිරය

නිරයට නාර්, සඊර්, ජහීම්, ජහන්නම්, ලළා, හාවියා, සකර්, හුතමා, වෛල් යනාදී විවිධ නම් තිබේ. නිරය අතිවිශාල ගිනි කන්දකි. එය ගැන පහතින් දැක්වෙන අල්කුර්ආන් වැකි පැහැදිලි කරයි.

**"විශ්වාසවන්තයිනි, ඔබත් ඔබගේ පවුලේ සැමත් නිරයේ ගින්නෙන් ආරක්ෂා කරගන්න. නිරයේ ඉන්ධන වන්නේ මිනිසුන් හා ගල් ය. එහි දැඩි සිත් ඇති බල සම්පන්න මලාඉකාවරු සිටිති. අල්ලාහු තආලාගේ අණට ඔවුහු පිටුපාන්නේ නැත. ඔහුගේ අණ එලෙස ම ඔවුහු ඉටු කරති." (66 : 6)**

**"(පාපී වූ) ඔවුන් වතුර ඉල්ලා හඬ නගන විට අධි උෂ්ණත්වයකින් රත්කළ තඹ මෙන් ජලය ම ඔවුන්ට දෙනු ලැබේ. ඔවුන් බීමට මත්තෙන් එය ඔවුන්ගේ මුහුණු පුලුස්සා දමාලයි." (18 : 29)**

**"රත්වූ ජලය සමග, ඔවුන්ගේ සිරුර ගින්නෙන් පිලිස්සූ නිසා වැක්කෙරෙන සැරව සමග ම නිරයේ වාසීහු පානය කරති." (78 : 24, 25)**

අල්ලාහු තආලාව ප්‍රතික්ෂේප කරන කාෆිර්වරුන්ට ගින්නෙන් නිම වූ ඇඳුම් කලින් ම සුදනම් කර තිබේ. නිරයට ගිය පසු එම ඇඳුම් ඔවුන්ට බලෙන් ම අන්දවනු ලැබේ. ඔවුන්ගේ හිසට ඉහළින් නටන උණුවතුර වක්කරනු ලැබේ. එම නිසා ඔවුන්ගේ සම, උදරයේ ඇති බඩවැල් පිලිස්සී පිපිරෙයි. ශක්තිමත් යකඩ දම්වැල්වලින් ඔවුන්ට පහර දෙති. වේදනාව දරා ගත නොහැකිව ඔවුහු නිරයෙන් පිට වී යාමට උත්සාහ කරති. නමුත් ඔවුහු නැවතත් එම ජලයට ඇද දමනු ඇත. පිලිස්සීමේ වේදනාව ඔබ තව තවත් විඳින්න යැයි ඔවුන්ට නිරයේ මුරකරුවෝ පවසති.

නිරයේ වාසීන්ට මරණයක් නැත. ඔවුන්ට කිසි ද සැනසුමක් නැත. සක්කුම් නමැති ආහාරයක් ඔවුන් හට ලබාදෙනු ලැබේ. එය තිත්ත, දුගඳ හමන පැළෑටි විශේෂයකි. නිරය වාසීන්ගේ සම ගින්නෙන් පිලිස්සී ගියත් නැවත නැවත සම අලුතින්ම ලබා දෙනු ඇත.

පාපී ක්‍රියාවල තරාතිරම අනුව නිරයේ දඬුවම්වල ප්‍රමාණය වෙනස් වේ. කාෆිර්වරු නිරයේ ස්ථිරව ම සිටිති. මුඃමින්වරුන්ගෙන් මහා පාපී ක්‍රියාවල නිරතවූවන්ට පාපික්‍රියාව අනුව දඬුවම් කරනු ලැබේ. පසුව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ ෂෆාඅත් නිසා නිරයෙන් නිදහස් කරනු ලැබේ.

ලොවෙහි වෙසෙන අපි,

අල්ලාහු තආලා විශ්වාස කොට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් පෙන්වා දුන් ජීවන මග පිළිපදිමු;

යහපත් මිනිසුන් ලෙස ජීවත් වී සමාජයට හා රටට සේවය කර ජන්නතුල් ෆිර්දවුස් නමැති ස්වර්ගය ළඟා කර ගැනීමට උත්සාහ කරමු;

එසේ ම නිරයට මග පාදන පාපී ක්‍රියාවලින් ඈත් වී කටයුතු කරමු.

**අභ්‍යාස**

**අ) කෙටි පිළිතුරු ලියන්න.**

1. ස්වර්ගය හඳුන්වනු ලබන නම් හතරක් ලියන්න.
2. ඉතා උසස් ස්වර්ගය කුමක් ද?
3. නිරයට කියනු ලබන නම් හතරක් ලියන්න.
4. නිරයවාසීන් ආහාරයට ගන්නා ආහාරයේ නම ලියන්න.
5. නිරයවාසීන්ගේ බීම වශයෙන් තිබෙන්නේ කුමක් ද?
6. ස්වර්ගයට යෑමට බාධා වන සමාජ විරෝධී ක්‍රියාකාරකම් පහක් ලේඛනගත කරන්න.

**පැවරුම් :**

ස්වර්ගයේ සුවදායීත්වය විදහා පෙන්වන අල්කුර්ආන් වැකි පහක් හා එහි අර්ථය ද, ලියා පන්ති කාමරයේ ප්‍රදර්ශනයට තබන්න.

# 5

# අල් කලාඋ වල් කද්ර්

පන්තියට පැමිණි ගුරුතුමා සිසුන් දෙස බලා "අද මොක ද වෙනදට වඩා ඔබ නිහඬ ව සිටින්නේ?" යැයි විමසුවේ ය. නමුත් එකිනෙකා මුහුණට මුහුණ බලා ගත්තා පමණි. කිසිවෙක් පිළිතුරු නොදුන්නෝ ය. ගුරුතුමා නැවත නැවත විමසුව ද එහි නිහඬතාව පමණක් පැවතුණි. අවසානයේ දී ගුරුතුමා නුස්රි නම් සිසුවා කැඳවා හේතු විමසුවේ ය.

නුස්රිඃ- අපට සමාවෙන්න සර්. අද විභාග ප්‍රතිඵල පිටවීමට නියමිතයි. අපගේ ප්‍රතිඵල කෙසේ වේදෝ යැයි අපි සිතන්නෙමු. එහෙයින් අපගේ සිත් නොසන්සුන් ය.

ගුරුතුමාඃ- මේක ද ප්‍රශ්නය? අල්ලාහ්ගේ අභිමතය පරිදි සියල්ල සිදුවේ. ඔබ උනන්දුවෙන් ඉගෙන ගත්තෙහු ය. විභාගය ලීවෙහු ය. ජය - පැරදුම අල්ලාහ්ට භාර දුන්නෙහු ය. පසුතැවිලි නොවී අල්ලාහ්ගේ තීන්දුව පිළිගැනීම මුඃමින්වරයකුගේ ගුණාංගයකි.



ඉනායතුල්ලාහ් :- ඒක කොහොම ද සර් වෙන්නේ, විභාගය ලියන්නේ අපිනේ. අපට ලැබෙන ප්‍රතිඵල සමග අල්ලාහ් කොහොම ද සම්බන්ධ වෙන්නේ?

ගුරුතුමා:- ටිකක් නිහඬ ව සිටින්න. මේක හොඳ අවස්ථාවක් අපගේ විශ්වාසයේ ප්‍රතිපත්තීන් අතර අප ඊමාන් කළ යුතු වැදගත් කරුණක් පිළිබඳ ව ඉගෙන ගැනීමට අවස්ථාවක් ලැබී තිබෙනවා. ජය පරාජය තුළ මධ්‍යස්ථ භාවය රැක ගැනීමට මෙම කරුණ සහය වෙනවා.

නෂාත්:- සර්. ඔබ කියා දෙන කරුණ පිළිබඳව මමත් දන්නවා. කලා කද්ර් පිළිබඳව නේද, සර්?

ගුරුතුමා:- හරියට ම කිව්වා. අපගේ සිසුන් දක්ෂයි. ඉක්මනින් සියල්ල වටහා ගන්නවා.

රිෆායි:- කලා කද්ර් පිළිබඳ ව ඉගෙන ගනිමු සර්.

ගුරුතුමා:- ප්‍රථමයෙන් ම අකීදා පිළිබඳව ඉගෙන ගනිමු. ඉස්ලාමීය විද්වත්හු කලා කද්ර් "ඉලාහියියාත්" නම් කොටසට එක්කර ඇත. මෙලොව හා මිනිස් ජීවිතය තුළ යහපත - අයහපත යන සියල්ල ම අල්ලාහ්ගේ අභිමතය පරිදි සිදු වේ, යන්න විශ්වාස කිරීම කලා කද්ර් හා සබැඳි විශ්වාසය වේ. මේ පිළිබඳ ව අපි තරමක් දුරට ඉගෙන ගනිමු.

අපි අල්ලාහ් කෙරෙහි ඊමාන් තබන විට ඔහුට අයත් ගුණාංග (සිෆාත්) සම්පූර්ණයෙන් ම විශ්වාස කළ යුතු ය. පූර්ණ දැනුම (ඉල්ම්) පූර්ණ අභිමත බලය (ඉරාදත්) ක්‍රියාකරවීමේ බලය (කුද්රත්) සාධාරණ නීතිය (අද්ල්) අල්ලාහ්ට ම පමණක් හිමි ය, යන්න ස්ථිර ව විශ්වාස කළ යුතු ය. කලා කද්ර් පිළිබඳ විශ්වාසය මෙම විශ්වාසයේ එක් කොටසකි.

ඉනාමුල්ලාහ්:- උදාහරණ සමග පහදන්න පුළුවන් ද සර්.

ගුරුතුමා:- ඉක්මන් වෙන්න එපා. පියවරින් පියවර තේරුම් කර දෙන්න උත්සාහ කරන්නම්. අල්ලාහ්ට සමාන දැනුමක් කිසිවකුටත් නොමැත. ඔහුගේ දැනුම අති විශාල ය; අසීමිත ය. කුඩා කුහුඹුවකු ගලක් තුළට රිංගා යෑම ද ග්‍රහමණ්ඩලයේ ග්‍රහලෝක භ්‍රමණය වීම ද මිනිස් සිත් තුළ ඇති කරන්නා වූ හැඟීම් ද ඔහු දැන සිටින්නේ ය. මේ

සියල්ල ම "ලව්හුල් මහ්ෆූල්" නම් එලකයේ සටහන් කර ඇත. ඒ සියල්ල ම නියත වශයෙන් ම සිදු වේ. එහි කිසිවක් වරදින්නේ නැත, යැයි විශ්වාස කිරීම අපහට අනිවාර්ය ය. අල්ලාහ් මේ පිළිබඳ ව අල්කුර්ආනයේ පැවසූ බව හොඳින් අවබෝධ කර ගන්න.

**"තව ද නබිවරයාණනි, අහසෙහි හා පොළොවෙහි ඇති දෙයින් එක් අංශුවක් හෝ නුඹගේ දෙවියන්ට නොදැනී සැඟවෙන්නේ නැත. තව ද, මෙයට වඩා කුඩා හෝ විශාල හෝ කිසිවක් ඔහුගේ පැහැදිලි ලව්හුල් මහ්ෆූල් එලකයෙහි සඳහන් නොවී නොමැත." (10: 61)**

අබ්දුල් කාදිර්:- එසේ නම්, එම ලව්හුල් මහ්ෆූල්හි ලියා තබන ලද ආකාරයට ම අපගේ ක්‍රියාවන් සිදු වේ ද? විපාග ප්‍රතිඵලත් එසේ ම ද?

ගුරුතුමා:- හොඳ ප්‍රශ්නයක්. "කලා" යනු අල්ලාහ් ඔහුගේ දැනුමෙන් හා හැකියාවෙන් අනුව විශ්වය හා එහි සියල්ල මැවුවේ ය, යන්න වේ. එනම්, තීන්දු කරන ලදී, යන අදහස ද අන්තර්ගත වේ. "කද්ර්" යනු මැවීම් සියල්ල ම කවදා, කොතනක, කුමන හැඩයක් හැකියාවක් ඇතිව බිහි වේ ද, යන අල්ලාහ්ගේ දැනුම පිළිබඳ අදහස ද අන්තර්ගත වේ.

කලා කද්ර් යන්නෙහි සිංහල කෙටි අර්ථය පෙරමිනුම, නැතිනම් දෛවය යන්නයි. මෙම කලා කද්ර් මිනිස් ජීවිතය තුළ දෙආකාරයෙන් ක්‍රියා කරයි. අල්ලාහ්ගේ දැනුම හා අභිමතය පරිදි සම්පූර්ණයෙන් ක්‍රියා කිරීම එක් ආකාරයකි. එහි මිනිසාට කිසිදු අයිතියක් නොමැත. ඔහුගේ කැමැත්තට හා අකමැත්තට කිසිදු ඉඩක් නොමැත. මෙම අංශයට අදළ ව පරලොවේ දී ඔහු අල්ලාහ්ගේ විමසීමට ද ලක් නොවේ. උපන්නේ කොහි ද? උපන්නේ කවරෙකුට ද? මිනිස් ස්වරූපය, ආයු කාලය යනාදිය මෙම අංශයේ අන්තර්ගත වේ.

**නියත වශයෙන් ම අහසේ හා පොළොවේ ඇති කිසිවක් අල්ලාහ්ට වසං නොවේ. ඔහු කෙබඳු ද යත්, ගර්භාෂය තුළ තමන් කුමක් අභිමත කරන්නේ ද එසේ ම නුඹලා හැඩගස්වන්නේ ය. (3 : 5-6)** යන අල්කුර්ආන් වැකියෙන් මෙය පිළිබිඹු කරයි.

ජාබිර්:- එසේ නම්, යහපත - අයහපත, ස්වර්ගය - නිරය ආදිය මැවීමේ අවශ්‍යතාවය කුමක් ද?

ගුරුතුමා:- යහපත - අයහපත තිබීම ද, ස්වර්ගය - නිරය තිබීම ද සත්‍යයකි. මෙය නිවැරදි ව වටහා ගැනීමට නම් කලා කද්ර්හි දෙවන අංශය පැහැදිලි ව දැන ගත යුතු ය. දෙවන අංශය ප්‍රථම අංශයට වඩා වෙනස් ය.

මේ අංශය මිනිසාගේ නිදහස, ඔහුගේ කැමැත්ත - අකමැත්ත සමග සම්බන්ධ වේ. මිනිසා අල්ලාහ් විසින් දැනුම ලබා දෙන ලද, ක්‍රියා කිරීමේ ශක්තිය ලබා දෙන ලද මැවීමකි. ඔහු කුමන ක්‍රියාවක් සිදු කළ ද එහි ඔහුගේ අභිමතය රැඳී පවතී. අල්ලාහ් මෙම අභිමත හැඟීම මිනිසා තුළ කොතරම් ප්‍රසාරණය කර ඇති දැයි කිවහොත් අල්ලාහ් විශ්වාස කිරීමෙහි ලා මිනිසාගේ කැමැත්තට අවස්ථාව ලබා දී ඇත.

**"කැමති නම් විශ්වාස කරනු; කැමැති නම් ප්‍රතික්ෂේප කරනු," (18 : 29)** යන කුර්ආන් වැකිය මෙයට සාධකයකි.

රියාල්දීන්:- සර්. සියල්ල ම ලව්හුල් මහ්ෆූල්හි සඳහන් වන පරිදි සිදු වන බව ඔබ මීට පෙර පැවසුවා නේ ද? නමුත් දැන්, මිනිසා ස්වකීයව ක්‍රියා කරන බව පවසනවා. දෙක ම එකිනෙකට පටහැනියි වගේ නේද?

ගුරුතුමා:- එසේ නොවේ. මෙහි කිසි දු පටහැනි බවක් නොමැත. මෙය අල්ලාහ්ගේ ඥානය හා සම්බන්ධ වේ. ඔහු මැවුම්කරුවා ය. ඔහු අනාගතය, වර්තමානය, අතීතය යන කාල තුන ම දැන සිටින්නා ය. ඔහු නොදැනුවත් ව මෙම පොළෝ තලයේ කිසිවක් සිදු නොවේ. මෙය උදාහරණ සමග ගෙන හැර දැක්වීම හොඳයි කියලා මට හිතෙනවා.

මිනිසෙකුගේ ඡායාරූපයක් ගෙන බලන්න. එය එම මිනිසාගේ අතීත කාලය ගෙන හැර දක්වයි. ඔහු තමන් අලංකරණය කර ඡායාරූපය ගෙන තිබුණේ නම් ලස්සනට පෙනේ. නොසැලකිල්ලෙන් ඡායාරූපය ගෙන තිබුණේ නම් එහි ලස්සන රුවක් දක්නට නොලැබේ. එනිසා එම ඡායාරූපයට වර්ණනා කිරීම හෝ පිළිකුල් කිරීම හෝ කළ නොහැකි ය. මක්නිසාදයත් එය ඔහු විසින් ම සකසා ගත් අතීත කාල ප්‍රතිබිම්බයකි.

එසේ ම යමෙකු සිනහමුසු මුහුණින් කන්නාඩිය ඉදිරිපිට සිටියහොත් ඔහුගේ සිනහමුසු වන ප්‍රතිබිම්බය ද, කෝපයෙන්

කන්නාඩිය ඉදිරිපිට සිටියහොත් කෝපයෙන් පිරි ප්‍රතිබිම්බය ද දිස් වේ. එනිසා කන්නාඩිය වර්ණනා කිරීම හෝ එය සමග උරණ වීම හෝ හරි ද?

ඡායාරූපය අතීත කාලය විදහා දක්වනවාත් සේ කන්නාඩිය වර්තමාන කාලය විදහා දක්වයි. ළමයිනේ! ඔබ දැන් ටිකක් සිතා බලන්න. මිනිසාගේ අතීතය, වර්තමානය විදහා දක්වන උපකරණ නිර්මාණය කළ අල්ලාහ්ට අනාගතය පෙන්වන උපකරණයක් නිර්මාණය කිරීම කළ නොහැකි කාර්යයක් ද? ඔහුට එය සිදු කළ හැකි ය. එය ලව්හුල් මහ්ෆූල් වේ.

මෙම ලව්හුල් මහ්ෆූල් අනාගතය විදහා දැක්වූව ද මිනිසාගේ ක්‍රියාවන්ට ලව්හුල් මහ්ෆූල් හේතුව ලෙස දැක්වීම සාධාරණ ද? ඡායාරූපය අතීත කාලයටත් කන්නාඩිය වර්තමානයටත් වග නොකිය යුතු සේ ම ලව්හුල් මහ්ෆූල් අනාගතයට වග නොකිය යුතු යි, යන්න සාධාරණ ය.

නස්රුල්ලාහ්:- ලව්හුල් මහ්ෆූල්හි ක්‍රියාවන් සියල්ල ම සටහන් වූ නිසා ක්‍රියාවන් සිදු කරන ලෙසට මිනිසාට බල කරනු ලැබේ ද?

ගුරුතුමා:- නැත. මෙහි කිසිදු බල කිරීමක් නොමැත. නමුත් මිනිසා ස්වකීයව සිදු කරන්නාවූ ක්‍රියාව අල්ලාහ් දැන සිටින්නේ ය, යන්න මෙහි අදහස වේ.

රම්සි:- යමෙකුට, ලව්හුල් මහ්ෆූල් හේතුව ලෙස දක්වා තම ක්‍රියාවන් වෙනුවෙන් වග නොකියා නිදහස් විය හැකි ද?

ගුරුතුමා:- එසේ නිදහස් විය හැකි නම් මිනිසාට මගපෙන්වීම සඳහා රසූල්වරුන්, නබිවරුන්, ආගම් ආදිය පහළ කිරීමෙහි අර්ථයක් නොමැති වේ.

සියාද්:- සර් බොහොම ස්තූතියි; අපි කලා කද්ර් පිළිබඳ ව හොඳින් වටහා ගත්තෙමු.

**"අල්ලාහ් අභිමත වූවා නම් පමණක්, නුඹලාට අභිමත විය හැකි වන්නේ ය." (76: 30)** යන කුර්ආන් වැකියෙන් කුමක් අර්ථවත් කරන්නේ ද?

ගුරුතුමා:- මෙයට අර්ථ දෙකක් ඇත. එකක් කැමැත්ත යන ක්‍රියාව අල්ලාහ් විසින් ඇති කරන ලදී. එහෙයින් මිනිසා යම් කරුණක් ස්වකීයව ඉටු කළ ද එය අල්ලාහ්ගේ කැමැත්ත ය.

අනෙක මිනිසා සියල්ල ම ස්වකීයව ඉටු කළ යුතු ය, යන්න ද අල්ලාහ්ගේ කැමැත්ත වේ. මේ අනුව මෙහි අදහස තමන් ම ස්වකීයව යමක් ඉටු කළ ද එය අල්ලාහ්ගේ කැමැත්ත ලෙස ම පවති, යන්න ය.

මෙයට උදාහරණයක් ගෙන හැර දක්වන්නම්. ගොවියෙකු බීජ තම කැමැත්ත පරිදි තෝරා ගනියි. අල්ලාහ් එයට අස්වැන්න ලබා දෙන්නේ ය. පලතුරු බීජ සිටවුව හොත් පලතුරු ද, මල්පැල සිටවුවහොත් මල් ද ලැබේ. එය සිදු කරනු ලැබුවේ කවුරුන් ද, නියත වශයෙන් ම ඔහු අල්ලාහ් හැර වෙන කිසිවෙක් නොවේ. මෙහි දී මිනිසාගේ කැමැත්තට නිදහස ලැබී ඇත. එයට අවසාන ප්‍රතිඵලය තීන්දු කරන්නේ අල්ලාහ්ගේ කැමැත්ත ම ය, යන්න අප වටහා ගත යුතු ය. මේ අනුව කලා කද්රයේ දෙවන අර්ථය තුළ මිනිස් ක්‍රියාවට මිනිසා වගකිව යුත්තෙකි, යන්න පැහැදිලි නොවේ ද?

නෆ්හාන්:- අපගේ විභාග ප්‍රතිඵලවලට අප ද වග කිව යුත්තේ?

ගුරුතුමා:- සියලු ම දෙනා තම තමන්ගේ උත්සාහයට අනුව ප්‍රතිඵල ලබා ගනිති. එම අවසාන ප්‍රතිඵලය අල්ලාහ්ගේ ඥානයට හා අභිමතයට අනුව සිදු වේ, යන්න අප විශ්වාස කළ යුතු ය. මුස්ලිම්වරයකු, අල්ලාහ්ගේ පෙර මිනුම වන කලා කද්ර් පිළිගත යුතු අතර ඒ සඳහා ස්වකීයව උත්සාහය ද දැරිය යුතු ය. "යා අල්ලාහ් දැනුම වර්ධනය කර දෙනු මැනව!" යැයි (දුආ) ප්‍රාර්ථනා කරමින් සිටීම පමණක් නොසෑහේ. ප්‍රාර්ථනා කරන අතරතුර ඉගෙන ගත යුතු ය. සියල්ල අල්ලාහ්ගේ අභිමතය පරිදි සිදු වේ, යැයි පවසමින් විවේකී ව සිටීමට ඉස්ලාම් දහම උත්සුක කර නැත. බද්ර් සටන අවස්ථාවේ දී නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා දැරූ උත්සාහයන් මෙයට සාධක ලෙස ගත හැකි ය.

නස්රුල්ලාහ්:- සර්, පන්තියට පැමිණෙන විට අපි විභාග ප්‍රතිඵල පිළිබඳ ව සිත සිතා පැකිලීමකින් සිටියෙමු. දැන් අපි හිසේ තිබූ බර බිම තබා සතුට විඳින්නන් සේ සිටින්නෙමු.

ගුරුතුමාඃ- ඔබ කිවුවා හරි. කලා කද්ර් විශ්වාස කිරීමෙන් තවත් ප්‍රයෝජන රැසක් හිමි වේ. ඒවා ලැයිස්තු ගත කර පෙන්වීම යහපත් යැයි සිතමි.

01. අල්ලාහ් ප්‍රදානය කළ දැයින් තෘප්තිය ලබා ජීවත් වීමට එය මග පෙන්වයි.
02. නිර්මාණ බිහි කිරීමෙහි ලා එය උනන්දු කරවයි.
03. බියජනක අවස්ථාවල දී ධෛර්යයෙන් ක්‍රියා කිරීමට උනන්දු කරයි.
04. අයහපතට එරෙහි වූ ස්ථාවරයක් ගොඩනංවයි.
05. දුක, ශෝකයට පත්වූ අවස්ථාවන්හිදී ඉවසීමෙන් සිටිය යුතු ය.

මෙම පාඩමේ දී කලා කද්ර් වටහා ගැනීමට ඉබ්නු අබ්බාස් රළියල්ලාහු අන්හු තුමා දැනුම් දීම සඳහා කරන ලද හදීසයක් ගැළපෙන බව වැටහේ. අවධානයෙන් සවන් දෙන්න.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ඉබ්නු අබ්බාස් රළියල්ලාහු අන්හු තුමාට මෙසේ ප්‍රකාශ කළහඃ

"දරුවා, මම ඔබට කරුණු කිහිපයක් කියා දෙන්නෙමි. අල්ලාහ්ගේ මගපෙන්වීම රැක ගනිමින් ක්‍රියා කරන්න. එවිට අල්ලාහ් ඔබ ආරක්ෂා කරයි. ඔබ ප්‍රාර්ථනා කරන්නේ නම් අල්ලාහ්ගෙන් ම ප්‍රාර්ථනා කරන්න. ඔබ උපකාර පතන්නේ නම් අල්ලාහ්ගෙන් ම උපකාර පතන්න. මේ මුළු ලෝකය ම එකට එක් ව යහපත සිදු කිරීමට උත්සාහ කළ ද ඔබට අල්ලාහ් මීට ඉහත දී නිර්ණය කළ දෑ හැර වෙනත් කිසි දු යහපතක් සිදු කළ නොහැකි ය. මේ මුළු ලෝකය ම එකට එක් ව ඔබට අයහපත සිදු කිරීමට උත්සාහ කළ ද, ඔබට අල්ලාහ් මීට ඉහත දී නිර්ණය කළ දෑ හැර වෙනත් කිසි දු අයහපතක් සිදු කළ නොහැකි ය. "පන්හි ද ඉවත්කරන ලදී. ලිපි වියළී යන ලදී." (තිරිමිදි)

සිසුන්ඃ- ජසාකල්ලාහු කයිරා.

**අභ්‍යාස**

**හරි වැරදි ලකුණු කරන්න.**

01. කලා කද්ර් පිළිබඳ විශ්වාසය ඉලාහියියාත් යන අංශය තුළ අන්තර්ගත වේ. ( )

02. මිනිසාගේ කැමැත්ත අකමැත්ත අල්ලාහ් දූන සිටින්නේ ය. ( )

03. මිනිසාගේ ක්‍රියාකාරකම්වලට නියත වශයෙන් ම වගකිව යුතු තත්ත්වයක් මිනිසාට ඇත. ( )

**ක්‍රියාකාරකම්**

01. කලා කද්ර් පිළිබඳව පැහැදිලි කරන අල්කුර්ආන් වැකි දෙකක් හා හදීස් දෙකක් සිංහල පරිවර්තනය සමග ලියා ප්‍රදර්ශනය කරන්න.

02. ජයග්‍රහණයෙන් අසීමිත ව මුසපත් වූ හෝ පැරදුමෙන් දැඩි ශෝකයට පත් වූ හෝ ඔබගේ මිතුරකු සංසුන් කිරීමට ඔබ ඔහුට උපදෙස් ලබා දෙන්නේ කෙසේ ද?

# 6

# ජනාබතයෙන් මිදී පිරිසිදු වෙමු

අන්ෆල් නින්දේ දී තමන්ට ඇතිවුණු අසාමාන්‍ය සිදුවීමක් හේතුවෙන් අවදි විය. තමන්ට ඇති වුණු මෙම අසාමාන්‍ය සිදුවීම පිළිබඳ ව සිය මිතුරාට ප්‍රකාශ කළේ ය. "අප වැඩිවියට පත්වන අවස්ථාවේ දී මෙවැනි දෑ සිදු වේ. මේ පිළිබඳ ව කලබලයට පත් විය යුතු නැත. ස්නානය කර පිරිසිදු කර ගත්තේ නම් ප්‍රමාණවත් ය," යනුවෙන් මිතුරා ප්‍රකාශ කළේ ය. නමුත් ඔහු සෑහීමට පත්වූයේ නැත. ඉස්ලාම් ගුරුතුමා වෙත ගොස් මේ පිළිබඳ ව දෙගිඩියාවකින් යුතුව ප්‍රකාශ කළේ ය. "අද දින ඉස්ලාම් පාඩමෙහි ඉගැන්වීමට යන්නේ ද මෙම මාතෘකාවයි. මෙවැනි දේ සිදු වූ විට අනිවාර්ය ස්නානය ඉටු කරන බවට නියියත් තබා ස්නානය කළ යුතුයි" යැයි ගුරුතුමා පැවසුවේ ය.

හයවන කාලපරිච්ඡේදයේ සීනුව නාද කිරීමෙන් අනතුරු ව මෞලවි ගුරුතුමා පංතියට පැමිණ පාඩම ආරම්භ කළේ ය.

"ඔබ "ජනාබත්" යන වචනය අසා තිබෙන්නෙහු ද ?" යැයි ගුරුතුමා ඇසුවේ ය. "ජනාබත්" යනු අරාබි පදයකි. මෙහි අර්ථය 'කිල්ල' යන්නයි. "මේ පිළිබඳ ව මම "මද්රසාවෙහි" ඉගෙන ගත්තෙමි." යනුවෙන් හිෂාම් පැවසුවේ ය.

හොඳයි, මිනිස් ශරීරයේ ස්වාභාවික ව ඇතිවන යම් තත්ත්ව හේතුවෙන් ස්නානය කිරීම අනිවාර්ය වේ. "ජනාබත්" යන පදය අඟවන්නේ ද මෙයයි.

"අල් හදසුල් අක්බර්" (මහා කිල්ල) යනුවෙන් ද හැඳින්වෙයි. මෙසේ අපිරිසිදු ව සිටින්නාට "ජුනුබ්" යැයි පවසමු.

**"ජනාබත් හෙවත් අපිරිසිදු තත්ත්වයට පත් වුවහොත් ස්නානය කර පිරිසිදු කර ගන්න."** **(5:6)** යනුවෙන් අල්කුර්ආනයේ සඳහන් වෙයි. "හයිල් (මාසික ඍතුව) ඇති වූ විට සලාතය අත් හරින්න. එය අවසන් වූ විට ස්නානය කර සලාතය ඉටු කරන්න." යැයි නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම් තුමාණෝ එක් කාන්තාවකට උපදෙස් දුන්හ. "මෙය ද එක්තරා කිල්ලක් වේ. මෙසේ "ජනාබත්" ඇති වූ විට ස්නානය කර පිරිසිදු කර ගත යුතුයි."

"ජනාබත්" ඇති කරවන කරුණු මොනවා ද? යන්න අප දැනගත යුතුයි. මෙය ගැන කෙනෙකුට කිව හැකි ද? යැයි ගුරුතුමා ප්‍රශ්න කළේ ය. සවස් කාලයේ මද්රසාවට යන හුස්නි නැඟිට ගුරුතුමාගේ අවසර ලබා ගෙන මෙසේ ප්‍රකාශ කළේ ය.

1. මුස්ලිම්වරයෙකු මිය යෑම.
2. නින්දේදී හෝ පිබිදී සිටිය දී ශුක්‍ර මෝචනය වීම.
3. අඹු සැමියන් එක්වීම,
4. "හයිල්" (මාසික ඍතුව) ඇති වීම.
5. "නිෆාස්" ඇති වීම.

මෙහි දී කාන්තාවන් පිළිබඳ කරුණු පමණක් මම කෙටියෙන් පවසමි. නියමිත වයසේ දී ස්ත්‍රී පුරුෂ දෙදෙනා ම වැඩිවියට පත් වෙති. පිරිමින් වැඩිවියට පත් වීමේ සලකුණක් වශයෙන් ශුක්‍ර මෝචනය වේ. ස්ත්‍රීන් වැඩිවියට පත්වීමේ සලකුණක් වශයෙන් 'හයිල්' හෙවත් රුධිර වහනය සිදු වේ. මෙය 'මාසික ඍතුව' යනුවෙන් ද පවසමු. මෙය අවම වශයෙන් එක් දිනකින් අවසන් වේ. ඇතැමුන්ට දින පහළොවක් වනතුරු සිදු විය හැකි ය. පොදුවේ සතියක් තුළ දී අවසන් වේ. 'නිෆාස්' යනු දරු ප්‍රසූතියේ ඇති වන රුධිර වහනය වීම වේ. මෙහි කාල සීමාව අවමය විනාඩියක් ද, උපරිමය දින 60ක් ද වේ. බොහෝ විට දින හතළිහකින් මෙය අවසන් වේ. මෙසේ "හයිල් , නිෆාස්" අවසන් වූ විට දිය නා පිරිසිදු විය යුතුයි. මෙම කාලය තුළ ස්ත්‍රීන් සලාතය ඉටු කිරීම, "අල්කුර්ආනය" පාරායනා කිරීම, එය ස්පර්ෂ කිරීම, උපවාසය ඉටු කිරීම වැනි කටයුතුවලින් වැළකී සිටිය යුතුයි. තමන් පිරිසිදු වීමෙන් පසු තමන්ට අතපසු වූ සලාතයන් නැවත ඉටු කිරීම අනිවාර්ය නැත. නමුත් "ෆර්ල්" වූ "සව්ම්" නැවත ඉටු කළ යුතු ය. ගුරුතුමා බ්‍රිස්ටල් බෝඩ් එකක් දිග හැර බිත්තියේ එල්ලා එය ප්‍රදර්ශනය කළේ ය.

**"ජනාබත්" වූ අය නොකළ යුතු දේ**

★ සලාතය ඉටු කිරීම.

★ මස්ජිදයේ "ඉඃතිකාෆ්" සිටීම.

★ කඃබාව "තවාෆ්" කිරීම.

★ අල්කුර්ආනය පාරායනා කිරීම, ස්පර්ශ කිරීම හෝ දරා සිටීම.

එක් ශිෂ්‍යයකු මෙය ශබ්ද නඟා කියවන විට සෙසු ශිෂ්‍යයෝ එයට සවන් දුන්හ.

මේ සමඟ ම තවත් දෙයක් ගැන ද දැන ගත යුතුයි. අපගේ ලිංගික අවයවවලින් ශුක්‍ර තරලයට අමතරව මුත්‍රා, මදි, වදී වැනි ද්‍රවයන් ද පිට වේ. මෙය "නජිස්" වේ. මෙය පිට වූ විට දිය නෑම අනිවාර්ය නොවුව ද එම ස්ථානය සෝද පිරිසිදු කර ගත යුතුයි," යනුවෙන් ප්‍රකාශ කරමින් ගුරුතුමා තවත් බ්‍රිස්ටල් බෝඩ් එකක් ප්‍රදර්ශනය කළේ ය.

**අනිවාර්ය ස්නානය**

**ෂර්ත් (කොන්දේසි)**

★ අති පිරිසිදු ජලය භාවිත කිරීම

★ ජලය තැවරීම වළක්වන දේ ශරීරයෙන් ඉවත් කර ගැනීම

ෆර්ල්

★ "ෆර්ල්" වූ ස්නානය ඉටු කරන බවට නියියත් තැබීම

★ මුළු ශරීරය ම අති පිරිසිදු ජලයෙන් සෝද ගැනීම

**සුන්නත්**

- ★ දිය නෑමට පෙර මුත්‍ර පහ කිරීම
- ★ ශරීරයේ තැවරී ඇති අපවිත්‍ර දේ ඉවත් කිරීම
- ★ දෙඅත් මැණික් කටුව දක්වා සේදීම
- ★ මුවට, නහසයට දිය ඇතුළු කර සේදීම
- ★ දත් මැදීම
- ★ වුළූඃ කිරීම
- ★ ශරීරය මුළුමනින් ම අතුල්ලා ස්නානය කිරීම

ශිෂ්‍යයෝ නිහඬ ව පොත කියවති. අපැහැදිලි වූ කුමක් හෝ තිබෙන්නේ දැයි ගුරුතුමා විමසා, අවශ්‍ය වන විස්තර ලබාදීමෙන් පසු ව මතු සඳහන් හදීස් සමඟ පන්තිය අවසන් විය.

"නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ "ජනාබත්" සඳහා දිය නෑමට පෙර දෑත් මැණික් කටුව දක්වා තෙවතාවක් සෝදා ගත්හ. පසු ව සලාතය සඳහා "වුළූඃ" කරන්නාක් සේ ම වුළූඃ කර ගත්හ. පසු ව තම ඇඟිලි ජලයේ දමා හිස කෙස්වල මුල් ප්‍රදේශය වන තෙක් ඇඟිලිවලින් ඇතිල්ලූහ. පසු ව තම දෙඅත්වලට තෙවරක් ජලය ගෙන හිසට වත් කර ගත්හ. ඉන් අනතුරු ව ශරීරය මුලුමණින් ම ආවරණය වන පරිදි ස්නානය කර පිරිසිදු කර ගත්හ." (තිර්මිදි)

**අභ්‍යාසය:**

**01) පහත ප්‍රකාශ හරි නම් ( ✓ ) ලකුණ ද, වැරදි නම් ( ✕ ) ලකුණ ද වරහන් තුළ යොදන්න.**

1. 'කිල්ල', "ඔසප් වීම" යන්න පිරිසිදු තත්ත්වය හඟවයි. ( )
2. "හයිල්", "නිෆාස්" යන දෙක කාන්තාවන්ට පමණක් අයත් වූවකි. ( )
3. මදි, වදී යනාදිය ශරීරයෙන් පිටවන අපිරිසිදු ද්‍රව වේ. ( )
4. ස්ත්‍රීන් හෝ පිරිමින් හෝ මරණයට පත් වූ විට නෑවීම අනිවාර්ය වේ. ( )
5. "අල්කුර්ආනය" ස්පර්ශ කිරීමට නම් "ජනාබතයෙන්" මිදිය යුතුයි. ( )
6. ස්නානයට පෙර වුළූඃ කිරීම "සුන්නත්" වේ. ( )

**02) කෙටි පිළිතුරු සපයන්න.**

1. "ජනාබත්" ඇති කරන කරුණු මොනවා ද ?
2. මාසික ඍතුව ඇති කාන්තාවන් එම අවස්ථාවේ නොකළ යුතු දෑ කවරේ ද ?

# 7

# අල් කස්රු - වල් ජම්උ

ඉස්ලාමයේ පංච මහා වගකීම්වලින් සලාතය ඉතා වැදගත් වගකීමකි. සලාතය අත් හැරීමට ඉස්ලාමයේ අනුමැතියක් නොමැත. ගමන් යාම, ලෙඩරෝග, යුද්ධ, භයංකර පරිසරය යනාදී අර්බුදකාරී අවස්ථාවන්හි වුව ද සලාතය ඉටු කළ යුතු ම වේ. එම නිසා ගමනෙහි යෙදෙන අවස්ථාවන්හි දී සලාතය පහසුවෙන් ඉටු කිරීමේ ක්‍රම ඉස්ලාම් දහම හඳුන්වා දී ඇත. ඒවායින් එකක් වන්නේ, **ජම්උ** හා **කස්රු** සලාත් ය. මෙය එකතු කර හා කෙටි කර ඉටු කරන සලාතයන් වේ.

## එකතු කර ඉටු කිරීම (ජම්උ)

ගමනක යෙදී සිටින්නෙකු දහවල් කාලයේ දී ඉටු කරන සලාතයන් (ලුහර්, අස්ර්) දෙක. එසේ ම රාත්‍රී කාලයේ දී ඉටු කරන සලාතයන් (මෑරිබ්, ඉෂා) යනාදී දෙක ම එක් කර ඉටු කිරීම "**ජම්උ**" නමින් හැඳින් වේ. මෙම ජම්උ සලාතය පහතින් දැක්වෙන කුමන ආකාරයකින් වුව ද ඉටු කළ හැකි ය.



### ඉදිරියෙන් ඇති සලාතය එකතු කර ඉටු කිරීම (ජම්උ තක්දීම්)

ගමනෙහි යෙදෙන්නේ ලුහර් සලාතය ඉටු කර, ඒ සමග ම අස්ර් සලාතය ද, මඃරිබ් වේලාවේ දී මඃරිබ් සලාතය ඉටු කර, ඒ සමග ම ඉෂා සලාතය ද එකතු කර ඉටු කළ හැකි ය. මෙලෙස සලාත් කිරීම **"ජම්උ තක්දීම්"** පෙරටු කර එක් කොට සලාතය ඉටු කිරීම නමින් හැඳින් වේ.

### පසුව ඇති සලාතය හා එකතුකර ඉටු කිරීම (ජම්උ තඃකීර්)

ගමනෙහි යෙදෙන්නා ලුහර් සලාතය පසුවට කල් දමා, අස්ර් වෙලාවේ දී, මුලින් ලුහර් සලාතය ඉටුකර, ඒ සමග ම අස්ර් සලාතය ද එසේ ම මඃරිබ් සලාතය පසුවට කල් දමා ඉෂා වෙලාවේ දී මුලින් මඃරිබ් සලාතය ඉටු කර ඉන්පසුව ඉෂා සලාතය ද එකතු කර සලාත් කළ හැකි ය. මෙලෙස සලාත් කිරීම **'ජම්උ තඃකීර්'** නමින් හඳුන්වයි.

### කෙටි කර සලාත් කිරීම (කස්රු)

රක්අත් හතරක සලාතයන් රක්අත් දෙකක් වශයෙන් සලාතය කෙටි කර ඉටු කිරීම **'කස්රු'** නමින් හැඳින් වේ. මෙසේ කෙටි කර ඉටු කිරීම ගමනක යෙදෙන්නන්ට පමණක් සීමා වූ වරප්‍රසාදයකි. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් තමා යෙදුණු ගමන් බිමන්වල මෙලෙස සලාත් කෙටි කර ඉටු කළහ.

**"ඔබ භූමියෙහි ගමනක් යනවිට (ඔබ) සලාතය කෙටි කර ඉටුකිරීම ඔබ වෙත වරදක් නොවේ"** (අල්කුර්අන් 4:101)

### අල් ජම්උ - වල් කස්රු

රක්අත් 4කින් යුත් සලාතයන් දෙක බැගින් කෙටි කර ජම්උ තක්දීම් ලෙස හෝ ජම්උ තඃකීර් ලෙස ඉටු කළ හැක. නමුත් මඃරිබ් සලාතය විෂයයෙහි එහි රකාඅත් ගණන කිසි දු වෙනසක් නොවේ.

### ජම්උ - කස්රු ඉටු කරන්නන් සැලකිල්ලට ගත යුතු දේ :

01. රක්ආත් හතරක සලාතයන් වන ලුහර්, අස්ර්, ඉෂා සලාත් පමණක් කෙටි කර රක්ආත් දෙකක් ලෙස ඉටු කළ හැකි වේ. මඃරිබ් සලාතයන් කෙටි කර ඉටු කළ නොහැකි ය. නමුත් එකතු කර ඉටු කළ හැකිය. ෆජ්ර් සලාතය කෙටි කර හෝ එකතු කර හෝ ඉටු කළ නොහැකි ය.

02. රක්ආත් හතරක සලාතයන් රක්ආත් දෙකක් ලෙස කස්ර් කරන විට එක් රක්ආත්හි දී සුපුරුදු සේ සූරතුල් ෆාතිහා හා අල්කුර්ආනයේ තවත් වාක්‍යයන් පාරායනය කර පිළිවෙළට ඉටුකළ යුතු ය.

03. කස්රු හා ජම්උ කිරීමට ගමනද දිග ගමනක් විය යුතුය. මෙම වරප්‍රසාදය ගම් ප්‍රදේශයේ සීමාව ඉක්මවූ විගස ම ඇරඹේ. එමෙන් ම ජම්උ තඃකීර් ඉටුකරන්නා අදාළ සලාතයේ වේලාව ඉක්මවීමට පෙර අනෙක් සලාතය හා එක් කොට ඉටු කරන බවට නියියතය තැබිය යුතු ය.

04. ගමනෙහි යෙදෙන්නා ෆජ්ර්හි සුන්නත් සලාතයන් හා විත්ර් සලාතයන් නොකඩවා ඉටු කිරීම යහපත් ය.

05. ගමනෙහි යෙදෙන්නන් ජම්උ කරන විට සලාත් දෙකකට එක් අදානයක් ද, එකිනෙක සලාතයන් එකිනෙකට වෙන් වෙන් වශයෙන් ඉකාමත් ද කිව හැකි ය.

06. කෙටි කර සලාතය ඉටු කරන්නන්, සලාතය සම්පූර්ණ වශයෙන් ඉටු කරන ඉමාම්වරයා පිළිපැදිය නොහැකි ය.

**අභ්‍යාස**

**පහත ප්‍රකාශ හරි නම් (✓) ලකුණ ද, වැරදි නම් (✕) ලකුණ ද වරහන් තුළ යොදන්න.**

අ) 1. ගමනෙහි යෙදෙන්නෙකුට සලාත් කිරීම අපහසු නම් කලා කළ හැකි ය. ( )

2. ෆජ්ර් සලාතය කෙටි කර හෝ එකතු කර ඉටුකළ නොහැකි ය. ( )

3. 'ජම්උ තක්දීම්' යනු පෙරටු කර සලාත් ඉටු කිරීමයි. ( )

4. ගමනෙහි යෙදෙන්නන් කිසි ම සුන්නත් සලාතයක් ඉටු කිරීම අවශ්‍ය නොවේ. ( )

(ආ) ඔබ ජීවිතයේ කස්රු ජම්උ කළ අත්දැකීමක් කෙටියෙන් විග්‍රහ කරන්න.

# 8
# ජුමුආ සලාතය

එකිනෙක සමාජයන්ට එක් දිනයක් සුවිශේෂ වූ දින ලෙස ප්‍රකාශිත ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ට හා එතුමාගේ අනුගාමිකයින්ට අල්ලාහ් විසින් ලබා දෙන ලද විශේෂිත දිනය යවුමුල් ජුමුආ යන සිකුරාද දිනයයි. මෙම දිනයේ වූ විශේෂත්වය දැනගෙන නැමදුම්වලත්, කුසල් ලබා දෙන ක්‍රියාවලත් නිරතවීම මුස්ලිම්වරුන් වන අපගේ වගකීම වේ.

සිකුරාද දිනෙහි පැවැත්වෙන සුවිශේෂ අමලය (යහක්‍රියාව) ජුමුආ සලාතය වේ.

ජුම්ආවේ වැදගත්කම පිළිබඳව අල්කුර්ආනය පහත සඳහන් අයුරින් පවසන්නේ ය.

**"ඊමාන්ධාරීනි, ජුම්ආ දිනයේ සලාතය සඳහා කැඳවන ලද්දේ නම්, අල්ලාහ් දික්ර් කිරීම සඳහා (ඉක්මනින්) යන්න. (රැකියාවන්) වෙළෙඳාම අත්හරින්න. එය ඔබට යහපත් වේ. (මෙසේ) ඔබ දැන සිටින්නේ නම් යහපත් ය." (62 : 09)**

සිකුරාද දිනයේ විශේෂත්වය පිළිබඳව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මෙසේ පවසා ඇත්තාහ.

"ඔබට විශේෂිත වූ දිනය සිකුරාද දිනයයි. එම දිනයේ නබි ආදම් අලෛහිස්සලාම් තුමා මවන ලද්දේ ය. එම දිනයේ දී එතුමාණෝ මරණයට පත් වූහ. එදින ම අවසාන දිනය ද පැමිණෙයි. එම දිනයේ ම මිනිසා නැවත විභාග කිරීම සඳහා නැගිටුවනු ලබන්නේ ය."



මෙම දිනයේ අධික වශයෙන් මා කෙරෙහි සලවාත් පවසන්න. නියත වශයෙන් ම ඔබ පවසන සලවාත් මා වෙත පෙන්වනු ලබයි. නබිවරුන්ගේ ශරීරය භූමිය අනුභව කිරීමෙන් (විනාශ කිරීම) අල්ලාහ් හරාම් කොට ඇත. (අහ්මද්)

## ජුමුආ දිනයේ පිළිපැදිය යුතු පිළිවෙත්

සිකුරාද ජුමුආ සලාතය සඳහා දත් මැද, දිය නෑම වැදගත් සුන්නතයකි. මස්ජිදයට යන විට හිසට තෙල් ගා, සුවඳ විලවුන් ගල්වා, ලස්සන ඇඳුමෙන් සැරසී සිටීම විශේෂිත ය. මස්ජිදයේ සිටින මිනිසුන් අභිබවා නොයා තමාට හැකි පමණින් සලාත් කර නිශ්ශබ්දව වාඩි වී **කතීබ්** පවසන දේවල්වලට සවන් දිය යුතු ය. ඉන්පසු ඉමාම් සමග සලාතය ඉටු කළ යුතු ය. මෙලෙස ක්‍රියාකරන්නාගේ ඉකුත් සිකුරාද දිනයේ සිට මෙම සිකුරාද දිනය දක්වා කාලය තුළ කරන ලද සුළු පව්වලට සමාව ලැබෙන බව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් පවසා ඇත.

ජුමුආ දිනයේ සූරතුල් කහ්ෆ් (18වන) සූරතය පාරායනය කිරීම මගින් ඊළඟ ජුමුආ දිනය දක්වා සිතේ ප්‍රබෝධයක් ඇති කරවයි. ඒ සමඟ ම සිකුරාද දවස්වල නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් වෙත අධික ලෙස සලවාත් පැවසීම ද ශ්‍රේෂ්ඨ ගුණාංගයකි.



"ජුමුආ දිනයේ එක්තරා වේලාවක් තිබේ. එම වේලාව කෙටි වෙලාවකි. එම වෙලාවේ මුස්ලිම්වරයෙකු සලාතයේ නිරත වී අල්ලාහ්ගෙන් යමක් ඉල්ලූ විට එය ඔහුට අල්ලාහ් නොදී සිටින්නේ නැත," යැයි නබි වදනෙහි කියැවේ.

ජුම්ආ සලාතය යනු සිකුරාද දිනයේ ලුහර් සලාතය වෙනුවට ඉමාම් මිම්බරයේ පවත්වන කුත්බා දේශනයෙන් පසුව ඉටු කරන රක්ආත් දෙකක සලාතය වේ. මෙම සලාතය මුස්ලිම්වරුන් සියලුදෙනාට ම අනිවාර්ය වගකීමක් වේ. මෙමගින් සෑම මුස්ලිම්වරයෙකු ම සතියකට වරක් ආගමික උපදේශයන්ට සවන් දී, ඉගෙන ගන්නා අතර ගමේ අනෙකුත් මහල්ලාවලට අයත් සහෝදර මුස්ලිම්වරුන් සමග එක් තැනක දී මුණගැසීමේ අවස්ථාව ද සතිපතා ජුමුආවට පෙර කාලයේ පොදු වූ හා වැදගත් වූ කාරණා ගැන සාකච්ඡා කිරීම, අත්‍යවශ්‍ය නිවේදන, දැන්වීම් පළකිරීම යනාදී නොයෙකුත් අවස්ථා ලැබෙන්නේ ය.

මෙම සලාතයටත් මෙම සලාතය ඉටු කරන දිනය වන සිකුරාද දිනයටත් අල්ලාහ්තආලා නොයෙකුත් විශේෂත්වයන් දී ඇත්තේ ය.

## ජුමුආවට වේලාසනින් පැමිණීම

ජුමුආ දිනය පැමිණිවිට දේව දූතයෝ මස්ජිදයේ දෙරකඩ දෙසින් සිටගෙන පළමුව පැමිණෙන්නා, ඉන්පසු නොකඩවා පැමිණෙන අය ද (වාර්තා) ලේඛනගත කරගන්නෝ ය. පළමුවෙන් පැමිණෙන්නා ඔටුවෙකු ද, ඉන්පසු පැමිණෙන්නා හරකෙකු ද, ඊළඟට පැමිණෙන අය ද එළුවෙකු ද කුර්බාන් දුන් අය හා සමාන ලෙස සැලකේ. ඉන්පසු පැමිණෙන්නන් කුකුළෙකු ද, ඊළඟ පැමිණෙන්නා බිත්තරයක් ද දන් දුන් අය ලෙස සලකනු ලැබේ. ඉමාම් මිම්බරයට නැගීමෙන් පසු දේව දූතයෝ තමන්ගේ (වාර්තා) ලේඛන පොත් වසා දමා කුත්බා දේශනාව ඇසීමට යති," යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පවසා ඇත්තාහ. (බුහාරි)

සිකුරාද මස්ජිදයට පැමිණෙන මලාඉකාවරුන්ගේ වාර්තා පොතේ අපගේ නම් ලියවා ගැනීමට උවමනාවේ නම් අප ඉමාම් මිම්බරයට නැගීමට ප්‍රථමයෙන් ම මස්ජිදයට යා යුතු ය. ජුමුආ සලාතයට මස්ජිදයට පැමිණෙන අය ඉමාම් දේශනය පවත්වමින් සිටිය ද, ජුමුආ සලාතයට පෙර කෙටියෙන් රක්ආත් දෙකක් "**තහියියතුල් මස්ජිද්**" සලාතය ඉටු කළ යුතු ය.

"කවරෙක් දිය නා කලින් ම (මස්ජිදයට) පැමිණ, ඉමාම්වරයාට ළංව සිට ඔහුගේ දේශනයට සවන් දී ජුමුආව නාස්ති නොකර සිටින්නේ ද ඔහුට ඔහු තබන සෑම පියවරකට ම වසරක් උපවාසයේ යෙදී, වසරක් සිටගෙන නැමඳුම් කළ කුලිය ලැබේ," (තිර්මිදි) යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ.

නියමිත වයසට නොපැමිණි අය, කාන්තාවන්, රෝගීන් හා මගීන් යනාදී හු ජුමුආ සලාතය වගකීමක් නොවන අය වෙති.

ජුමුආහි ඉමාම් දේශනාව පවත්වන විට ඔහුගේ දේශනය අසා සිටින්නවුන් අතර කතා කිරීම සම්පූර්ණයෙන් ම තහනම් කර ඇති ක්‍රියාවකි.

කතා කරමින් සිටින්නෙකු අමතා "නිශ්ශබ්ද වන්න" යැයි කීමෙන් ද දෙදෙනාගේ ම පින් නැති වී යා හැකි බවට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් අවවාද කර ඇත.

ජුමුආ සලාතයේත්, සිකුරාද දිනයේත් විශේෂත්වය හා ප්‍රයෝජන ගැන පවසන ඉස්ලාම් දහම, ජුමුආ සලාතය නොසලකා හරින්නන්ට අවවාද කර ඇත. එනම්, නොසැලකිල්ලෙන් කවරෙකු ජුමුආ 3ක් මගහරී ද ඔහුගේ සිතෙහි අල්ලාහ් මුද්‍රා තබන බව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පවසා ඇත්තාහ. (තිර්මිදි)

එසේ ම, 'ජුමුආවට නොගොස් නිවසෙහි රැඳී සිටින්නන්, ඔහුගේ නිවසත් සමඟ ම ගිනිතබා විනාශ කර දමන්නට මට සිතේ,' යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් පවසා තිබීමෙන් ජුමුආවේ වැදගත්කම තවදුරටත් තහවුරු කරන්නේ ය.

**එනිසා ජුමුආවේ විශේෂත්වයත් එය අත්හැරීමෙන් අත් වන විපත්තියත් සැලකිල්ලට ගෙන ජුමුආ සලාතය නොවරදවා ඉටු කරමු! ජුමුආ සලාතයට පෙර පවත්වන කුත්බා දේශනය නොවරදවා මුළුමනින් ම සවන් දී එම දිනයේ ප්‍රයෝජනයත් මුළුමනින් ම ලබා ගනිමු.**

**අභ්‍යාසය**

01. ජුමුආ සලාතයට රකාඅත් කීයක් තිබේ ද?

02. සිකුරාද දිනයේ විශේෂත්වයන් දෙකක් ලියන්න.

03. ජුමුආ දිනයේ ඉටු කළ යුතු පිළිවෙත් මොනවා ද?

04. ජුමුආ සලාතය මඟින් සම්පූර්ණ කුසල් ලබා ගැනීමට අප කළ යුතු යහ ක්‍රියා පහක් ලියා දක්වන්න.

05. ජුමුආ හි කුත්බාවට සවන් දීමෙන් ලැබෙන ආනිශංස හා එය නොසලකා හැරීමෙන් සිදුවන විපාක දක්වන්න.

# 9

# ජනාසා වගකීම් ඉටු කරමු

නිසාම් හාජියාර්ගේ නිවසින් ජනාසාව පිටතට ගනියි. එක්රැස් වී සිටින ජනයා අතර ශිෂ්‍ය කණ්ඩායමක් ද සිටිති. මයියිතය මිහිදන් කර සුසාන භූමියෙන් ජනයා පිට ව යන තුරු ශෝකයෙන් සියල්ල දෙස හොඳින් අවධානය යොමු කළ සිසුහු නිසාම් ගුරුතුමා හමු වී දෙඩමලු වන්නෝ ය.

**මුස්ලිම්වරුන් ජනාසාව දින කිහිපයක් නොතබා ගෙන ඉක්මනින් මිහිදන් කිරීම පිළිබඳ ව දැනගත හැකි ද?**

ඉක්මනින් ඉටු කළ යුතු කරුණු කිහිපයක් ඉස්ලාම් දහම පෙන්වා දී ඇත. කෙනෙකු මිය ගියේ නම් ඔහු ඉක්මනින් මිහිදන් කළ යුතු ය, යන්න ඉන් එකකි. මිය ගිය පුද්ගලයා යහපත් අයෙකු නම් ඔහු යන ස්ථානය යහපත් ය. මේ තත්ත්වයේ දී ඔහු ප්‍රමාද කිරීම යහපත් නොවේ. තව ද මියගිය තැනැත්තා නිවසෙහි දිගට ම තබා ගැනීමෙන් නිවැසියන්ට හා ඥාතීන්ට ශෝකය අධික වේ. ඉක්මනින් මිහිදන් කිරීම මගින් එම තත්ත්වය නැතිව යයි.



**මිය ගිය පුද්ගලයාගේ මෘත දේහය අන් අය බැලීම සම්බන්ධ ව සීමා පනවා තිබේ ද? සියලු දෙනාට ම ජනාසාව බැලීමේ අනුමැතිය ලබා දී නොමැති ද?**

ඔව්, මුස්ලිම්වරුන්ට සීමා කිහිපයක් පවතී. පුරුෂ මයියතයක් පුරුෂයන්ට ද, ස්ත්‍රී මයියතයක් ස්ත්‍රීන්ට ද බැලිය හැකි ය. නමුත් "මහ්රම්" (විවාහ වීමට අනුමැතිය නොලත්) පුද්ගලයන් ද මයියතය බැලීමට අනුමැතිය ලත් පුද්ගලයන් වේ.

**අපි මයියතයක් වෙනුවෙන් ඉටු කළ යුතු යුතුකම් මොනවා ද?**

මුස්ලිම්වරයකු මිය ගියේ නම් ඔහු වෙනුවෙන් යුතුකම් හතරක් ඉටු කිරීම අනෙකුත් මුස්ලිම්වරුන් හට වගකීමක් වේ.

- ★ නෑවීම
- ★ කෆන් කිරීම
- ★ සලාතය ඉටු කිරීම
- ★ මිහිදන් කිරීම

මෙම වගකීම් ඉටු නොකළ හොත් මුළු සමූහයා ම අපරාධකරුවන් ලෙස සැලකේ. මෙවැනි වගකීම් "ෆර්ලු කිෆායා" නම් වේ.

**කෙනෙකු මිය යනවාත් සමග ම කුමක් කළ යුතු ද?**

කෙනෙකු මිය ගිය බව තහවුරු වුවහොත් ඔහුගේ ඇසි පිය වසා දැමිය යුතු ය. මුඛය වසා නිකට හිස සමග  රෙදි පටියකින් ගැට ගැසිය යුතු ය. පාදවල මහපට ඇඟිලි දෙක එක්කර ගැට ගැසිය යුතු ය. සන්ධි කෙළින් කර තැබිය යුතු ය. පපුවේ සිට යටි උදරය දක්වා සෙමින් ඔබා උදරය තුළ ඇති අපද්‍රව්‍ය බැහැර කර ගෙන පසු ව සෝදා පිරිසිදු කළ යුතු ය. පසුව ඇල කර රෙද්දකින් වසා තැබිය යුතු ය.

**ඉන් පසුව කුමක් කළ යුතු ද?**

ප්‍රථමයෙන් මයියතය නෑවිය යුතු ය. මිය ගිය තැනැත්තාගේ අච්රතය, අඩුපාඩු හා රහසිගත කරුණු හෙළි නොකරන අන්දමේ විශ්වාසවන්ත ඥාතියකු මගින් මෙය කිරීම ඉතා සුදුසු ය. ඔවුන්ට අපහසු නම් අත්දැකීම් සහිතවූවන් සම්බන්ධ කර ගත හැකි ය. සීතල ජලය, උණු ජලය, ලුණු ජලය යනාදියෙන් සුදුසු ජලයක් භාවිත කළ හැකි ය. මසං ගසේ කොළ ද, සබන් ද භාවිත කරනු ලැබේ. කපුරු ද භාවිත කළ හැකි ය. අපද්‍රව්‍ය (නජීස්) කිසිවක් තිබේ නම් ජලය වත් කිරීමට පෙර ඒවා ඉවත් කළ යුතු ය. පළමුව වුළු කරවා පසුව ජලය වත්කරනු ලැබේ. ජලය වත් කර අවසන් වූ පසු සිනිඳු රෙද්දකින් පිස දැමිය යුතු ය.

**දිය නෑමෙන් පසු කුමක් කළ යුතු ද?**

මයියතය කෆන් කළ යුතු ය.

## කෆන් යනු කුමක් ද?

මයියතයට අන්දවන සුදු පැහැති වස්ත්‍රය "කෆන්" නම් වේ. මෙය පරණ පිරිසිදු රෙද්දක් ද විය හැකි ය. නමුත් අලුත් රෙදි භාවිත කරනු ලැබේ. පුරුෂයකු නම් රෙදි තුනකින් ද, ස්ත්‍රීන් නම් රෙදි පහකින් ද මයියතය ඔතනු ලැබේ. අව්රතය හෙළි නොවන සේ සමහර ස්ථානයන් හි සරල මැස්මක් දමනු ඇත. එයට සරල සේ නිවැරදි ව රෙදි කපා තබනු ලැබේ. අවසානයේ දී කෆන් රෙදිවල සුවඳ විලවුන් ගල්වනු ලැබේ. කෆන් කළ පසු හිසට ඉහළින් එක් ගැටයක් ද, පාදයට යටින් එක් ගැටයක් ද, ඉණ අසලින් තවත් ගැටයක් ද දමනු ලැබේ. පසුව මිහිදන් කිරීම සඳහා සන්දූක්හි තබා උරහිසින් දරා ගෙන යනු ලැබේ. අවශ්‍ය අවස්ථාවල දී පමණක් වාහනවල ගෙන යනු ඇත.



## සලාතය ඉටු කරන්නේ කුමන වේලාවේ දී ද?

දිය නා කෆන් කළ පසු සලාතය ඉටු කරනු ලැබේ. මයියතය වෙනුවෙන් ඉටු කරන සලාතය අනෙකුත් සලාතයන්ට වඩා සුළු වශයෙන් වෙනස් ය. සිටගෙන සිටින තත්ත්වයේ දී ම ඉටු කරනු ලැබේ. මයියතය රඳවනු ලැබූ සන්දූක්, ඉමාම් ඉදිරියේ හරස්කොට තබයි. ඉමාම් ලෙස සිටින්නා මයියතය පුරුෂයකුගේ නම් මුහුණ කෙළින් ද ස්ත්‍රියකගේ නම් ඉණ කෙළින් ද සිට ගනියි. ඔහු පසුපස ජනයා පේළි වශයෙන් සිටගෙන ඉමාම් පිළිපදිමින් සලාතය ඉටු කරති.

"මෙම මයියතය වෙනුවෙන් අනිවාර්ය වූ තක්බීර් 4කින් යුක්ත සලාතය අල්ලාහ් වෙනුවෙන් ඉටු කරමි" යන නියියතය සමග සලාතය ආරම්භ කරනු ලැබේ. සලාතය මෙහෙයවන්නා "අල්ලාහු අක්බර්" යැයි හඬ නගන විට මඃමූම්වරුන් තක්බීර් බඳිනු ඇත. පසු ව සූරතුල් ෆාතිහා උසුරිය යුතු ය.

දෙවන තක්බීරයට පසුව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමානන් වෙත සලවාත් පවසනු ලැබේ. සලාතයේ අවසාන අත්තහියියාත්හි අන්තර්ගත “සලවාත් ඉබ්රාහිමියියා” උසුරීම යහපත් ය.

اَللّٰهُمَّ صَلِّ عَلَى مُحَمَّدٍ وَعَلَى آلِ مُحَمَّدٍ كَمَا صَلَّيْتَ عَلَى إِبْرَاهِيمَ وَعَلَى آلِ إِبْرَاهِيمَ

وَبَارِكْ عَلَى مُحَمَّدٍ وَعَلَى آلِ مُحَمَّدٍ كَمَا بَارَكْتَ عَلَى إِبْرَاهِيمَ وَعَلَى آلِ إِبْرَاهِيمَ ، إِنَّكَ حَمِيدٌ مَجِيدٌ

අර්ථය :- යා අල්ලාහ් ! ඉබ්රාහීම් නබිතුමා වෙත ද, එතුමා පිළිපදින්නන් වෙත ද, ඔබ දයාව දක්වූවාක් සේ මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වෙත ද, එතුමා පිළිපදින්නන් වෙත ද දයාව දක්වනු මැනව. තව ද, යා අල්ලාහ් ! ඉබ්රාහීම් නබිතුමා වෙත ද එතුමා පිළිපදින්නන් වෙත ද, ඔබ අභිවෘද්ධිය ලබා දුන්නාක් සේ ම මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් වෙත ද, එතුමා පිළිපදින්නන් වෙත ද අභිවෘද්ධිය ලබා දෙනු මැනව ! (බුහාරි)

තෙවන තක්බීරයට පසුව මයියතය වෙනුවෙන් ප්‍රාර්ථනා කළ යුතු ය. එවිට පහත දැක්වෙන දුආව පාරායනය ඉතා යහපත් ය.




**අර්ථය:** ''ඕ අල්ලාහ්! මොහු සමා කරනු මැන. මොහුට දයාව දක්වනු මැන. මොහුට සුවය දෙනු මැන. මොහු සමාකරනු මැන. මොහුගේ සත්කාරය ගෞරවය පිණිස කරනු මැන. මොහු ප්‍රවේශ ස්ථානය පුළුල් කරනු මැන. මොහුව ජලය, හිම හා සිසිල් වූ පැන් මගින් දෝවනය කරනු මැන. තව ද කිළිටි වූ වස්ත්‍රය දියෙන් සෝදා පවිත්‍ර කරන්නේ කෙසේ ද එලෙසින් මොහුව පාපයන්ගෙන් සුවිශුද්ධ කරනු මැන. මොහුගේ නිවස වෙනුවට යහපත් නිවසක් ද මොහුගේ නිවැසියන් වෙනුවට වඩාත් යහපත් නිවැසියන් ද, මොහුගේ බිරිය වෙනුවට වඩාත් යහපත් බිරියක් ද, මොහුට ලබා දෙනු මැන. තව ද, මොහුව ස්වර්ගයට

ඇතුල් කරනු මැන. තව ද, සොහොන් වේදනාවෙන් ද, නිරයේ දඬුවමින් ද මොහු ආරක්ෂා කරනු මැන.''

සිව්වන තක්බීරයට පසු සලාම් පවසා සලාතය අවසන් කරනු ලැබේ. සලාම් පැවසීමට පෙර,

පහත දුආව පාරායනා කළ හැකි ය.

اَللّٰهُمَّ لاَ تَحْرِمْنَا أَجْرَهُ وَلاَ تَفْتِنَّا بَعْدَهُ وَاغْفِرْلَنَا وَلَهُ

**අර්ථය:** ''ඕ අල්ලාහ්! මොහුගේ කුලියෙන් අප නොවළක්වනු මැන. තව ද, මොහුගෙන් පසුව අප පරීක්ෂාවලට ලක් නොකරනු මැන. ඔබ අප ද, ඔහු ද සමා කරනු මැන.'' ඉන්පසු ජනාසාව ඔසවා ගෙන ගොස් මිහිදන් කරනු ලැබේ.

## මයියතය කබ්රය මත තබා මිහිදන් කරන්නේ කෙසේ ද?



හිස් පොළොව මත මයියතය තබනු ලබයි. මේ සඳහා විශේෂිත වූ ආකාරයකින් කබ්රය හාරනු ලබයි. මයියතයේ ප්‍රමාණයට අනුව දිග ද, පළල ද, සහිත වන සේ කබ්රය සකසනු ලැබේ. එහි අභ්‍යන්තර වළ, බාහිර වළ ලෙස වළවල් දෙකක් ඇත. කිබ්ලාව පෙරටු කරගෙන මයියතය අභ්‍යන්තර වළ තුළ තබනු ලැබේ. එවිට මයියතයේ දකුණු පෙදෙස පොළොවේ රැඳෙන ලෙස ද පිට පෙදෙස කබ්රයේ බිත්තියේ ස්පර්ෂ වන ලෙස ද තබනු ලැබේ. මයියතය අභ්‍යන්තර වළ තුළ රැඳවීම සඳහා පටියක් හෝ ශක්තිමත් රෙද්දක් භාවිත කරනු ලැබේ. අභ්‍යන්තර වල තුළ මයියතය රැඳවූ පසු කෆනයෙහි දමූ ගැට 3 ලිහිල් කරනු ලැබේ. දකුණු කම්මුල මත වැදෙන සේ පස් පිඩක් තබනු ලැබේ. අභ්‍යන්තර වළ ලෑලිවලින් වසනු ලැබේ. බාහිර වළ පස්වලින් පුරවනු ලැබේ. පසු ව මයියතය වෙනුවෙන් ප්‍රාර්ථනා කරනු ලැබේ.

මෙලෙස අදහස් හුවමාරු වූ පසු ව සිසුහු නිසාම් ගුරුතුමාට ස්තුති කර සමුගත්හ.

**අභ්‍යාස**

1. ජනාසාවකට ඉටු කළ යුතු යුතුකම් හතර ලියන්න.
2. පුද්ගලයකු මිය ගිය විට වහා ම කළ යුතු දේවල් සඳහන් කරන්න.
3. තක්බීර් හතරකින් සමන්විත ජනාසා සලාතයෙහි සෑම තක්බීරයකට ම පසුව පාරායනය කරන අව්රාද් ලියන්න.
4. ජනාසාවකට සහභාගි වන විට ඔබට ඇති වූ හැඟීම් රචනාවකින් පහදන්න.

**ක්‍රියාකාරකම්**

1. ජනාසා සලාතයේ ෆර්ලු විමසා ලියන්න.
2. ජනාසා සලාතයේ තුන්වන තක්බීරයෙන් පසුව පාරායනය කරන දුආව කටපාඩම් කර පාරායනය කර පෙන්වන්න.

# 10

# සකාත්

අල්ලාහ් මිනිසාට ලබා දී ඇති දයාද අතර ධනය ද එක් සම්පතකි. එයින් ධනවතා පමණක් නොව සියලු දෙනාට ප්‍රයෝජන ලබා ගැනීමට මග පාද දිය යුතු ය. ඉස්ලාමය එම ක්‍රියාමාර්ගවලින් එකක් ලෙස සකාතය හඳුන්වා දී ඇත.

සකාත් යන පදය පාරිශුද්ධත්වය, අභිවෘද්ධිය, වර්ධනය යන අරුත් දෙයි. සකාත් දීමෙන් එසේ දෙන්නාගේ ආර්ථිකය දියුණු වන්නේ ය; ධනය ආරක්ෂා වෙයි. ඔහුගේ සිත පිරිසිදු වී පාරාර්ථකාමිත්වය, අනුන්ගේ සුව දුක් සොයා බැලීම යනාදී යහගුණාංග වර්ධනය වන අතර ආත්මාර්ථකාමිත්වය, අහංකාරය, මසුරුකම යනාදී අයහපත් ගුණාංගයන්ගෙන් මිදෙන්නේ ය.

**මුස්ලිම්වරයකු, තමා සතු දේපළ, ධනය යනාදියෙන් නියමිත වූ කොටස අල්කුර්ආනය පවසා ඇති පිරිස් අටකට පමණක් දන් දීම ඉස්ලාමීය භාවිතයේ සකාත් යැයි හඳුන්වනු ලැබේ.**

මෙය ඉස්ලාමයේ මූලික නැමදුම් ක්‍රියාවන්ගෙන් එකක් වන අතර ඉස්ලාමීය ආර්ථික ක්‍රියාකාරකම්වල වැදගත් අංගයක් ලෙස ද දැක්විය හැකි ය. මෙය සාමූහික ව ඉටු කිරීමට ඉස්ලාමය තරයේ පවසන්නේ ය.

අල්කුර්ආනයේ සලාතය හා සකාතය ඒකාබද්ධ කර ස්ථාන 83ක සඳහන් කර ඇත. සකාතය නිසි ලෙස ඉටු නොකිරීම නිසා ඉන් ඇති වන අයහපත් ප්‍රතිවිපාක පිළිබඳව ද අල්කුර්ආන් හා අල් හදීස් අවවාද කර ඇත.

**"ඔබ සලාතය නිසි ලෙස ඉටු කර සකාතය ද දෙන්න." (2 : 110)**

තව ද, **"රත්රන් හා රිදී එක් රැස් කර තබා ගනිමින් එය අල්ලාහු තආලාගේ මාර්ගයෙහි වියදම් නොකර සිටී ද, ඔවුනට හිරිහැර සහිත වේදනා ඇත්තේ ය." යැයි නබිවරයාණනි ඔබ පවසන්න. නබිවරයාණනි එම දිනයේ ඒවා (ඔවුන් රැස් කර තබා ගත් දෑ) නිරයේ ගින්නෙන් රත් කොටගෙන ඔවුන්ගේ නළලෙහිත්, ඇළපතෙහිත්, පිටෙහිත් තබා රත් කරනු ලැබේ. ඔබ වෙනුවෙන් රැස් කොට තැබූ දෙය මෙය වේ. එනිසා ඔබ රැස් කර තැබූ මේවා රස විඳ බලන්නැයි, පවසනු ලැබේ." (අල්කුර්ආන් 9 : 34, 35)**

"සකාතය මගින් ඔබ, ඔබගේ ධනය ආරක්ෂා කර ගන්න." (අබූදාවූද්)

"සකාත් නොදී එයට බාධා කරන සමාජය, අල්ලාහු තආලා දුර්භික්ෂයෙන් පරීක්ෂා කරයි." (තබරානි)

## සකාත් වගකීම නිසි ලෙස ඉටුකිරීමෙන් ලැබෙන ප්‍රයෝජන

- ★ සමාජයේ ආර්ථික විෂමතාව අඩුවීම
- ★ ධනය වර්ධනය වීම
- ★ දුගී බව තුරන් වීම
- ★ අපරාධ අඩුවීම
- ★ බරකත් ඇති වීම
- ★ පරලොවෙහි විමුක්තිය ලැබීම
- ★ දයාව වර්ධනය වී ක්‍රෝධය ඉවත් වීම
- ★ කෙනෙකු තම ධනයෙන් අල්ලාහ් වෙනුවෙන් ඉටුකළ යුතු වගකීම ඉටුකිරීමෙන් මානසික තෘප්තිය ලැබීම

## සකාත් අනිවාර්ය වීමට අදල කොන්දේසි

1. මුස්ලිම්වරයකු වීම
2. නිදහස් මිනිසෙකු වීම
3. වස්තුව තමා සතු වීම
4. වස්තුව නිසාබ් ප්‍රමාණයෙන් (නියම) තිබිය යුතු වීම
5. වර්ෂයක් සම්පූර්ණ වී තිබීම (හව්ල්)
6. වර්ධනය වන වස්තූන් වීම
7. මූලික අවශ්‍යතාවලට අමතරව වැඩිපුර තිබීම

## සකාත් දීම වාජිබ් වන වස්තූන් :

1. රත්තරන්, රිදී, මුදල්
2. ධාන්‍ය වර්ග (තිරිඟු, වී යනාදිය)
3. පශු කාණ්ඩයට අයත් සතුන් (එළු, හරක්, ඔටු)
4. පලතුරු වර්ග (රටඉඳි, මිදි)
5. වෙළෙඳ භාණ්ඩ

## රත්තරන්, රිදී, මුදල් :-

රත්තරන්වලට සකාත් අනිවාර්ය වේ. අවම නිසාබ් ප්‍රමාණය මිස්කාල් 20ක් නැතහොත් එයට සම වූ ග්‍රෑ. 85 බර වේ. එයට සියයට දෙකහමාරක් (2 1/2%) ගෙවිය යුතු ය.

රිදීවල අවම නිසාබ් ප්‍රමාණය ඌකියා 5ක් හෝ එයට සමාන වූ ග්‍රෑ. 595 වේ. එයින් සියයට දෙකහමාරක් සකාත් අනිවාර්ය වේ.

මුදල්වල නිසාබ් වන්නේ රන් හෝ රිදීවල නිසාබ් ප්‍රමාණය සලකා බලා එයින් සියයට දෙකහමාරක් ගෙවීම වේ.

## පශු සතුන් (එළු, ගව, ඔටු)

එළුවන්ගේ නිසාබ් ප්‍රමාණය 40ට -1ක් වේ.

| | එළුවන්ගේ සංඛ්‍යාව | දිය යුතු සංඛ්‍යාව (එළුවන්) |
|---|---|---|
| *1.* | *40 - 120* | එක් එළු දෙනක් |
| *2.* | *121 - 200* | එළු දෙනුන් 02ක් |
| *3.* | *201 - 399* | එළු දෙනුන් 03ක් |
| *4.* | *400 - 499* | එළු දෙනුන් 04ක් |

එළුවන්ගේ සංඛ්‍යාව 400ක් වූ විට, එයට වඩා වැඩි වන සෑම එළුවන් 100කට ම එක එළුවෙකු බැගින් දිය යුතු ය.

### ගවයින්ගේ ආරම්භක නිසාබ් ප්‍රමාණය 30කි.

ගවයන් 30කට වයස අවුරුද්දක් වන නාම්බන් ගොනෙකු සකාත් වශයෙන් දිය යුතු වේ. ගවයන් 40ක් සිටී නම් එයට අවුරුදු දෙකක් සම්පූර්ණ වූ එළදෙනකු සකාත් දිය යුතු වේ. මීට වඩා වැඩිපුර සිටී නම් ඉහත සඳහන් සංඛ්‍යාවල තනි ගුණාකාරයට හෝ එකතු වේ, (ඓක්‍යයේ) ගුණාකාරයට සකාත් ගණනය කළ යුතු ය. උදා: ගවයන් 65ක් නම් එක් හැවිරිදි නාම්බන් ගොනුන් දෙදෙනක් දිය යුතු ය.

### ඔටුවන් සඳහා වූ ආරම්භ නිසාබ් ප්‍රමාණය 5කි.

ඔටුවන් පහකට එක් එළුවෙකු සකාත් දිය යුතු ය. මෙයින් සෑම ඔටුවන් පස් දෙනෙකුට ම එක එළුවෙකු බැගින් දිය යුතු ය. ඔටුවන් 20කට එළුවන් හතර දෙනකු වන සේ මෙම ගණන 25ට වඩා නම් වයස අවුරුදු එකක ඔටු දෙනෙකු දිය යුතු ය.

## ධාන්‍ය වර්ග





ධාන්‍යවල නිසාබ් ප්‍රමාණය වසකු 05කි. වගා කරන ලද තිරිඟු, වී, යනාදී ධාන්‍ය වර්ග අස්වැන්න නෙළා විගස භාවිතයට ගත හැකි පරිදි සකස් කළ විට වසකු 5ක් (වර්තමානයේ කි. 675 කි.) වූ විට එයට සකාත් දීම අනිවාර්ය වේ.

අමතර වියදම් දරා වගා කර අස්වැන්න නෙළාගත්තා නම් 5%ක ප්‍රතිශතයක් ද, සම්පූර්ණයෙන් ම ස්වභාවයෙන් ම (වැසි ජලය) වගා කර අස්වැන්න නෙළා ගත්තා නම් 10%ක ප්‍රමාණයක් ද අස්වැන්න නෙළාගත් විගස දිය යුතු ය.

## පලතුරු (රටඉඳි, මිදි)





ධාන්‍යවලට නියමිත නිසාබ් ප්‍රමාණය ම පලතුරුවලට ද අදාල වේ.

## වෙළෙඳ භාණ්ඩ

වෙළෙඳ කටයුතුවල වසරක් සම්පූර්ණ වූ විට වෙළෙඳ භාණ්ඩවල වෙළෙඳ පොළේ මිල ගණනට, මුදල්වල නිසාබ් ප්‍රමාණය නම් එයින් සියයට දෙකහමාරක් (2 1/2 %) සකාත් දිය යුතු ය.

## සකාත් ලැබීමට සුදුසුකම් ලද්දෝ

සකාත් ලැබීමට සුදුසු අය කවුරු ද යන්න අල්කුර්ආනය පැහැදිලිව දක්වා ඇත.

**(සකාත් නම්) දන් දීම, ආදායමක් නොමැත්තන්ට, දුගීන්ට, සකාත් එකතු කරන්නාට, ඉස්ලාමය වෙනුවෙන් සිත් පැහැදී පැමිණි අයට, වහල්භාවයෙන් නිදහස ලබාදීමටත්, ණය බරින් පීඩාවට පත්ව සිටින්නන් (ඉස්ලාමය අනුමත වියදම් සඳහා), අල්ලාහ්ගේ මාර්ගයෙහි නියැලී සිටින්නන්, ආගම අනුමත කළ ගමන් බිමන්වල යෙදී සිටින්නන්ට ද අයත් බවට අල්ලාහ් සකස් කළේ ය. අල්ලාහ් (සියලු දේ) දන සිටින්නා ද, ඉතා ඥානවන්ත ද වන්නේ ය. (අල්කුර්ආන් 9: 60)**

**ඉස්ලාමයේ ඉතා වැදගත් වගකීමක් වන මෙය පැහැදිලි ලෙස දනගෙන නිවැරදිව ඉටු කිරීමට අවස්ථාව අල්ලාහ් සියලු දෙනාට ම ලබා දෙත්වා! යැයි ප්‍රාර්ථනා කරමු.**

**අභ්‍යාස :**

1. සකාත් යන පදයේ අර්ථය කුමක් ද?
2. සකාත් අනිවාර්ය වීමේ කොන්දේසි මොනවා ද?
3. සකාත්හි ප්‍රයෝජන ලියා දක්වන්න.
4. සකාත් අනිවාර්ය වන භාණ්ඩ මොනවා දැයි ලියා දක්වන්න.
5. සකාත් ලැබීමට සුදුසුකම් ලද්දන් වගුගත කරන්න.

**පැවරුම**

සලාතය සමග සකාතය එකාබද්ධ කර පවසා ඇති අල්කුර්ආන් වැකියක් ද, සකාත් පිළිබඳ හදීසයක් ද, ලියා දක්වන්න.

# 11

# හජ් පිළිවෙත හා එහි වැදගත්කම



**නුඹලා හජ් සහ උම්රාහ් (අල්ලාහ් ප්‍රසාදයට පත් කිරීමට) ඉටු කරනු.** (2:196)

හජ් යනු මක්කාවේ සිද්ධස්ථානවලට ගොස් නියමිත ක්‍රියාවන් නියමිත කාලයේ ඉටු කිරීම ය.

මෙය හිජ්රි 9වන වසරේ අනිවාර්ය කරන ලද බව බහුතරයකගේ අදහස වේ. මුස්ලිම් වූ, ස්වාධීන වූ, සිහිබුද්ධිය ඇති, නිසි වයසට පත් වූ, පහසුකම් හා හැකියාව ඇති අයට තම ජීවිතයේ එක් වරක් හෝ හජ් කිරීම අනිවාර්ය වගකීමකි.

නබි ඉබ්රාහීම් අලෛහිස්සලාම් තුමාගේ පවුලේ සාමාජිකයෝ, ‘අල්ලාහ්ගේ අණ මුළුමනින් ම ඉටු කළ යුතු ය’ යන හැඟීමෙන් විවිධ පරිත්‍යාග කළහ; තම ප්‍රාණය, ඥාතීත්වය පවා අහිමි කර ගැනීමට ඉදිරිපත් වූහ. මෙම සිදුවීම්වල සිහිවටනයක් ලෙස හජ් නිරූපණය වේ.

නබිවරු අල්ලාහු තආලාගේ විවිධාකාර වූ පරීක්ෂණයන්ට ලක්වූවෝ වෙති. මොවුන් අතරින් දැඩි පරීක්ෂණයකට ලක් වූයේ ඉබ්රාහීම් අලෛහිස්සලාම් තුමා ය. මෙම සියලු ආකාරයේ පරීක්ෂණවලින් එතුමා ජය ලැබුවේ ය. එතුමාගේ ද, එතුමාගේ පවුලේ අයගේ ද පරිත්‍යාගශීලී ඉතිහාසය සිහිගන්වන එක් වගකීමක් ලෙස හජ් පිළිවෙත දක්නට ලැබේ. එම නිසා හජ් හි නීති රීති කෙටියෙන් විමසා බලමු.

### හජ්ජි අර්කාන් (ෆර්ලු)

- නියියත් තැබීම (ඉහ්රාම් ඇඳීම)
- දුල්හජ් 9 වන දින අරෆාවෙහි රැඳීම
- තවාෆුල් ඉෆාලා ඉටු කිරීම
- සඊ කිරීම
- හිස කෙස් ඉවත් කිරීම
- ඉහත පිළිවෙත් අනුපිළිවෙළින් ඉටු කිරීම



### හජ්ජි වාජිබ්

1. නියමිත මීකාතයේ නියියත් තැබීම (ලාංකික හාජිවරු යලම්ලම් යන ස්ථානයේ නියියත් තබති)
2. දුල්හජ් දහ වන දින රාත්‍රියේ මුස්දලිෆාවේ රැඳීම
3. අයියාමුත් තෂ්රීක් යන (දුල්හජ් 11, 12, 13) දිනවල මිනාහි රැඳීම
4. දුල්හජ් දහ වන දින ජම්රතුල් අකබාහි ගල් 7ක් විසි කිරීම
5. අයියාමුත් තෂ්රීක් දිනවල මධ්‍යාහ්නයෙන් පසු ජම්රතුල් අකබා, ජම්රතුල් වුස්තා ජම්රතුල් ඌලා යන ජම්රා තුනෙහි ගල් හත බැගින් විසි කිරීම
6. තවාෆුල් විදා ඉටු කිරීම

### හජ්ජි සුන්නත්

1. නියියත් තැබීමට පෙර ද, මක්කාවට ඇතුළු වීමට පෙර ද, අරෆා මුස්තලිෆා වැනි ස්ථානවල රැඳීමට පෙර ද, ජම්රාවල ගල් විසි කිරීමට පෙර ද, තවාෆ් කිරීමට පෙර ද, ස්නානය කිරීම
2. නියියත් තැබීමට පෙර සිරුරේ සුවඳ විලවුන් තවරා ගැනීම
3. නියියතය මුවින් ප්‍රකාශ කිරීම
4. තල්බියා පාරායනය කිරීම
5. මක්කාවට ඇතුළු වූ විගස තවාෆ් කිරීම (තවාෆුල් කුදූම්)

6. දුල්හජ් නව වන දින රාත්‍රියේ මිනාහි රැඳීම

7. නියමිත ස්ථානවල අදාල දුආ පාරායනය කිරීම

8. (Z)සම් (Z)සම් ජලය අධික ව පානය කිරීම

## ඉහ්රාම් පැළඳීමෙන් පසුව වැළකී සිටිය යුතු කරුණු

1. හිසකෙස් සම්පූර්ණයෙන් ඉවත් කිරීම හෝ කැපීම
2. නියපොතු කැපීම
3. පුරුෂයන් තම හිසකෙස් ආවරණය කිරීම
4. පුරුෂයන් මසන ලද ඇඳුම් ඇඳීම
5. සුවඳ විලවුන් තැවරීම
6. ගොඩබිම ජීවත් වන සතුන් දඩයම් කිරීම
7. ශාරීරික සම්බන්ධතා පැවැත්වීම
8. විවාහ වීම

## හජ් වගකීම තුන් ආකාරයකට ඉටු කළ හැකි ය.

**1. අල් ඉෆ්රාද්** : මෙය හජ් පමණක් ඉටු කරන ක්‍රමයකි.

**2. අත්තමත්තුඋ** : මෙය උම්රා ඉටු කර ඉහ්රාම් ඇඳුම ඉවත් කළ පසු, නැවත හජ් සඳහා පමණක් නියියත් තබා ඉහ්රාම් ඇඳ (දෙක ම එකතු කර) කරන ක්‍රමයකි.

**3. අල් කිරාන්** : මෙය හජ් හා උම්රා එකට එකතු කර එක ම ඉහ්රාමයෙන් කරන ක්‍රමයකි.

මෙම ආකාර තුනෙන් ඕනෑ ම ක්‍රමයක් අනුගමනය කරමින් කෙනෙකුට හජ් ඉටු කළ හැකි ය.

## හජ් ඉටු කරන ආකාරය

දුල්හජ් අට වන දින හජ් ආරම්භ වේ. එදින හාජිවරු ස්නානය කර, පිරිසිදු වී, සුවඳ විලවුන් තවරා, නියියතයත් සමග ඉහ්රාම් ඇඳ, නතර වී සිටින ස්ථානයේ සිට තල්බියා පවසමින් මිනාවට පැමිණෙති. එහි දී ඔවුහු ලුහර්, අසර්, මෑරිබ්, ඉෂා හා සුබ්හු සලාත් ඉටු කරති. රකඅත් හතරක් වන සලාත් රක්අත් දෙකක් ලෙස කෙටි කර ඉටු කිරීම සුන්නත් වේ. එහි සිට නව වන දින හිරු උදා වූ පසු අරෆාවට යති; එහි ලුහර් සමග අසර් එකතු කර ද කෙටි කර ද ඉටු කරති; බොහෝ වේලාවක් දීර්ඝ ලෙස දුආ පාරායනය කරමින් කාලය ගත කරති. හිරු බැසගිය පසු එහි සිට මුස්දලිෆාව කරා ගමන් කරති. එහි මෑරිබ් හා ඉෂා සලාත් එකතු කර ඉටු කරති; ඉෂා කෙටි කර ඉටු කරති; එදින රාත්‍රිය මුස්දලිෆාවේ ගත කරති.

දහවන දින මුස්දලිෆාවේ සුබ්හු සලාතය ඉටු කර මිනාව බලා පිටත් වෙති. (ජම්රාහ්වල ගල් ගැසීමට ගල් ද එකතු කර ගනිති.) මිනාවෙන් පිටත් වී (ලුහර්වලට පෙර) ජම්රතුල් අකබාහි ගල් හතක් ගසති. පසුව හිසකෙස් (කාන්තාවන් හිස කෙස්වලින් කුඩා ප්‍රමාණයක්) කැපිය යුතු ය. එදින දසවන චන්ද්‍ර දිනය වන ඊද් උත්සව දිනය වන බැවින් ඉහ්රාම් ඇඳුම ඉවත් කර සාමාන්‍ය ඇඳුමක් ඇඳ ගනිති. ඉන්පසු මක්කාවට ගොස් තවාෆුල් ඉෆාලා ඉටු කරති. මෙය ප්‍රමාද කර ද ඉටු කළ හැකි ය.

දුල්හජ් 11, 12, 13 යන දිනවල ලුහර්වලට පසු මිනාහි රැඳී සිට ජම්රා තුනෙහි ම ගල් ගසති. පෙර කී පරිදි තවාෆුල් ඉෆාලා ඉටු නොකළ අය කෘබතුල්ලාහ්වට ගොස් එය ඉටු කරති. තවාෆ්වලට පසු සඊ ඉටු කළ යුතු ය. අවසාන වශයෙන් මක්කාවේ සිට තම මව්බිමට හෝ මදීනාවට හෝ පිටත් වීමට පෙර තවාෆුල් විදා ඉටු කළ යුතු ය.

## ප්‍රයෝජන

**හජ් කිරීමට හැකියාව තිබිය දී එය ඉටු නොකළ අය යහූදිවරයකු ලෙස හෝ නසාරාවරයකු ලෙස මරුමුවට පත් වෙති. (තිර්මිදි)** යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමන් පවසා ඇත. **"නිසි ආකාරයට හජ් ඉටු කළ තැනැත්තා එදින උපන් ළදරුවකුගේ තත්ත්වයට පත් වේ." (බුහාරි)** යනුවෙන් ද නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමන් පවසා ඇත. හජ් කිරීම සඳහා නිවසින් පිටව ගිය කෙනෙකු හජ් ඉටු කිරීමට පෙර අතර මඟ දී මිය ගිය ද ඔහුට හජ් ඉටු කළ කුසල හිමි වේ.

එපමණක් නොව, හජ් මගින් ගැත්තෙක් තම සම්පූර්ණ යටහත්භාවය අල්ලාහ් වෙත පෙන්නුම් කරයි. ඔහු ඒ වෙනුවෙන් තම කාලය, සම්පත්, සිරුර, සිත ආදී සියල්ල යොමු කරයි; පුණ්‍ය කටයුත්තක් වෙනුවෙන් තම කාලය වැය කරයි; දේව සිතුවිල්ලෙන් සතුටක් ලබයි; තක්වාව වර්ධනය කර ගනියි; සහෝදර මුස්ලිම්වරුන් සමඟ එක්ව සිට හජ් ඉටු කිරීමෙන් සමානාත්මතාව, සහෝදරත්වය, එකමුතුකම, කැප කිරීම, ඉවසීම, සහජීවනය, පරලොව මෙනෙහි කිරීම යනාදිය හජ් මගින් පුහුණු කරනු ලබයි.



## අභ්‍යාස

1. හජ්හි ෆර්ලු හා වාජිබ් වෙන - වෙන ම සඳහන් කරන්න.

2. හජ් මගින් ඇති වන සමාජීය ප්‍රයෝජන හතරක් ලියන්න.

3. හජ් වගකීම ඉටු කළ හැකි ආකාර තුන සඳහන් කරන්න.

4. හජ් වගකීම අනිවාර්ය වූයේ හිජ්රි කී වන වසරේ දී ද?

## ක්‍රියාකාරකම්

හජ් වගකීම ඉටුකළ කෙනෙකු මුණ ගැසී, ඔහුගේ අත්දැකීම් විමසා ලියන්න.

# 12

# කාලය රැක ගනිමු



අල්ලාහ් මිනිසාට ලබා දී ඇති දායාද අතරින් කාලය ප්‍රමුඛස්ථානයක් ගනී. මිනිසාගේ ආයු කාලය තුළ ගතකරන එක විනාඩියක්, කිසි දු වස්තුවකට හෝ සම්පතකට සමාන නොවේ. ඔහුගේ මෙලොව පරලොව ජීවිතයේ ජය පරාජය තීරණය කිරීමෙහි ලා කාලය භාවිත කළ ආකාරය ඉතා වැදගත් වේ.

කාලයේ වැදගත්කම ඇඟවීමට අල්ලාහ් කාලය මත දිවුරා ඇත. **"කාලය මත දිවුරා පවසමි."** (103 : 01) **"අරුණෝදය මත දිවුරා පවසමි."** (89 : 01) **"උදා වන අලුයම මත ද දිවුරා පවසමි."** (81 : 18) **"පෙරවරුව මත දිවුරා පවසමි."** (93 : 01) කාලයේ වැදගත්කම අඟවන මෙවැනි වැකි රැසක් අල්කුර්ආනය තුළ දක්නට ලැබේ.

කාලය යනු අල්ලාහ් විසින් ප්‍රදානය කරන ලද අමානතය (විශ්වාසයෙන් රැකගත යුතු) විශේෂිත දායාදයකි. එය යටත් කර ගැනීමට හෝ අහිමි වී ගිය පසු නැවත ලබා ගැනීමට හෝ නොහැකි ය. මෙය මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ පහත හදීසය මඟින් පැහැදිලි කෙරේ.

"පරමාන්ත දිනයේ දී කරුණු හතරකට පිළිතුරු නොදෙන තුරු කිසිදු මිනිසෙකුට ඉවත්ව යා නොහැකි ය. තම තරුණ කාලය ගත කළේ කෙසේ ද, දැනුම උපයෝගී කළේ කෙසේ ද, වස්තුව කෙසේ උපයා කෙසේ වියදම් කළේ ද, ජීවිත කාලය ගත කළේ කෙසේ ද, යනුවෙන් ඒ ප්‍රශ්න හතර පැවසූහ. (තිර්මිදි)

කාලය නාස්ති කිරීම මරණයටත් වඩා වැඩි විපතකි. මක්නිසාදයත්, මරණය මිනිසා ජීවිතයේ එක ස්ථානයක සිට තවත් ස්ථානයකට ගමන් කරවයි. නමුත්, කාලය නාස්ති කිරීම මගින් ජීවිතයේ අරමුණ බිඳ වැටී ජීවිතය පරාජය කරා ගමන් කරයි.

ඉස්ලාමීය මූලික ඉබාදත් කාලය සමඟ සම්බන්ධ කර දක්වා ඇති හෙයින් මෙහි වැදගත්කම තවදුරටත් විදහා දක්වයි. මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වෙත පැමිණි අයෙකු "අල්ලාහ්ගේ ධර්ම දූතයාණනි! යහ ක්‍රියාවන් අතුරින් අල්ලාහ් වඩාත් ම ප්‍රිය කරන්නේ කුමක් ද?" යැයි විමසූ විට "ආරම්භක වේලාවේ දී සලාතය ඉටු කිරීම වේ," යනුවෙන් මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (මුස්ලිම්)

"අල්ලාහු තආලා විසින් මවන ලද දින අතරින් විශේෂිත කාලයන් කිහිපයක් ඇත. නුඹලා ඒවා උපයෝගී කර ගන්න. ඒවා උපයෝගී කර ගත් අයට ඉන් පසු ජීවිතය තුළ අලාභයක් ඇති නොවේ," යැයි මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (තබරානි)

ජීවිතය ජය ගැනීමට කාලය කළමනාකරණය කිරීම අත්‍යවශ්‍ය ය. මෙය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මෙසේ අවධාරණය කළහ: "කරුණු පහක් සිදුවීමට පෙර කරුණු පහක් ප්‍රයෝජනයට ගන්න. මරණයට පෙර ජීවිතය, රෝගී තත්ත්වයට පෙර නීරෝගීභාවය කාර්‍යබහුලතාවයට පෙර විවේකය, වයෝවෘද්ධභාවයට පෙර තාරුණ්‍යය, දුගීභාවයට පෙර ධනය ප්‍රයෝජනයට ගන්න." (හාකිම්)

'අල්ලාහ්ගේ නිඃමත් දෙකක් පිළිබඳ ව බොහෝ දෙනෙක් ඉතා ම නොසැලකිලිමත් ව සිටිති. ඒවා නම් නීරෝගී බව හා විවේකය වේ.' යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (බුහාරි)

කාලය ක්‍රමානුකූලව ප්‍රයෝජනයට ගෙන වාර්තා පිහිටවූවන් ඉතිහාසය තුළ අඛණ්ඩ ලෙස දැක ගත හැකි ය. කලීෆා අබූබක්ර් රලියල්ලාහු අන්හු තුමා තම වසර දෙකක සීමිත රාජ්‍ය පාලන කාලය තුළ වැදගත් අභියෝග රැසක් ජය ගත්තේ ය. අල්කුර්ආනය එක්රැස් කිරීම, ව්‍යාජ නබිවරුන්ගේ කුමන්ත්‍රණ මර්දනය කිරීම, ඉස්ලාමීය රාජ්‍යය ශක්තිමත් කිරීම යනාදිය ඒ අතරින් කිහිපයකි.

කලීෆා උමර් ඉබ්නු අබ්දුල් අසීස් රහ්මතුල්ලාහි අලෛහි තුමාගේ පාලන කාලය වසර දෙකක් පමණ විය. හදීස් එක්රැස් කිරීමේ සේවය ආරම්භ කිරීම, ඉස්ලාමීය අධිරාජ්‍යය සකාත් මගින් දුගී බවින් තොර වූ සමෘද්ධිමත් රටක් බවට පත් කිරීම යනාදිය, කෙටි කාලයක් තුළ දී එතුමා පිහිට වූ වාර්තා කිහිපයකි.

40 වන වියේ දී අභාවප්‍රාප්ත වූ ඉමාම් නවවි රහ්මතුල්ලාහි අලෛහි තුමා ග්‍රන්ථ 500කටත් අධික ප්‍රමාණයක් ලියා ඇත.

මෙවැනි වාර්තාවන්ට හේතුව වූයේ ඔවුන් කාලය ක්‍රමානුකූලව සැලසුම් කර ප්‍රයෝජනයට ගැනීම වේ.

කාලය ක්‍රමානුකූලව ප්‍රයෝජනයට ගෙන ජය ලැබීමට අප පහත සඳහන් කරුණු පිළිබඳව දැඩි අවධානයක් යොමු කළ යුතු ය.

- කාලය අමානත් වස්තුවකි. පරමාන්ත දිනයේ දී ඒ පිළිබඳව අප විමසුමකට ලක් වන බව සිහියේ තබා ගැනීම
- කාලය අඩු බවත් වගකීම් වැඩි බවත් වටහා ගෙන ක්‍රියා කිරීම
- සලාතය ප්‍රමුඛ අමල්, නියමිත කාලය තුළ දී ඉටු කිරීම

- තිලාවතුල් කුර්ආන්, දික්ර්, උදේ - සවස, අව්රාද් යනාදිය නොකඩවා ම පාරායනය කිරීම.
- දෛනිකව ඉටු කළ යුතු ක්‍රියාවන් සැලසුම් කර ගැනීම
- දිනපතා ඉටු කළ ක්‍රියාවන් සෑම දින ම අවසානයේ දී ස්වයං ඇගයීමකට ලක් කිරීම
- ඉගෙනීමේ කටයුතු දිනපතා ම සැලසුම් කර ඉටු කිරීම
- විවේක කාලය ප්‍රයෝජනවත් අයුරින් ගත කිරීම
- නිෂ්ඵල ක්‍රියාවන්ගෙන් වැළකී ජීවත් වීම
- මැලිකම් දුරු කර උනන්දුව ඇති කර ගැනීම

**කාලය නියමාකාරයෙන් භාවිත කිරීමට අප තරුණ වයසේ සිට පුරුදු විය යුතු ය. නියමිත වේලාවේ දී නියමිත කාර්යය ඉටු කිරීම මඟින් කාල කළමනාකරණය කරමින් ජීවන චරිතය හැඩගස්වා ගැනීම මෙලොව හා පරලොව ජයග්‍රහණයට හේතු වේ.**

## අභ්‍යාස

1. කාලය පිළිබඳව අල්කුර්ආනයේ සඳහන් වන ආයත් දෙකක් ලියන්න.
2. කාලයේ වැදගත්කම හුවා දක්වන හදීස් දෙකක් ලියන්න.
3. කාලය අපතේ යැවීම මරණයට වඩා විනාශයක් වන්නේ මන්දැයි පහදන්න.
4. කාලය නිකරුණේ ගත කරන අවස්ථා පහක් ලියන්න.

## ක්‍රියාකාරකම්

1. දිනපතා ඉටු කළ යුතු යුතුකම් හා වගකීම් ඇතුලත් කාල සටහනක් සූදානම් කරන්න.
2. සති අන්ත දිනය ප්‍රයෝජනයට ගත හැකි සැලැස්මක් සූදානම් කර ක්‍රියාත්මක කරන්න.
3. කාලය අපතේ හරින ඔබගේ මිතුරෙකුට "කාලය කඩුවක් වැනි ය, නුඹ එය නියමාකාරව භාවිතයට නොගතහොත් එය නුඹ කපා දමයි." යන ආකාරයෙන් අවවාද කර ලිපියක් ලියන්න.

# 13

# මස්ජිද්

මුස්ලිම්වරුන්ගේ ජීවිතයත් සමඟ දෛනික ව බැඳී වෙලී පවතින ස්ථානය මස්ජිදය වේ. එය දයාවෙන් පිරි ස්ථානයකි; නිහඬතාව හා භක්තිය පිරී ඉතිරෙන ස්ථානයකි; මලාඉකාවරුන් වඩින ස්ථානයකි. එබැවින් මුස්ලිම්වරයකු හැඟීම්බර, ප්‍රබල සම්බන්ධතාවක් මෙයත් සමඟ පවත්වා ගත යුතු ය. එය ඊමානය විදහා දක්වන සංකේතයකි. පරලොව දී විමුක්තිය ලැබෙන මාර්ගයකි.

"කවරෙකුගේ සිත මස්ජිදය හා සමීප ව බැඳී පවතින්නේ ද ඔහු පරලොවෙහි අර්ෂයේ සෙවණෙහි සිටියි." (බුහාරි)

අල්ලාහ්ගේ මාර්ගයේ යාමට උපයෝගී වන දේව මැදුර "මස්ජිද්" යන පදයෙන් හැඟ වේ. මෙහි ඍජු අර්ථය සුජූද් කරන ස්ථානය නම් වේ.

**"නියත වශයෙන් ම මස්ජිද් සියල්ල අල්ලාහ් නැමදීම සඳහා ඇත." (72 : 18)**

අල්ලාහ් මස්ජිද්වල තත්ත්වය උසස් කොට ගරුකර එය තමාට ම හිමි වූවක් බව පවසමින් මෙලොව තමාට ඉතා ප්‍රියමනාප ස්ථානය මස්ජිද් යැයි වර්ණනාත්මක ව පැවසීමෙන් එහි විශේෂත්වය මැනවින් පෙන්නුම් කෙරේ.

මෙවන් විශේෂතාවලින් සපිරි දේව නිවාසවල පූජනීයත්වය රැකගැනීම ද එයට හිමි ගෞරවය පිරිනැමීම ද, එය රැක ගැනීම ද, අප සතු යුතුකමකි.

ඒ අනුව මස්ජිදයන් තුළ රැකිය යුතු විනය පිළිබඳව ඉස්ලාම් දහම අපට උගන්වා දී ඇත. ඒවා **"ආදාබුල් මස්ජිද්"** යනුවෙන් හැඳින්වේ.



## 1. නැමදුම් ඉටු කරන ස්ථානයකි

අප අල්ලාහ් වෙනුවෙන් නැමදුම් වතාවත් ඉටු කරන පූජනීය ස්ථානය මස්ජිද් වේ. සලාත් ඉටු කිරීම, අල්ලාහ් සිහි කිරීම, අල්කුර්ආන් පාරායනය කිරීම ආදිය එහි ඉටු කළ යුතු ඉතා වැදගත් ඉබාදත් වේ.

**"එම නිවාසවල අල්ලාහ්ගේ ශුද්ධ නාමයන් පැවසීමට ද, එයට ගරු කිරීමට ද අණ කර ඇත." (24 :36)**

"නියත වශයෙන් ම මස්ජිදයන් අල්ලාහ් දික්ර් (මෙනෙහි) කිරීමට ද, සලාත් කිරීමට ද, අල්කුර්ආනය පාරායනය කිරීමට ද නියමිත ස්ථානයන් වේ." (මුස්ලිම්) යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් පවසා ඇත.



## 2. තහියියතුල් මස්ජිද් සලාතය ඉටු කිරීම

ඉස්ලාම් දහමේ කිසි දු ස්ථානයකට නොදුන් වැදගත්කමක් ද පූජනීය බවක් ද මස්ජිද්වලට ලබා දී ඇත. එබැවින් මස්ජිදයකට පිවිසෙන කෙනෙකු පඬුරක් ලෙස රකඅත් දෙකක සලාතයක් ඉටු කළ යුතු බවට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ අණ කළහ.

"ඔබෙන් කෙනෙකු මස්ජිදයට පිවිසි විට රකඅත් දෙකක සලාතයන් ඉටු නොකර එහි වාඩි නොවන්න." (බුහාරි)

සිකුරාද දිනයක නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ජුමුආ දේශනාව පවත්වන අවස්ථාවේ දී, මස්ජිදයට පිවිස වාඩි වූ සුලෛකා අල් අද්බානි නම් සහාබිවරයා දෙස බලා "රකාඅත් දෙකක් ඉටු කර වාඩි වන්න," යැයි අණ කළහ. එබැවින් මස්ජිදයට ඇතුළු වන කෙනෙකු රකඅත් දෙකක සලාතයක් ඉටු කිරීම සුන්නත් වූ ක්‍රියාවකි. මෙය "තහියියතුල් මස්ජිද්" (මස්ජිදය සඳහා වන පඬුර) සලාතය වේ.

මෙය මස්ජිදයට ම හිමි විශේෂත්වයකි. එහෙත් මස්ජිදුල් හරාම් මස්ජියට පිවිසෙන අය මෙම සලාතය වෙනුවට තවාෆ් ඉටු කිරීම එයට හිමි තහියියතුල් මස්ජිද් වේ.

## 3. පිරිසිදුකම රැකීම

මස්ජිදයට ඇතුළු වන කෙනෙකුගේ ඇඳුම පිරිසිදු ව තිබිය යුතු ය. නජීස් වූ සිරුරකින් හෝ ඇඳුමකින් හෝ ඇතුළු වීම ඉස්ලාම් දහම වළක්වා ඇත.

**"ආදම්ගේ දරුවනි! සියලු නැමදුම් ස්ථානයන්හි ම ඇඳුමින් තොපව අලංකාර කර ගනිවු."** (7: 31) යනුවෙන් අල් කුර්ආනයේ සඳහන් වේ.

සැම විට ම සුදු වර්ණ ඇඳුම් ඇඳීම නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා අගය කර ඇත.

"ඔබ සුදු වර්ණ ඇඳුම් අඳින්න. මන්ද යත් එය ඔබගේ ඇඳුම් අතරින් උසස් ම ඇඳුම් වේ. තව ද, ඔබ අතර මිය ගිය අය ද එමගින් ම කෆන් කරන්න." (අබූදාවූද්)

## 4. මස්ජිදයට ඇතුළු වන විට හා පිටත් වන විට ප්‍රාර්ථනා කිරීම

ඔබ අතරින් ඕනෑ ම කෙනෙකු මස්ජිදයට පැමිණියේ නම් ඔහු ප්‍රථමයෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් කෙරෙහි සලවාත් පැවසිය යුතු ය. පසුව දකුණු පාදය මුල් කොට තබා,

اَللَّهُمَّ افْتَحْ لِيْ أَبْوَابَ رَحْمَتِكَ

**"දෙවියනි, මා හට ඔබගේ කරුණා දොරටුව විවර කර දෙනු මැන." යැයි ප්‍රාර්ථනා කළ යුතු ය. (මුස්ලිම්)**

මස්ජිදයෙන් සිට පිටත් වන විට ප්‍රථමයෙන් වම් පාදය තබා,

اَللَّهُمَّ إِنِّي أَسْأَلُكَ مِنْ فَضْلِكَ

**"දෙවියනි, මම ඔබගේ කරුණාව ඔබගෙන් ඉල්ලා සිටින්නෙමි" යැයි ප්‍රාර්ථනා කළ යුතු ය. (මුස්ලිම්)**

## 6. මස්ජිදයේ නිශ්ශබ්දතාව රැකීම

මස්ජිදයන් දේව මාලිගාවන් ය. එබැවින් එහි නිශ්ශබ්ද ව ද, යටහත් ව ද හැසිරිය යුතු අතර එහි ගෞරවය රැකීම ද මුස්ලිම්වරුන්ගේ යුතුකමකි.

වරක් මස්ජිදුල් නබවියේ මිනිසුන් දෙදෙනකු කතා කරමින් සිටිනු උමර් රළියල්ලාහු අන්හු තුමා දුටුවේ ය. ඔවුන් දෙදෙනා තමා වෙතට කැඳවාගෙන එන ලෙස එතුමා පැවසුවේ ය.

ඔවුන් පැමිණි විට "ඔබ දෙදෙනා පැමිණියේ කොහි සිට දැයි" විමසුවේ ය. එයට ඔවුහු "අප තායිෆ් ප්‍රදේශයට අයත් වූවන්" යැයි පැවසූහ. එවිට උමර් රළියල්ලාහු අන්හු තුමා "ඔබ මදීනාවාසීන් වන්නහු නම් අල්ලාහ්ගේ දූතයාණන්ගේ මස්ජිදය වූ මෙම මස්ජිදුල්

නබවියෙහි උස් හඬින් කතා කළ ඔබ දෙදෙනාට ම දඬුවම් පමුණුවාලන්නෙමි" යැයි පැවසුවේ ය.

**එබැවින් මස්ජිද්වල උස් හඬින් කතා කිරීම, අන් අයට බාධා වන අයුරින් ශබ්ද නගා අල්කුර්ආනය පාරායනය කිරීම, සලාත් කරන්නන්ට ඉදිරියෙන් හරහට යාම, වාඩි වී සිටින අය ඈත් කර උරහිසට ඉහළින් පසු කර යාම, වෙළෙඳාම් කිරීම, අස්ථානගත වූ දේ පිළිබඳව නිවේදනය කිරීම ආදිය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ වැළැක්වූහ.**

## 5. මස්ජිදය පිරිසිදු ව ද, අලංකාර ව ද, පිළිවෙළට ද තබා ගැනීම

මස්ජිදය අතු ගෑම, පිරිසිදු ව තබා ගැනීම, මස්ජිදයේ අපද්‍රව්‍ය බැහැර කිරීම, සුවඳ විහිදීමට සැලැස්වීම ආදිය ස්වර්ගයට කැඳවාගෙන යන මාර්ග වේ. (ඉබ්නු මාජාහ්)

"මස්ජිදය පිරිසිදු ව තබා ගැනීම හූරුල්ඊන්වරියන්ට හිමි මහර් වේ." (තබරානි)

ඉස්ලාමයේ සංකේතාත්මක ලාංඡනය ද, මුස්ලිම්වරුන් අතර ප්‍රධානස්ථානය ද වන මස්ජිදය අලංකාර ව, පිරිසිදු ව හා පිළිවෙළට තබා ගැනීම ද, එහි සුවඳ විහිදීමට සැලැස්වීම සඳහා ද සැම දෙනා දයක වීම උසස් වූ යහ ක්‍රියාවකි.



## 7. මස්ජිද් සමඟ සමීප සම්බන්ධතාවක් රැකීම

මුස්ලිම්වරයකු සැම විට මස්ජිදය සමඟ සමීප සම්බන්ධතාවක් රැකීම ද, එහි සේවාවල මුළු හදවතින් ම නිරත වීම ද, ඒ වෙනුවෙන් ඉපැයීම ද කැපවීම ද, අත්‍යවශ්‍ය ය.

මුස්ලිම්වරයකු මස්ජිදයේ සලාතයක් ඉටු කර පසු ව ඊළඟ සලාතය තෙක් එහි රැඳී සිටියේ නම් ඔහු එහි සිට පිට ව යන තුරු මලාඉකාවරු "දෙවියනි, මෙම මිනිසාගේ පාපයන් කමා කරනු මැන, ඔහු වෙත කරුණාව දක්වනු මැන." යැයි ප්‍රාර්ථනා කරති. (මුස්ලිම්)

**මස්ජිදයේ මහිමය වටහා ගෙන ඒවා පිරිසිදුව තබා ගනිමු. එයට හිමි විනය රැක ගනිමු. එහි ගරුත්වය ඉහළ නැංවීමට එක්ව වෙහෙස වෙමු.**

### අභ්‍යාස

1. මස්ජිදයෙහි විශේෂතා මොනවා ද?
2. මස්ජිදය සමඟ පවතින සම්බන්ධතාව ප්‍රබල කළ හැකි ක්‍රියා පහක් ලියන්න.
3. මස්ජිදයෙහි රැකිය යුතු විනය ලියන්න.
4. මස්ජිදය අලංකාර ව ද, පිරිසිදු ව ද තබා ගැනීමෙන් හිමි වන යහපත කුමක් ද?

### ක්‍රියාකාරකම්

ඔබගේ ගුරුතුමාගේ සහාය ඇති ව, ඔබ පාසලට ආසන්නයේ ඇති මස්ජිදයක් ශ්‍රමදානයක් මගින් පිරිසිදු කරන්න.

# 14

# පව් සමාව (ඉස්තිඃෆාර්)

බෙලහීනයකු ලෙස මවනු ලැබූ මිනිසා පව් කිරීමෙන් ආරක්ෂා කරන ලද පුණ්‍යවන්තයෙක් නොවේ. ඔහු පව් කළ හැකි කෙනෙකි. එසේ වුව ද අල්ලාහ් පවෙන් මිදීම සඳහා වූ මග පෙන්වීම් අපහට ගෙනහැර දක්වා ඇත. පව් සමාව හෙවත් ඉස්තිඃෆාර් එයින් එකකි. අල්ලාහු තආලා මේ පිළිබඳ ව විශේෂයෙන් සඳහන් කර ඇත.

**"ආදම්ගේ සියලු ජනයා මග වරදවා ගිය අය වෙති. පව් සමාව අයැදින්නෝ මෙලොව මග වරදවා ගත් අය අතුරින් ශ්‍රේෂ්ඨයෝ වෙති."**

නබි ආදම් අලෛහිස්සලාම් තුමා තම බිරිඳ වන හව්වා අලෛහස්සලාම් තුමිය සමග ස්වර්ගයේ ජීවත් වූයේ ය. ඉබ්ලීස් ඔවුන් වරදෙහි යෙදීමට පෙළඹවූයේ ය. ඔහුගේ කුමන්ත්‍රණයට හසු වූ එතුමා, ඒ වෙනුවෙන් අල්ලාහ්ගෙන් හඬා වැලපී පව් සමාව අයැදුවේ ය. එයට සවන් දුන් අල්ලාහ් පසුව ඔවුන්ට සමාව දුන්නේ ය.

පව් සමාව අයැදීම නබිවරුන් අතර දක්නට ලැබෙන විශේෂ ගුණාංගවලින් එකකි. **"අපගේ රබ් (පරමාධිපතියනි) අපි අපට ම අපරාධ කර ගත්තෙමු. ඔබ අපට සමා කර අපට දයාලු නොවුණහොත් නියත වශයෙන් ම අප අලාභයට පත්වූවන් වනු ඇතැ"** යි (7:23) ආදම් අලෛහිස්සලාම් තුමා යාච්ඥා කරමින් ප්‍රකාශ කළේ ය.



"පරමාධිපතියනි, මගේ පාපයන්, මාගේ දෙමව්පියන්ගේ පාපයන්, මා පිළිගෙන කරන්නන්ගේ පාපයන්, විශ්වාස කළ ස්ත්‍රී, පුරුෂ සියලු දෙනාගේ ම පාපයන් කමා කර දයාලු වූ මැනව!"(71 : 28) යනුවෙන් නබි නූහ් අලෛහිස්සලාම් තුමා පව් සමාව අයැදී ය.

"මාගේ දෙවියනි, ප්‍රතික්ෂේපකරන්නන්ගේ වේදනාවට ඔබ අප ලක් නොකරත්වා! ඔබ අපට කමා කරත්වා. නියත වශයෙන් ම (සියල්ල ම) අභිබවා යන්නා ද, ඥානවන්තයා ද, ඔබ ම වේ" (60 : 5) යනුවෙන් ඉබ්රාහීම් අලෛහිස්සලාම් තුමා පව් සමාව අයැදුවේ ය.

මෙලෙස මූසා අලෛහිස්සලාම් තුමා දාවූද් අලෛහිස්සලාම් තුමා වැනි බොහෝ නබිවරුන් අල්ලාහ්ගෙන් පව් සමාව ඇයැදූ ආකාරය අල්කුර්ආනය මගින් අපට ආදර්ශවත් ව උගන්වනු ලබයි. පව් සමාව අයැදින ලෙසට අල්කුර්ආනය අපට අණ කරයි.

"විශ්වාසවන්තයිනි, ජයග්‍රහණය ලබනු පිණිස නුඹලා සියලු දෙනා අල්ලාහ් වෙත පව් සමාව අයදිනු." (24:31)

"විශ්වාසවන්තයිනි, නුඹලා ඉතා පාරිශුද්ධව ද, සත්‍යවාදීව ද අල්ලාහ්ගෙන් පව් සමාව අයදින්න." (66:8)

පව් සමාව අයැදීම මුඃමින්වරුන්ගේ ගුණාංගයකි. පව් සමාව අයැදින්නන්ට අල්ලාහ් ස්නේහ කරන්නේ ය. පව් සමාව අයදින්නන්ගේ අයැදීම ඉෂ්ට කර දීමට අල්ලාහ් සූදනම් ව සිටියි.

"තමන් තමාට ම වැරදි කරගත් මාගේ ගැත්තනි, නුඹලා අල්ලාහ්ගේ දයාව ගැන බලාපොරොත්තු සුන් කර නොගනු. නියත වශයෙන් ම අල්ලාහ් සියලු පව් ක්ෂමා කරන්නේ ය. (39:53)

කවරකු අතෙහි මාගේ ආත්මය ඇත්තේ ද, ඔහු කෙරෙහි දිවුරා කියමි. අහස හා පොළොව අතර ප්‍රදේශය පුරවන පමණට ඔබ පව් කර තිබුණ ද, අල්ලාහ්ගෙන් පව් සමාව අයැදුවේ නම් ඔහු නියත වශයෙන් ඔබට සමාව දෙන්නේ ම ය. (අහ්මද්)

**පව් සමාව අයැදීමේ ඉතා ම උසස් ක්‍රමය ලෙස තව්බා කිරීම දක්නට ලැබේ. පාපයෙන් ඉවත් වී මුළුමණින් ම දෙවියන් වෙතට හැරී යාම යන්න මෙහි අදහස වේ.** එනම්, ගැත්තකු මෙපමණ කාලයක් ජීවත් වූ ජීවන රටාවෙන් වෙනස් වී, තවත් අලුත් ජීවන රටාවකට ප්‍රවේශ වීම යන්න මෙයින් අදහස් කෙරේ. මෙසේ වෙනස් වීම වාචික ව පමණක් නොව දැනුමෙන් ද, මනසින් ද, ක්‍රියාවෙන් ද ආදී සියල්ලෙන් ම සිදු විය යුතු ය. දිව පව් සමාව අයැදින විට ඒ සඳහා පසුතැවිලි විය යුතු ය. ඉන්ද්‍රියයන්ගෙන් සිදු වන පාපී ක්‍රියාවන්ගෙන් ඉවත් විය යුතු ය. තව්බා යනුවෙන් හඳුන්වන්නේ මෙයයි.

ඉමාම් ගස්සාලි රහ්මතුල්ලාහි අලෛහි තුමා මෙසේ පවසා ඇත. ඔබ තව්බා කරන්නේ ය; පසු ව එම තව්බාව කඩ කර ගන්නේ ය; නැවත පව් කරන්නේ ය; වහා ම තව්බා කරන්න. නැවත පාපයෙන් ගිලී මැරීමට පෙර මා මරුමුවට පත් විය යුතු යැයි ඔබ ඔබට ම පවසා ගන්න. එලෙස අඛණ්ඩ ව කරගන්න. ඔබෙන් එක් පාපයක් සිදු වූයේ නම් වහා ම තව්බා කර ගැනීම ඔබගේ පුරුද්දක් කර ගන්න. පාපයක් සිදු වූයේ නම් එයට අඛණ්ඩ ව තව්බා කර ගැනීමේ අවස්ථාව ඔබ අත් නොහැර රැක ගන්න. ඔබගේ විශ්වාසය අතහැර

නොදමන්න. ඔබගේ තව්බා කිරීමට බාධාවක් ලෙස ෂයිතාන් නොසිටිය යුතු ය. ඔබට යහපතක් සිදු වීමට එය ම හේතු වේ.



පාපයෙන් මිදීමට එක් ක්‍රමයක් ලෙස තව්බා දක්නට ලැබෙනවාක් සේ ම, පව් සමාව ලබා ගැනීම සඳහා තවත් එක් ක්‍රමයක් ලෙස ඉස්තිඃෆාර් දක්නට ලැබේ. අල්කුර්ආනය හා සුන්නාව මෙම කරුණු අධික ව අවධාරණයට ලක් කරයි. තව්බාව සම්පූර්ණ කිරීමේ ක්‍රියාවක් ලෙස **ඉස්තිඃෆාර්** දක්නට ලැබේ.

නබි මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පෙර - පසු පාපයන් සඳහා සමාව හිමි වූ පාරිශුද්ධවන්තයෙකි. එසේ වුව ද, එතුමාණෝ දිනපතා හැත්තෑවතාවකට අධික අවස්ථා ගණනාවක දී ඉස්තිඃෆාර් කිරීම මගින් අපට ආදර්ශවත් ජීවිතයක් පෙන්නුම් කළහ.

හසන් රළියල්ලාහු අන්හු තුමා මෙසේ පවසා ඇත්තේ ය. "ඔබගේ නිවසේ දී, කඩ සාප්පුවක දී, මග තොට දී, සභාවක දී ඉස්තිඃෆාර් අධික ව කරන්න. ඒ මන්ද යත් සමාව හිමි වන්නේ කුමන වේලාවක දී දැයි කිව නොහැකි බැවිනි."

උමර් රලියල්ලාහු අන්හු තුමා කුඩා දරුවන්ගෙන් ඔවුන් පව් නොකළ ප්‍රමාණයට ඉස්තිඃෆාර් කරන ලෙස ආයාචනා කළේ ය. තව ද, "පව් සඳහා වූ ප්‍රතිකර්මය ඉස්තිඃෆාර් වේ" යනුවෙන් ආයිෂා රළියල්ලාහු අන්හා තුමිය පවසා ඇත.

ගැත්තෙකුට පව් සමාව අයැදීමට ඉතා සුදුසු ම කාලය ලෙස තහජ්ජුද් කාලය දක්නට ලැබේ."**යහ ගැත්තන් අලුයම කාලයේ පව් සමාව අයැදී**" යනුවෙන් අල්කුර්ආනයේ සඳහන් වේ. සිකුරාදා දිනය, අරෆා දිනය, රමළාන් මාසය ආදිය පව්සමාව ලබා ගැනීම සඳහා වූ විශේෂ අවස්ථා ලෙස හඳුනා ගෙන ඇත. එබැවින් ගැත්තන් පව් සමාව අයැදීම ප්‍රමාද නොකළ යුතු ය. තමා කළ පාපය වෙනුවෙන් වහා ම තව්බා කරන අතර නැවත නැවතත් පව් සමාව අයැදීමට වේලාවන් ද වෙන්කර ගත යුතු ය.

### පව්සමාව අයැදීම සඳහා වූ කොන්දේසි :

1. තමා කළ පාපයන් ගණනය කර පැහැදී පසුතැවිලි වීම
2. කළ පාපය මිනිසා හා සම්බන්ධ වන්නේ නම් ප්‍රථමයෙන් ඔවුන්ගෙන් සමාව ලබා ගැනීම
3. පිරිසිදු චේතනාවෙන් (ඉඃලාස්) පව් සමාව අයැදීම
4. නිශ්චිත පාපය නැවත නොකරන බවට අධිෂ්ඨාන කර ගැනීම
5. තමා කළ පාපය සම්පූර්ණයෙන් අතහැර එයින් මිදීම

තව්බා, ඉස්තිඃෆාර් යන දේ මුස්ලිම්වරයකු තුළ අනිවාර්යයෙන් දක්නට තිබිය යුතු ගුණාංගයන් ය. මෙමගින් පාපයන් කමා කරනු ලැබේ. දෙවියන්ට සමීප වීම හා දේව දයාව ලැබීම සිදු වේ. නිරයෙන් ආරක්ෂා වී ස්වර්ගයට යාමේ අවස්ථා උදා වේ; ජීවිතයේ සතුට හා අභිවෘද්ධිය උදා වේ. සාගතය හා නියඟය නැති වී සුන්දරත්වය ද සශ්‍රීක බව ද ඇති වේ. ජීවිතයේ යහපත් දේ වැඩි වී උසස් ගැත්තකු ලෙස වෙනස් වීමට මඟ පෑදේ.

**එබැවින් අපි ද, තව්බා, ඉස්තිඃෆාර් යන්නෙහි යථාර්ථය පැහැදිලි ව දැනගෙන එය ජීවිතයේ පිළිපැද දෙලොවෙහි ම ජය ලැබීමට උත්සාහ කරමු.**

**අභ්‍යාස**

1. පව් සමාව අයැදිය යුතු බව අවධාරණය කරන අල් කුර්ආන් වැකි දෙකක් ලියන්න.
2. පව් සමාව අයැදීමට සුදුසු අවස්ථා පහක් ලියන්න.
3. පව් සමාව අයැදීමේ දී පිළිපැදිය යුතු කොන්දේසි ලියන්න.

**ක්‍රියාකාරකම්**

නබිවරු අල්ලාහ්ගෙන් පව් සමාව අයැද ප්‍රාර්ථනා කළ අල්කුර්ආන් වැකි ගොනු කර පන්ති කාමරයේ ප්‍රදර්ශනය කර තබන්න.



# 15

# අල්කුර්ආනය පහළ වීම

අදට සියවස් 15කට පෙර අරාබි දේශය පුරා ම නූගත්කම නමැති අන්ධකාරය පැතිරී තිබුණි. පාපී ක්‍රියාවන්ගේ ප්‍රතිමූර්තියක් ලෙස එහි වැසියන් ජීවත් විය. මෙම කාල පරිච්ඡේදය තුළ ඔවුන් අතර මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ඉපදුණාහ. ඔහු සත්ගුණවත් කෙනකු ලෙස හැදී වැඩුණේ ය. එම වැසියන්ගේ අඥානකම දැක දැඩි ලෙස කනගාටුවට පත් වූවෝ ය. එතුමාණෝ ව්‍යාකුලත්වයෙන් මහා පාපී ක්‍රියාවන්ගෙන් ඔවුන් මුදවා ගන්නේ කෙසේ දැයි මග සොයමින් සිටියහ. එතුමා තරුණ වියට පැමිණ සමාජයේ වගකීම් දැරීමේ තත්ත්වයට පැමිණි විට සමාජය පිළිබඳ උනන්දුව හා කනගාටුව තව තවත් වැඩි විය. සමාජ ප්‍රතිසංස්කරණය ගැන තව දුරටත් සිතන්නට විය.

මක්කාවේ සිට සැතපුම් තුනක් පමණ දුරින් හිරා නම් ගුහාවක් තිබුණේ ය. අධික වශයෙන් වැඩි ම වේලාවක් තනිව ම එහි ගොස් තම සමාජයේ තත්ත්වය ගැනත් ඔවුන්ගේ විමුක්තිය පිළිබඳවත් එතුමාණෝ සිතන්නට වූවෝ ය; කෑමට - බීමට අවශ්‍ය දේවල් ද රැගෙන ගියහ. ඒවා අවසන් වූ විට එතුමා ම නිවසට පැමිණ නැවතත් රැගෙන ගියේ ය. සමහර වේලාවල බිරිඳ කදීජා ද ගෙනැවිත් දුන්නී ය.




එම අවස්ථාවේ දී මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ 40 වන වියට පා තබමින් සිටියහ. 40 වන විය සම්පූර්ණ වීමට මාස 6ක් පමණ තිබිය දී එතුමාට පැහැදිලිව සිහින පෙනෙන්නට විය. ඒවා එලෙස ම සිදු වන්නටත් විය.

මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ට 40 වන විය සම්පූර්ණ විය. එදත්, වෙන ද මෙන් හිරාහි රැඳී සිටියහ. සවස් වරුව ගෙවී යමින් තිබුණි. හිරා හා එය අවට ප්‍රදේශය ද අඳුර වෙලාගන්නට විය.

එවිට හිරාහි තනිව ම සිටි මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් අසලට පැමිණි ආලෝකයෙන් ඔපවත් වූ රුවක් එතුමාණන් තරයේ වැළඳගෙන **'ඉක්රඃ'** (පවසන්න) යැයි පැවසී ය. තමා කියවීමට නොදත් බව කී විට යළිත් එම රුව **'ඉක්රඃ'** යැයි පැවසී ය. එවිටත් පෙර කී පිළිතුර ම දුන්හ. නැවතත් එම රුව තෙවන වරටත් එතුමා වැළඳගෙන **'ඉක්රඃ'** යැයි කීවේ ය. එවිටත් මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් නොදත් බව කී විට, එම රුව සූරා අලක්හි මුල් ආයත් 5 පාරායනය කර පෙන්වා, එය නැවත පාරායනය කරන ලෙස පැවසී ය. මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ඒවා කටපාඩම් කර ගත්තේ ය.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් හිරාහි සිටින විට අල්කුර්ආනය ප්‍රථමයෙන් ම පහළ වූයේ මෙලෙස ය. හිරාහි ආලෝකවත් රුවින් පෙනී සිටි ජිබ්රීල් අලෛහිස්සලාම් තුමා, නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්හට අල් කුර්ආනය ඉගැන්විය. මෙමගින් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් නබිවරයකු ලෙස ප්‍රකාශයට පත්විය.

අල්ලාහ් මක්කා හා මදීනාවේ වසර 23ක් තිස්සේ අල්කුර්ආනය පහළ කළේ ය. එක විට ම පහළ නොකර අවස්ථාවට උචිත ලෙසත්, වාතාවරණයට ගැළපෙන ලෙසත් එක් වාක්‍යයක්, වාක්‍ය කිහිපයක්, සූරාවන් ලෙස අල්කුර්ආනය පහළ විය.

වහී පහළ වන එක් එක් අවස්ථාවන්හි දී නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ ශරීරයෙහි වෙනස්කම් සිදු විය. තමා වෙත පහළ වූ වහී මතනය කර, අනතුරුව එතුමාණන් තමන් සමග සිටි තමාගේ බිරින්දෑවරුන් හා සහාබාවරුන්ට එය පාරායනය කර පෙන්වා ඔවුන් ද මතනය කිරීමට යොමු කළේ ය.

ඒ සමඟ **'කුත්තාබුල් වහී'** නමින් වහී ලියන්නන් ලෙස පත් කළ සහාබිවරුන් කැඳවා එසැණින් ම ඒවා ලිවීමට කීහ. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ කාලයේ කටපාඩම් කිරීම, ලිවීම යන දෙඅංශයෙන් ම අල්කුර්ආනය තම ආරක්ෂාව ලබා ගත්තේ ය.

**අභ්‍යාස**

**කෙටි පිළිතුරු ලියන්න.**

01. ප්‍රථමයෙන් ම වහී පහළ වූ ආකාරය සටහන් කරන්න.

02. හිරා ගුහාව වැදගත් වන්නේ ඇයි?

03. මුලින් ම පහළ වූ වාක්‍යයන් අඩංගු සූරාව කුමක් ද?

04. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් හිරා ගුහාවට ගියේ ඇයි?

05. ඉක්රඃ යන පදයේ අර්ථය කුමක් ද?

**පැවරුම්**

අල්කුර්ආනයේ, පළමුවෙන් ම පහළ වූ වාක්‍ය පහ අරාබි බසින් ලියා පන්ති කාමරයේ ප්‍රදර්ශනය කරන්න.



# 16

# අල්කුර්ආනය ගොනු කිරීම

අල්කුර්ආනය පහළ වූ කාලයේ ම එය ගොනු කිරීමේ කටයුතු ආරම්භ විය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ එතුමාට වහී පැමිණි අවස්ථාවල තමා සමග සිටි සගයින්ට පැවසූහ; තමා ද මනනය කර එලෙස ම තම සගයන්ට ද එය මනනය කිරීම සඳහා යොමු කළහ. අල්කුර්ආනය කොටස් වශයෙන් පහළ වීම එය මනනය කිරීමට පහසුවක් විය.

එසේ ම නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ තමාට පහළ වූ වාක්‍යයන් ග්‍රන්ථාරූඪ කිරීම සඳහා සමහර සහාබිවරුන් නිල වශයෙන් පත් කළහ. '**කුත්තාබුල් වහී**' (වහී සටහන් කරන්නන්) යන නමින් හැඳින්වූ මොවුහු අල්කුර්ආන් වාක්‍යයන් පහළ වූ විගස ඒවා සටහන් කර ගත්හ. සතුන්ගේ සම්, පළල් වූ ඇටකටු, ගස්වල පොතු යනාදිය ඒවා ලියා තබා ගැනීම සඳහා උපයෝගී කර ගත්හ. මෙසේ පහළ වූ වාක්‍යයන් ඇතුළත් විය යුතු සූරාවන් තිබිය යුතු පිළිවෙළ පිළිබඳ මගපෙන්වීම් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ඔවුනට ලබා දුන්හ. එම පිළිවෙළට ම අද දක්වා ම අල්කුර්ආනය පාරායනා කරනු ලැබේ. එම පිළිවෙළ '**තර්තීබුත් තිලාවත්**' (පාරායනය කරන පිළිවෙළ) යන නමින් හැඳින්වේ.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් වෙත තමාගේ 40 වන වියේ සිට මක්කාවේ දී හා මදීනාවේ දී වසර 23ක පමණ කාලයක් තිස්සේ පහළ වූ අල්කුර්ආන් වාක්‍යයන් එතුමාගේ වෆාතයත් සමඟ ම සමාප්ත විය.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ හිජ්රි 11 වන වසරේ වෆාත් වූහ. ඉන්පසු කිලාෆත් වගකීම් භාරගත් අබූබක්ර් රළියල්ලාහු අන්හු තුමාගේ සමයේ විවිධ සටන් හටගත්තේ ය.

යමාමා යුද්ධයේ දී අල්කුර්ආනය මනනය කළ සහාබිවරු 70ක් පමණ ෂහීද් වූහ. එනිසා ඉතිරි ව සිටින හාෆිල්වරුන් ද ෂහීද් වූවා නම් අල්කුර්ආනය නැතිවී යාවි දෝ යන බිය හස්රත් උමර් රළියල්ලාහු අන්හු තුමාණන්ට ඇති විය.



මෙම කරුණු සම්බන්ධයෙන් කලීෆා අබූබක්කර් රළියල්ලාහු අන්හු තුමාණන් සමග උමර් රළියල්ලාහු අන්හු තුමාණෝ සාකච්ඡා කළහ. අවසානයේ දී අල්කුර්ආනය සුරැකීමේ අවශ්‍යතාව වටහා ගත් කලීෆා තුමාණෝ, එය ග්‍රන්ථාරූඪ කිරීමේ ක්‍රියාවලියට අවතීර්ණ විය.

අල්කුර්ආනය ලේඛණගත කිරීමට කමිටුවක් පත් කරන ලදී. එම කමිටුව කුත්තාබුල් වහී සාමාජික සෙද් ඉබ්නු සාබිත් රළියල්ලාහු අන්හු තුමා තම නායකයා වශයෙන් තෝරා ගත්තේ ය. තමාට පැවරූ වගකීම අමානතයක් ලෙස සැලකූ සෙද් ඉබ්නු සාබිත් රළියල්ලාහු අන්හු තුමා එය නිසියාකාරව සැලකිලිමත්ව, නිවැරදිව ඉටු කළේ ය.

මෙසේ ගොනු කළ මුල් පිටපත 'මුස්හෆ්' නම් වේ. එය අබූබක්ර් රළියල්ලාහු අන්හු තුමා තමා සන්තකව, සුරක්ෂිතව තබා ගත්තේ ය. තම අවසාන කාලයේ දී එය උමර් රළියල්ලාහු අන්හු තුමාණන්ට භාර දුන්නේ ය. එතුමාගෙන් පසු ව හෆ්සා රළියල්ලාහු අන්හා තුමිය සතුව එය ආරක්ෂා සහිතව තබා තිබුණි.

කලීෆා උමර් රළියල්ලාහු අන්හු තුමාගේ පාලන සමයේ දී අරාබි අර්ධද්වීපයෙන් පිටත ද ඉස්ලාම් ධර්මය පැතිරෙන්නට විය. කලීෆා උස්මාන් රළියල්ලාහු අන්හු තුමාගේ පාලන කාලයේ දී මෙය තවත් ව්‍යාප්ත විය. මව් බස අරාබි නොවූ අය ද ඉස්ලාම් ධර්මයට පිවිසුණහ.

මෙම කාල පරිච්ඡේදයේ ආර්මේනියා - ආසර්බයිජාන් ප්‍රදේශයේ සටනක් ඇති විය. මෙයට සහභාගි වූ මුස්ලිම් සේනාවට අයත් ඉරාකය, සිරියාව යනාදී රටවල වීරයෝ තමන්ගේ භාෂාවෙන් ම අල්කුර්ආනය පාරායනය කර එය ම නිවැරදි යැයි වාද කර ගන්නට වූහ.

මෙය දැනගත් හුදෛෆා ඉබ්නු යමානි රළියල්ලාහු අන්හු නමැති නබි සහාබිවරයෙක් මේ බව කලීෆා තුමාට පැමිණිලි කර අල්කුර්ආනය පාරායනය කිරීමේ දී මුස්ලිම්වරුන් භේද නොවී ආරක්ෂා කිරීමේ වැදගත්කම අවධාරණය කළේ ය.

එය පිළිගත් කලීෆා උස්මාන් රළියල්ලාහු අන්හු තුමා වහා ක්‍රියාත්මක වී එම කටයුතු ඉටු කිරීමට කණ්ඩායමක් පත් කළේ ය. එම කණ්ඩායමට සෙද් ඉබ්නු සාබිත් රළියල්ලාහු අන්හු තුමා ව නායකයා වශයෙන් නැවත පත් කරනු ලැබිණි. මෙම කණ්ඩායම හෆ්සා රළියල්ලාහු අන්හා තුමිය සතුව සුරක්ෂිතව තිබූ අල්කුර්ආනයේ මුල්පිටපත රැගෙන පරීක්ෂා



පෞරාණික කුර්ආන් හි පිටුවක දර්ශනය

කර එහි පිටපත් ගණනාවක් ලියූහ. මෙලෙස ලියූ පිටපත් ප්‍රධාන නගරවලට යවන ලදී. එසේ ම කුරෙෂිවරුන්ගේ භාෂා විලාසයෙන් පාරායනය කිරීමට දක්ෂ හාෆිල්වරු හා කාරිවරු ද යවන ලදහ. භාෂා විලාසයෙන් වෙනස් වූ පිටපත් එක් රැස් කර ඒවා විනාශ කරන ලදී. මෙයින් අල්කුර්ආනයේ ඒකීයත්වය ආරක්ෂා විය. එමනිසා උස්මාන් රළියල්ලාහු අන්හු තුමාණන් **'ජාමිඋල් කුර්ආන්'** (අල්කුර්ආනය මගින් මුස්ලිම්වරුන් එක්සේසත් කළ තැනැත්තා) යැයි හඳුන්වනු ලැබේ. මෙලෙස ගොනු කළ පිටපත් **'මුස්හෆ් උස්මානි'** නමින් හැඳින් වේ. වර්තමානයේ භාවිතයේ පවතින්නේ මෙම පිටපත් ය.

අල්කුර්ආනය කිසි දු වෙනසක් නොවී සහාබාවරුන්ගේ කාලයේ ම ග්‍රන්ථාරූඪ කර සුරක්ෂිත විය. කුරෙෂිවරුන්ගේ භාෂා විලාසයෙන් අල්කුර්ආනය පහළ වූ නිසා එම භාෂා විලාසයෙන් ම ලියන ලදී. පසුගිය කාලපරිච්ඡේදයේ පමණක් නොව අවසාන දිනය දක්වා එය ආරක්ෂා කරන බව අල්ලාහුතආලා පවසා ඇත්තේ ය. පහත සඳහන් අල්කුර්ආන් වැකිය එය තහවුරු කරන්නේ ය.



**අභ්‍යාස**

(අ) කොටස (ආ) කොටස සමඟ යා කරන්න.

| (අ) | (ආ) |
| --- | --- |
| 1. අල්කුර්ආනය පාරායනය කරන පිළිවෙළ | 1. කුත්තාබුල් වහී |
| 2. අල්කුර්ආනය ගොනු කිරීමට පත් කළ කණ්ඩායමේ නායකයා | 2. ගස්වල පොතු, ඇටකටු |
| 3. කලීෆා උස්මාන් රළියල්ලාහු අන්හු තුමාගේ පාලන සමයේ ඇති වූ යුද්ධය | 3. තර්තීබුත් තිලාවත් |
| 4. කලීෆා උමර් රළියල්ලාහු අන්හු තුමාගේ වෆාතයට පසුව මුල් පිටපත ආරක්ෂිත ව තබා ගත් අය. | 4. යමාමා යුද්ධය |
| 5. මුල් කාලයේ දී වහී ලිවීමට උපයෝගී කරගත් දේවල් | 5. උමර් රළියල්ලාහු අන්හු |
| 6. කලීෆා අබූබක්ර් රළියල්ලාහු අන්හු තුමාගේ කාලයේ දී හාෆිල්වරු වැඩිදෙනෙක් ෂහීද් වූ සටන | 6. සෙයිද් බින් සාබිත් රළියල්ලාහු අන්හු තුමා |
| 7. කලීෆා උස්මාන් රළියල්ලාහු අන්හු තුමාගේ විශේෂ නාමය | 7. මුස්හෆ් |
| 8. අල්කුර්ආනය එක් රැස් කිරීමේ අවශ්‍යතාවය පිළිබඳව කලීෆා අබූක්ර් රළියල්ලාහු අන්හු තුමාට උපදෙස් දුන් පුද්ගලයා | 8. හෆ්සා රළියල්ලාහු අන්හා තුමිය |
| 9. අල්කුර්ආනයේ මුල් පිටපත | 9. ආර්මීනියා යුද්ධය |
| 10. වහී ලියන්නෝ | 10. ජාමිඋල් කුර්ආන් |



# 17
# سُوْرَةُ الضُّحٰى
# සූරා අල් ලුහා

අල්ලාහ් විසින් දායාද කරන ලද ධර්මය වූ අල්කුර්ආනයේ 93 වන පරිච්ඡේදය සූරතුල් ලුහා වේ. මෙම සූරාවේ ආයත් 11ක් අන්තර්ගත වේ. මෙහි වචන 40ක් ද අක්ෂර 164ක් ද දක්නට ලැබේ. ෆජ්ර් සූරාවට පසුව මක්කාවේ පහළ කරන ලද මෙම සූරාවේ ප්‍රථම ආයතය ද, ප්‍රථම වචනය ද වන "අල් ලුහා" යන පදය මෙහි නාමය ලෙස නම් කර ඇත. "හිමිදිරි පාන්දර" යන්න මෙහි අදහස වේ.

## පහළ කරන ලද පසුබිම

නබි මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට අල්ලාහ්ගෙන් පහළ වෙමින් පැවති වහී පහළ වීමට දින කිහිපයක් ප්‍රමාද විය. ජිබ්රීල් අලෛහිස්සලාම් තුමා සමගින් වූ සබැඳියාව ද බිඳී ගියේ ය. මෙය සැළ වූ වහා ම මුෂ්රික්වරු සරදම් කළහ. "මුහම්මද්ගේ දෙවියන් විසින් මුහම්මද් අත්හරින ලදී, ඔහු ළඟට පැමිණෙමින් සිටි ෂෛතාන්ගේ පැමිණීම ද අවසන් විය," යනුවෙන් විහිළු කළ අය අතර අබූ ලහබ්ගේ බිරිඳ වූ අල් අව්රා බින්ත් හර්බ් නමැත්තිය විශේෂිත තැනැත්තියකි. සතුරන්ගේ විමර්ශන, උසුළු විසුළු හමුවේ මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සිත්තැවුලින් පසු වන අවස්ථාවේ දී මෙම සූරාව පහළ විය.

## සූරාව හා එහි අර්ථය

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ

وَالضُّحٰى ① وَالَّيْلِ اِذَا سَجٰى ② مَا وَدَّعَكَ رَبُّكَ

وَمَا قَلٰى ③ وَلَلْاٰخِرَةُ خَيْرٌ لَّكَ مِنَ الْاُوْلٰى ④ وَلَسَوْفَ

يُعْطِيْكَ رَبُّكَ فَتَرْضٰى ⑤ اَلَمْ يَجِدْكَ يَتِيْمًا فَاٰوٰى ⑥

وَوَجَدَكَ ضَآلًّا فَهَدٰى ⑦ وَوَجَدَكَ عَآئِلًا فَاَغْنٰى ⑧

فَاَمَّا الْيَتِيْمَ فَلَا تَقْهَرْ ⑨ وَاَمَّا السَّآئِلَ فَلَا تَنْهَرْ ⑩

وَاَمَّا بِنِعْمَةِ رَبِّكَ فَحَدِّثْ ⑪

**මහා කරුණික වූද පරම දයාබර වූද අල්ලාහ්ගේ නාමයෙන් (ආරම්භ කරමි)**

1. දීප්තිමත් (ආලෝකයක් ඇති) හිමිදිරිය මත දිවුරමින්.
2. රාත්‍රිය මත දිවුරමින් එය නිශ්චල වන විට.
3. (නබි මුහම්මද්) නුඹගේ පරමාධිපති නුඹ අත්හැර දැමුවේ ද නැත; අමනාප වූයේ ද නැත.
4. තව ද පසු කාලය, පෙර කලට වඩා නුඹට යහපත් වන්නේ ය.
5. තව ද (නුඹ තෘප්තිමත් වන පරිදි) නුඹගේ පරමාධිපති නුඹට දයාද කරන්නේ ම ය. (එවිට) නුඹ තෘප්තිමත් වන්නෙහි ය.
6. ඔහු නුඹ අනාථයකු සේ නුදුටුවේ ද? පසුව ඔහු (නුඹට) නිසි රැකවරණය ලබා දුන්නේ ය.
7. තව ද ඔහු නුඹ මග නොදුටු කෙනෙකු සේ දැක්කේ ය. පසුව ඔහු (නුඹට) ඍජු මග පෙන්වා දුන්නේ ය.
8. තව ද ඔහු නුඹ දිළින්දකු සේ දැක්කේ ය. පසුව ඔහු (නුඹ) ධනවත් කළේ ය.
9. එබැවින් අනාථයින් කෙරෙහි නුඹ කුරිරු නොවනු.
10. තව ද නුඹ යාචකයන් පළවා නොහරිනු.
11. තව ද නුඹගේ පරමාධිපතිගේ දයාදය ගැන (සැමට ම) ප්‍රකාශ කරනු.

## මූලික අදහස

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට අල්ලාහ්ගෙන් පැමිණි වහී එකවර ම නතර විය. එහෙයින් එතුමාගේ විශ්වාසයේ උල්පත සිඳී ගියේ ය. දේව ස්නේහ සුවඳ බිඳී ගියේ ය. දරා ගත නොහැකි ශෝකයට පාත්‍ර වී පාළු හැඟීමෙන් හුදකලා වූවකු සේ දුකට පත් වී සිටියේ ය. මෙවැනි පසුබිමක මෙම සූරාව පහළ විය. මෙමගින් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් කෙරෙහි ආදරය, රැකවරණය, සෙනෙහස, අනුකම්පාව, කරුණාව, ගරුත්වය, ස්නේහය, ඇල්ම, විශ්වාසය යන සියල්ල ම පිරී ඉතිරෙන්නට විය. මෙමගින් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ අසීමිත සතුටට පත් වූහ.

නුඹව අතහැර දැමුවේ නැත, ප්‍රතික්ෂේප කළේ නැත, අමතක කළේ නැත, නුඹ සමඟින් කෝප වූවේ නැත, නුඹ කිසිවිටක අත නොහරින්නෙමු, නුඹට කිසි දු අඩුවක් නොතබන්නෙමු, මෙලොව පිරිනැමූ යහපතට වඩා ඉතා විශේෂිත දේ නුඹ වෙනුවෙන් පරමාන්ත දින මග බලමින් ඇත, යනාදී වචනවලින් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට සැනසිලි බස් කියනු ලැබිණි.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වෙත අල්ලාහ්ගේ ආදරය හා සෙනෙහස උතුරා ඇත. අනාථයකු ලෙස උපන් එතුමා අල්ලාහ් විසින් රැක ගනු ලැබිණි. සෙනෙහස පානු ලැබිණි; දිළිඳු බවින් මුදවා එතුමා සමෘද්ධිමත් කරනු ලැබිණි, යැයි සඳහන් කර පෙන්වා දී ඇත.

අවසාන වශයෙන් අනාථයින්ට තර්ජනය කිරීම, ඔවුන් වෙත බලපෑම් කිරීම, ඔවුන්ට අවමන් කිරීම, නින්ද කිරීම හෝ දඬුවම් කිරීම නොකළ යුතු බවත්, එසේ ම යාචකයන් සමඟ යහපත්ව හා ගෞරවනීයව හැසිරෙන ලෙසත් ආයාචනා කරන්නේ ය.

## සූරාවේ අන්තර්ගත දේශනා

01. යහපත් වැසියන් අල්ලාහ් අත නොහරින බව හා ඔවුන්ට දේව ආදරය ද සෙනෙහස ද ලැබෙමින් පවතියි, යන විශ්වාසයේ උල්පත සිත් පතුලෙහි සටහන් කිරීම.

02. මෙලොවේ දීත් පරලොවේ දීත් අල්ලාහ් යහපත ලබා දෙන්නේ ය, මෙලොව ඇති සියල්ලට ම වඩා පරලොව ඇති සියල්ල ම ශ්‍රේෂ්ඨ ය, යැයි පැවසීම තුළින් පරලොව ජීවිතය පිළිබඳ ඇල්ම වැඩි කරන්නේ ය.

03. අනාථයින්ට සැලකිය යුතු ය, ඔවුන්ට වාසස්ථාන සපයා දිය යුතු ය, යාචකයන්ට උපකාර කර පිහිට විය යුතු ය, කිසිවිටෙක ඔවුන්ට අවමන් කිරීම හෝ අපහාස කිරීම නොකළ යුතු ය, යන උපදෙස් ලබා දෙන්නේ ය.

04. අල්ලාහ් පිරිනැමූ දයාද ගෙන හැර දැක්වීම ද ඒ වෙනුවෙන් අල්ලාහ්ට පූර්ණ කෘතඥතාව දැක්වීම ද අත්‍යවශ්‍ය බව හැඟවෙන්නේ ය.

### අභ්‍යාස

**01. පහත ප්‍රකාශ හරි නම් (✓) ලකුණ ද, වැරදි නම් (✕) ලකුණ ද වරහන් තුළ යොදන්න.**

1. සූරතුල් ලුහා මදනී සූරාවකි. ( )
2. සූරතුල් ලුහා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට සැනසීම ගෙන දීමට පහළ විය. ( )
3. දේව දයාද අමතක නොකළ යුතු ය. ( )
4. කැමති නම් පමණක් අනාථයින්ට සැලකිය හැකි ය. ( )

**02. හිස්තැන් පුරවන්න.**

1. සූරතුල් ලුහාවේ ආයත් ...................... දක්නට ලැබේ.
2. මෙම සූරාව ...................... වැනි අය හොඳින් නඩත්තු කළ යුතු ය, යැයි ගෙන හැර දක්වන්නේ ය.
3. සූරා ලුහා යන්නෙහි අදහස ...................... වේ.

### ක්‍රියාකාරකම්

1. සූරා ලුහා මගින් ඔබ ඉගෙන ගත් වැදගත් කරුණු පහක් ලියා ප්‍රදර්ශනය කරන්න.



18

# හදීස් කලාවේ ඉමාම්වරු
## කොටස -I

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ වචන, ක්‍රියාව, අනුමැතිය, එතුමාගේ ගතිගුණ, ශරීර ලක්ෂණ යනාදිය හදීස් යනුවෙන් හඳුන්වනු ලබයි.

අල්කුර්ආනය පහළ කරන ලද අවස්ථාවේ දී **"කුත්තාබුල් වහී"** යනුවෙන් හඳුන්වනු ලැබූවන් ඒවා සටහන් කර ආරක්ෂා කරන සේවයෙහි නිරත වූහ. එහෙත් ඔවුහු හදීස් සටහන් කිරීමට නිල වශයෙන් උත්සාහ නොකළහ. අල්කුර්ආනයට ප්‍රමුඛස්ථානය ලබා දීම, හදීස් සමඟ අල්කුර්ආනය මිශ්‍ර වේ ය, යන බිය, සාක්ෂරතාව ඇත්තවුන්ගේ හිඟය, යනාදිය හදීස් සටහන් කර ආරක්ෂා නොකිරීමට හේතු විය.

එහෙත් හදීස් කලාවේ නබි අනුගාමිකයෝ තම සීමා රහිත මතක ශක්තිය මඟින් ද ඒවා දෛනික ජීවිතයේ දී ක්‍රියාවට නැංවීම මඟින් ද, තම මිතුරන් සමඟ තමන් දන සිටි දේ හුවමාරු කර ගැනීම මඟින් ද, තම ඊළඟ පරම්පරාව වූ තාබිඊන්වරුන්ට ඉගැන්වීම මඟින් ද හදීස් ආරක්ෂා කළහ.

මේ සමඟ සහාබාවරුන් කිහිප දෙනෙකු විසින් නිල නොවන ආකාරයෙන් හදීස් ලිඛිතව තබා ගත් බව ද අවධානයට ලක් කළ හැකි ය.

හදීස් කලාව ආරක්ෂා කිරීමේ සේවයෙහි ලා ඒවා දස අත සොයා සටහන් කිරීමේ කාර්යය, තාබිඊන්වරුන්ගේ කාලයේ දී සිදු විය. කලීෆා උමර් ඉබ්නු අබ්දුල් අසීස් රහ්මතුල්ලාහි අලෛහි තුමා තම රාජ්‍ය පාලන කාලයේ දී ආණ්ඩුකාරවරුන්ට හා ඉමාම්වරුන්ට ලිපි ලියා, හදීස් එක්රැස් කිරීමේ සේවය දිරි ගැන්වී ය. මෙහි ප්‍රතිඵලයක් ලෙස හදීස් කලාව තුළ ග්‍රන්ථ රැසක් බිහි විය.

ඊළඟ පරම්පරාව වූ තබඋත් තාබිඊන්වරුන්ගේ කාල පරිච්ඡේද සේ මෙම හදීස් කලාව උච්චස්ථානයතෙක් වර්ධනය විය. තාබිඊන්වරුන්ගෙන් හදීස් ඉගෙන ගත් හදීස් කලාවේ විද්වත්හු මෙම ක්ෂේත්‍රයට මහත් සහයක් ලබා දුන්හ.

මෙම කාල පරිච්ඡේදය තුළ දී මුස්නද්, මුසන්නෆ්, ජාමිඋ යනුවෙන් හදීස් ග්‍රන්ථ රැසක් බිහි විය.

මේ අතර **"සිහාහුස් සිත්තා"** යන ප්‍රධාන හදීස් ග්‍රන්ථ හය ප්‍රසිද්ධ ග්‍රන්ථ වේ. මේ අනුව මෙම ග්‍රන්ථ ගොනු කළ ඉමාම්වරුන් පිළිබඳ දැන ගැනීම වැදගත් වේ.

## 1. ඉමාම් බුහාරි රහ්මතුල්ලාහි අලෛහි තුමා (හිජ්රි 194 - 256)

හිජ්රි 194 දී උපත ලත් මෙතුමාගේ සම්පූර්ණ නාමය අබූ අබ්දිල්ලාහ් මුහම්මද් ඉස්මායීල් අල් බුහාරි වේ. උස්බෙකිස්තානයේ බුහාරි නම් නගරයේ උපත ලැබූ නිසා මෙතුමා ඉමාම් බුහාරි යනුවෙන් හඳුන්වනු ලැබේ. තරුණ වියේ දී පියා අහිමි වූ මෙතුමා කුඩා කාලයේ දී ම අල්කුර්ආනය හා හදීස් රැසක් කටපාඩම් කර ගත්තේ ය. හදීස් කලාව පිළිබඳ ව අසීමිත උනන්දුවක් දැක්වූ ඉමාම් තුමා හදීස් කටපාඩම් කරන අතරතුර හදීස් දන්වන්නන්ගේ ජීවිතය පිළිබඳව ද දැන ගැනීමට අවධානය යොමු කළේ ය. ඥානය හා අසීමිත මතක ශක්තිය ඇති මොහු හදීස් සටහන් කිරීමේ දී ඉතා ම සුපරීක්ෂාකාරී වූයේ ය.




වයස අවු. 16 දී ප්‍රථම වරට හජ් ඉටු කිරීමට ගිය ඉමාම් තුමා මක්කාවේ නතර වී ඒ අවට සිටි මුහද්දිස්වරුන්ගෙන් හදීස් ඉගෙන ගැනීම ආරම්භ කළේ ය. තව ද, එතුමා ප්‍රදේශ රැසකට ගමන් කර හදීස් ඉගෙන ගත්තේ ය.

සහීහ් වන හදීස් පමණක් අන්තර්ගත කර හදීස් ග්‍රන්ථයක් ගොනු කිරීමට මොහු ආශාවෙන් සිටියේ ය. ඉමාම් තුමාගේ උනන්දුව අවධාරණය කළ මෙතුමාගේ ගුරුතුමා වූ ඉමාම් ඉස්හාක් ඉබ්නු රාහවයි හි තුමා එය තවත් උනන්දු කළේ ය. එහි ප්‍රතිඵලයක් ලෙස සහීහුල් බුහාරි එළි දක්වනු ලැබිණි. එය ගොනු කිරීමට ඉමාම් තුමා වසර 16ක් වෙහෙස විය. එතුමා තමන්ට ලැබුණු ලක්ෂ 6ක පමණ හදීස් අතරින් ගවේෂණය කොට හදීස් 7275ක් බුහාරි ග්‍රන්ථයේ සටහන් කළේ ය.

අල්කුර්ආනයට පසුව ඊළඟ තත්ත්වයෙහි ලා සාධක සහිත මූලාශ්‍රය ලෙස සලකනු ලබන මෙම ග්‍රන්ථයට අර්ථකතන රැසක් ලියන ලදී. ඒවා අතරින් ඉමාම් ඉබ්නු හජර් අස්කලානි රහ්මතුල්ලාහි අලෛහි තුමා රචිත **"ෆත්හුල් බාරි"** නම් ග්‍රන්ථය විශේෂිත වේ.

ඉමාම් බුහාරි තුමා හිජ්රි 256 දී සමර්කන්ද් හි වෆාත් වූයේ ය.

## 2. ඉමාම් මුස්ලිම් රහ්මතුල්ලාහි අලෛහි තුමා (හිජ්රි 204 -. 261)



හිජ්රි 204 දී නයිසාපූර්හි කුශෛර් නම් ප්‍රදේශයේ උපත ලත් මෙතුමාගේ සැබෑ නාමය වනුයේ අබුල් හසන් මුස්ලිම් ඉබ්නු හජ්ජාජ් අල් කුශෛරී වේ. ප්‍රාථමික අධ්‍යාපනය නයිසාපූර්හි ලැබුවේ ය. ස්වභාවයෙන් ම අසීමිත මතක ශක්තියක් ද හදීස් එක්රැස් කිරීමෙහි ලා උනන්දුවක් ද දැක්වූ ඉමාම් මුස්ලිම් හදීස් ගොනු කර ගැනීමේ අභිලාෂයෙන් ඉමාම් බුහාරි තුමා සේ රටවල් රැසකට ගමන් කළේ ය. මෙතුමා ගොනු කළ හදීස් ගොනුව "සහීහුල් බුහාරි" ග්‍රන්ථයට පසුව ඊළඟ ස්ථානයෙහි ලා සලකනු ලබයි.

ඉමාම් මුස්ලිම් තුමා තමන් එක් රැස් කළ ලක්ෂ 3ක් පමණ වූ හදීස් අතරින් 7000ක් තෝරා ඒ අතරින් හදීස් 4000ක් අන්තර්ගත කර "සහීහුල් මුස්ලිම්" නම් ග්‍රන්ථය ගොනු කළේ ය.

මෙම ග්‍රන්ථයට අර්ථවිවරණ රැසක් ලියන ලදී. ඒ අතරින් ඉමාම් නවවි රහ්මතුල්ලාහි අලෛහි තුමා විසින් රචිත "අල් මින්හාජ්" නම් ග්‍රන්ථය ඉතා ප්‍රසිද්ධ ය.

ඉමාම් මුස්ලිම් රහ්මතුල්ලාහි අලෛහි තුමා හිජ්රි 261 දී නයිසාපූර්හි වෆාත් වූයේ ය.

ඉමාම් බුහාරි රහ්මතුල්ලාහි අලෛහි තුමා ඉමාම් මුස්ලිම් රහ්මතුල්ලාහි අලෛහි තුමා යන අය හා ඔවුන්ගේ ග්‍රන්ථ හදීස් කලාවේ විද්වතුන් අතර ''**සහීහෛන්**'' යනුවෙන් ද මෙම ග්‍රන්ථ දෙකෙහි ම එක සමානව සටහන් කරන ලද හදීස් ''**මුත්තෆකුන් අලෛහි**'' යනුවෙන් ද හඳුන්වනු ලබයි.

**අභ්‍යාසය**

1. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ හා සහාබාවරුන්ගේ කාලය අතරතුර හදීස් ගොනු නොකිරීමට හේතු මොනවා ද?
2. හදීස් කලාවට ඉමාම් බුහාරි තුමා සිදු කළ සේවාව කුමක් ද?
3. තබඋත්තාබිඊන්වරුන්ගේ කාල සීමාව තුළ දී බිහි වූ හදීස් ග්‍රන්ථ දෙවර්ගය මොනවා ද?
4. සහීහුල් බුහාරි හි අර්ථ විවරණ ග්‍රන්ථයක් සඳහන් කරන්න.
5. සහීහුල් මුස්ලිම් අර්ථ විවරණය වූ අල් මින්හාජ් නම් ග්‍රන්ථයේ කතෘ කවුද?
6. නිල වශයෙන් හදීස් ගොනු කිරීමට අනුග්‍රහය ලබා දුන් කලීෆාවරයා කවුද?

# කොටස - II

පෙර පාඩම තුළින් හදීස් කලාවේ ඉමාම්වරුන් අතරින් දෙදෙනකුගේ ජීවන කතා හා ඔවුන්ගේ ග්‍රන්ථ පිළිබඳව අවධානය යොමු කළෙමු. මෙහි දී අනෙකුත් ඉමාම්වරුන් සිව්දෙනාගේ ජීවන කථා හා ඔවුන් ගොනු කළ ග්‍රන්ථ පිළිබඳව ද අවධානය යොමු කරමු.



## ඉමාම් අබූදාවූද් රහ්මතුල්ලාහි අලෛහි තුමා (හිජ්රි 201 . 275)

අබූදාවූද් සුලෛමාන් ඉබ්නු අෂ්අස් අස්සිජිස්තානි යන්න මෙතුමාගේ සම්පූර්ණ නාමය වේ. හිජ්රි 201 දී සිජිස්තාන් නම් නගරයේ දී උපත ලත් මෙතුමා තම ප්‍රාථමික අධ්‍යාපනය නයිසාපූර්හි දී හා පසුව කුරාසාන්, ඊජිප්තුව, සිරියා, හිජාස් ප්‍රමුඛ නගරවල දී ද්විතීයික අධ්‍යාපනය ද ලැබුවේ ය. හදීස් එක් රැස් කර ගැනීම සඳහා නගර රැසකට පිය නැඟුවේ ය.

මොහු අතිශය මතක ශක්තියකින් හෙබි පුද්ගලයෙක් වූ අතර දේව භක්තිය, පරිත්‍යාගශීලීභාවය, දානශීලීත්වය වැනි යහගුණාංගවල උල්පත ද විය.

ඉමාම් තුමා තමා විසින් ම සොයා ගන්නා ලද හදීස් ලක්ෂ 5 අතුරින් හදීස් 4800ක් තෝරා ගෙන වසර 20ක පමණ කාලයක් තුළ වෙහෙස වී "සුනන් අබූදාවූද්" නම් ග්‍රන්ථය ගොනු කළේ ය. ඉමාම් අබූදාවූද් රහ්මතුල්ලාහි අලෛහි තුමාණෝ හිජ්රි 275 දී බසරාවේ දී වෆාත් වූහ.

## ඉමාම් තිර්මිදි රහ්මතුල්ලාහි අලෛහි තුමා (හිජ්රි 209 - 279)

ඉමාම් අබූ මූසා මුහම්මද් ඉබ්නු ඊසා අත්තිර්මිදි හිජ්රි 209 දී කුරාසාන් ප්‍රාන්ථයේ තිර්මිදි නම් නගරයේ දී උපත ලැබුවේ ය. ප්‍රාථමික අධ්‍යාපනය කුරාසාන්හි දී ලැබූ මොහු ඉමාම් බුහාරි රහ්මතුල්ලාහි අලෛහි තුමා හා ඉමාම් මුස්ලිම් රහ්මතුල්ලාහි අලෛහි තුමා මෙන් හදීස් කලාවට සේවය කළ යුතු, යැයි අධිෂ්ඨාන කර ගත්තේ ය.



ඉමාම් බුහාරි රහ්මතුල්ලාහි අලෛහි, ඉමාම් මුස්ලිම් රහ්මතුල්ලාහි අලෛහිවැනි අයගෙන් අධ්‍යාපනය ලැබූ මෙතුමා හදීස් එක් රැස් කිරීම සඳහා ප්‍රදේශ රැසකට ගමන් කළේ ය. මෙතුමා දේව භක්තිය හා යහගුණාංවලින් හෙබි පුද්ගලයෙක් විය.

ඉමාම් තිර්මිදි රහිමහුල්ලාහ් තුමා තමන්ට ලැබුණු හදීස් ලක්ෂ ගණනින් හදීස් 4800ක් තෝරා ගොනු කර හදීස් ග්‍රන්ථයක් එළි දැක්වුවේ ය. එය **"ජාමිඋත් තිර්මිදි"** යනුවෙන් හඳුන්වනු ලබයි. එක ම හදීසය නැවත නැවත අන්තර්ගත නොවන අතර හදීසයෙහි අවසානයේ එහි තරාතිරම සඳහන් කර තිබීමත් මෙහි විශේෂත්වයකි. ඉමාම් තිර්මිදි රහ්මතුල්ලාහි අලෛහි තුමා හිජ්රි 279 දී තමන් උපත ලැබූ තිර්මිදි නගරයේ දී වෆාත් වූවේ ය.

## ඉමාම් නසාඊ රහ්මතුල්ලාහි අලෛහි තුමා (හිජ්රි 215 - 303)




හිජ්රි 215 දී කුරාසාන් නම් ප්‍රාන්තයේ නසාඊ නම් නගරයේ උපත ලත් මොහුගේ සම්පූර්ණ නාමය වන්නේ, අබූ අබ්දුර් රහ්මාන් අහ්මද් ඉබ්නු ෂුඅයිබ් අන්නසාඊ වේ. හදීස් කලාවේ පෙර සිටි ඉමාම්වරුන් සේ ම ඉමාම් නසාඊ තුමා ද හදීස් කලාව පිළිබඳව දැඩි උනන්දුවක් දැක්වූයේ ය. එවකට හදීස් කලාව තුළ ප්‍රසිද්ධ මුහද්දිස්වරුන් සොයා ප්‍රදේශ රැසකට ගමන් කළේ ය.

මෙවැනි ගමන් මඟින් මෙතුමා එක්රැස් කර ගත් හදීස් ලක්ෂ 5 අතරින් හදීස් 4341ක් තෝරා ගෙන හදීස් ග්‍රන්ථයක් හෙළි දැක්වූයේ ය. එය **"සුනන් නසාඊ"** යන නමින් හඳුන්වනු ලැබේ. එතුමා මෙම ග්‍රන්ථය පමණක් නොව තවත් ග්‍රන්ථ රැසක් ද ලීවේ ය.

ඊජිප්තුව අවට ඉගැන්වීම් සිදු කළ ඉමාම් නසාඊ රහ්මතුල්ලාහි අලෛහි තුමා තබරානි, තහාවී වැනි ඉමාම්වරුන්ගේ ගුරුතුමා වේ. මෙතුමා හිජ්රි 303 දී මක්කාවේ දී වෆාත් වූයේ ය.

## ඉමාම් ඉබ්නු මාජහ් රහ්මතුල්ලාහි අලෛහි තුමා (හිජ්රි 209 . 273)




හිජ්රි 209 දී කස්වීන් නගරයේ දී උපත ලත් ඉමාම් ඉබ්නු මාජහ් රහ්මතුල්ලාහි අලෛහි තුමාගේ සම්පූර්ණ නම වන්නේ, අබූ අබ්දිල්ලාහ් මුහම්මද් ඉබ්නු යසීද් අල් කස්වීනි වේ. හදීස් කලාවේ ප්‍රශංසනීය කාල පරිච්ඡේදය තුළ ජීවත් වූ මෙතුමාට හදීස් කලාවේ අනෙකුත් ඉමාම්වරුන් සේ ම තමන් ද නිපුණත්වයක් ලබා ගත යුතු යැයි උනන්දුවක් ඇති විය. මෙය හේතු කොට ගෙන තමන් උපන් නගරයේ ම ප්‍රාථමික අධ්‍යාපනය ලබා, පසුව කුරාසාන්, ඉරාකය, හිජාස්, සිරියාව, ඊජිප්තුව ප්‍රමුඛ හදීස් කලාවට ප්‍රසිද්ධියක් දරූ නගරවලට ගොස් හදීස් කලාව අධ්‍යයනය කළේ ය. අබූබක්ර් ඉබ්නු අබී ෂෛබා රහ්මතුල්ලාහි අලෛහි තුමා, ඉබ්රාහීම් ඉබ්නු මුන්සිර් රහ්මතුල්ලාහි අලෛහි තුමා වැනි ඉමාම්වරු මෙතුමාගේ ගුරුවරු වූහ.

මොහු විසින් ගොනු කරන ලද සුනන් ඉබ්නු මාජහ් ග්‍රන්ථය සිහාහුස් සිත්තාවෙහි එකක් වේ. ඉමාම් තුමා තමාට ලැබුණු 40000ක් පමණ හදීස් අතරින් හදීස් 4000ක් තෝරා ගෙන මෙම ග්‍රන්ථය ගොනු කළේ ය. මෙතුමාණෝ හිජ්රි 273 දී වෆාත් වූහ.

මෙම සිව්දෙනාගේ ග්‍රන්ථ හදීස් කලාවේ විද්වතුන් විසින් "සුනන් අර්බඅා" යනුවෙන් හඳුන්වනු ලබයි.

| නම | උපන් හිජ්රි වසර | හැඳින් වූ නම | පියාගේ නම | උපන් ගම | හදීස් ග්‍රන්ථය | ඇතුළත් හදීස් සංඛ්‍යාව | විපත හිජ්රි වසර |
|---|---|---|---|---|---|---|---|
| 1. මුහම්මද් | 194 | බුහාරි | ඉස්මායීල් | බුහාරා | සහීහුල් බුහාරි | 7275 | 256 |
| 2. මුස්ලිම් | 204 | මුස්ලිම් | හජ්ජාජ් | නයිසාපූර් | සහීහ් මුස්ලිම් | 4000 | 261 |
| 3. මුහම්මද් | 209 | තිර්මිදි | ඊසා | තිර්මිදි | ජාමිඋත් තිර්මිදි | 4800 | 279 |
| 4. සුලයිමාන් | 201 | අබූදාවුද් | අෂ් අස් | සිජිස්ථාන් | සුනන් අබූ දාවුද් | 4800 | 275 |
| 5. අහ්මද් | 215 | නසාඊ | ෂුඅයිබ් | නසාඊ | සුනන් නසාඊ | 4341 | 303 |
| 6. මුහම්මද් | 209 | ඉබ්නුමාජාහ් | යසීද් | කස්වින් | සුනන් ඉබ්නුමාජාහ් | 4000 | 273 |

**අභ්‍යාස**

1. ආරෝපිත නාමයෙන් තොරව තම නියම නාමයෙන් ආමන්ත්‍රණය කරන හදීස් කලාවේ ඉමාම් තුමා කවුරුන් ද?
2. තිර්මිදි ග්‍රන්ථයේ විශේෂත්වය කුමක් ද?
3. ඉමාම් නසාඊ තුමාගේ සිසුහු කවරහු ද?
4. ඉමාම් ඉබ්නු මාජහ් තුමාගේ ගුරුවරුන් දෙදෙනෙකුගේ නම් ලියන්න.
5. සුනන් අර්බඅා හි අන්තර්ගත ග්‍රන්ථ මොනවා ද?



19

# හජ්ජතුල් විදාඃ

"**හජ්ජතුල් විදාඃ**" යනු **සමුගැනීමේ හජ්** යන අර්ථය දේ. මෙය නබි මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ ජීවිතයේ අවසාන කාල පරිච්ඡේදය තුළ සිදු වූ වැදගත් සිදුවීමකි.

හිජ්රි 10 වන වසරේ දුල් කඃද මස පස්වන දින නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ හජ් වගකීම ඉටු කිරීම සඳහා මක්කාවට යෑමට සූදනම් බව දැනුම් දුන්හ. මෙම පුවත සැළ වූ වහා ම බොහෝ ස්ත්‍රී පුරුෂ බොහෝ දෙනෙක් විවිධ ප්‍රදේශවල සිට නබි මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සමග හජ් වගකීම ඉටු කිරීමට සූදනම් වූහ.

අබූ දුජානා රළියල්ලාහු අන්හු තුමා තමා වෙනුවෙන් මදීනාවේ භාරකරු ලෙස පත් කර නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ තම මිත්‍රයින් සමග දුල් කඃද 26 වන දින ගමන ආරම්භ කළහ. දුල් හුලෛෆා නම් ස්ථානයේ දී ඉහ්රාම් ඇඳගත් මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ "**තල්බියා**" පවසමින් විශාල ජනකායක් සමග මක්කාව බලා පියනැගුවෝ ය. මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමන් කඃබාවට පැමිණි පුවත මක්කාව පුරා පැතිර ගියේ ය. ස්වල්ප වේලාවක් තුල විශාල ජනතාවක් මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ පින්බර මුහුණ දැක ගැනීමේ අදිටනින් උතුරා යන සතුටකින් දිව ආවෝ ය.

''**යවුමුත් තර්වියා**'' නම් වූ දුල්හජ් අට වන බ්‍රහස්පතින්ද දින ලුහා වේලාවේ දී මිනාවට ගියේ ය; 9 වන දින සිකුරාද, එදින අරෆාව බලා පිටත්ව ගියේ ය; හිරු බැස යන තුරු එහි රැඳී සිටි මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පසුව "කස්වා" නමැති තම ඔටුවා පිට නැග "උර්නා" නම් නිම්නයේ මධ්‍යයට ගියහ; එහි දී එක් ලක්ෂ විසි හතර දහක් පමණ වූ මුස්ලිම්වරුන් මධ්‍යයේ තම ඓතිහාසික ප්‍රසිද්ධ දේශනාව සිදු කළහ.

## නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ හජ් දේශනාව

මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ තම දේශනාව ආරම්භ කරන මොහොතේ මෙය තම ජීවිතයේ අවසාන දේශනාව විය හැකි බව පැවසූහ. ඓතිහාසික වැදගත්කමක් දරන මෙම දේශනාව, නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ වසර 23ක කාල පරිච්ඡේදය තුල, උපදේශවල සාරාංශය ලෙස පැවති බව පැවසිය හැකි ය. පෞද්ගලිකත්වය, පවුල, සමාජය, ආර්ථිකය, දේශපාලනය, ජීවිතය ප්‍රමුඛ සියලු අංගයන් අන්තර්ගත වන ලෙස මෙම දේශනාව සැකසී තිබීම එහි විශේෂත්වය වේ.

**මෙම දේශනාවේ අන්තර්ගතය මෙසේ ය:**

01. ආදේශයන් තැබීම නම් නින්දිත ක්‍රියාවෙන් මිදී අල්ලාහ්ට පමණක් යටත්ව ජීවත් විය යුතු ය.

02. මිනිසුන් අතර සමානාත්මතාව ආරක්ෂා කර ගත යුතු ය. අරාබි ජනයා අජමි ජනයාට වඩා ශ්‍රේෂ්ඨ අය නොවේ. අජමි ජනයා අරාබි ජනයාට වඩා ශ්‍රේෂ්ඨ අය ද නොවේ. සියල්ලෝ ම ආදම් නබි තුමාගේ දරුවෝ ය. ආදම් නබි තුමා පසෙන් මවනු ලැබුවේ ය.

03. අතීතයේ සිදු කළ ඝාතන වෙනුවෙන් පළි ගැනීමේ ජාහිලියියා කාලයේ සම්ප්‍රදාය සම්පූර්ණයෙන් ම විනාශ කළ යුතු ය. මෙයට ආදර්ශයක් ලෙස නබි තුමාගේ පවුලට අයත් රබීආ බින් හාරිස් තුමාගේ පුතණුවන්ගේ ඝාතනය වෙනුවෙන් පළිගැනීම අවලංගු කර දමන ලදී.

04. පොළිය සම්බන්ධ වන ගනුදෙනු සම්පූර්ණයෙන් ම වළක්වා ගත යුතු ය. මෙයට ආදර්ශයක් ලෙස තම බාප්පා වූ අබ්බාස් රළියල්ලාහු අන්හු තුමාට ලැබීමට නියමිත ව තිබු පොළිය ප්‍රථමයෙන් ම අවලංගු කර දමන ලදී.

05. කාන්තාවන්ට ගරු කර ඔවුන්ගේ හිමිකම් ආරක්ෂා කළ යුතු ය. සැමියා බිරිඳ සමඟ හැසිරිය යුතු සරල ක්‍රම පිළිබඳව නබි සල්ලල්ලාහු අලෛහිව සල්ලම් තුමාණෝ ජනතාව දැනුවත් කළහ.

06. මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ දේශනාව සිදු වූ දිනය, මාසය,ස්ථානය යනාදිය උතුම් වනවාක් සේ ම මුස්ලිම්වරුන්ගේ ප්‍රාණය, වස්තුව, ගරුත්වය යනාදිය ද උතුම් වේ. එහෙයින් ඒවා ආරක්ෂා කළ යුතු ය.

07. 'අල්කුර්ආනය හා සුන්නාහ්ව පිළිපැදිය යුතු ය. නුඹලා අතර මම කරුණු දෙකක් අතහැර යන්නෙමි. ඒවා පිළිපදින තුරු නොමග නොයන්නෙහු ය. ඒවා නම්, අල්කුර්ආනය හා මගේ මඟපෙන්වීම වන සුන්නාහ්ව' යැයි මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ.

08. මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ උපදෙස් අන් අයට ඉගැන්විය යුතු ය.

මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ දේශනාව පැවැත්වෙන අතර තුර රබීඅත් ඉබ්නු උමෛයා නමැති සහාබිවරයා මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ වදන ම විශාල ජනකායට ඇසෙන අයුරින් නැවත වරක් හඬ නඟා නිවේදනය කළේ ය. දේශනාව අවසාන වූ විට "මායිදා" නම් පරිච්ඡේදයේ තුන්වන වැකිය පහළ විය. එම වැකිය පහල වූ වහා ම උමර් රළියල්ලාහු අන්හු තුමා අඬා වැළපුණේ ය. මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ එයට හේතුව විමසා සිටියහ. එයට උමර් රළියල්ලාහු අන්හු තුමා "අල්ලාහ්ගේ දූතයාණනි! මේ වන තුරු අපි අපගේ ධර්මයෙහි පරිසමාප්තිය කරා ගමන් කරමින් සිටියෙමු. මේ වන විට එය සම්පූර්ණ වී ඇත. සම්පූර්ණ වූ කිසි දු දෙයක් අසම්පූර්ණ විය නොහැකි නොවේ ද?" යැයි පැවසුවේ ය. එයට මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ "ඔබේ ප්‍රකාශය නිවැරදියි" යැයි පැවසූහ.

ඉන්පසු මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ හජ් හි කටයුතු ඉටු කළහ.  එවිට හජ්හි සෑම ස්ථානයක දී ම ඉටු කළ යුතු සියල්ල සහාබාවරුන්ට පැහැදිලි කළහ.

මදීනාවට පැමිණි මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ දින කිහිපයකට පසුව අසනීප වූහ. හජ් ඉටු කර මාස දෙකහමාරකට පසුව එනම් රබීඋල් අව්වල් 12වන චන්ද්‍ර දින වෆාත් වූහ. හජ් අනිවාර්ය වූ පසු එතුමා ඉටු කළ ප්‍රථම හජ් වන්දනාව එතුමා බලාපොරොත්තු වූවාක් සේ ම එතුමාගේ අවසාන හජ් වන්දනාව ද විය. මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ඉටු කළ හජ් වන්දනාව **"හජ්ජතුල් විදාඃ" (සමුගැනීමේ හජ්)** යනුවෙන් හඳුන්වනු ලබන්නේ එබැවිනි.

**අභ්‍යාස**

1. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා හජ් වන්දනාව සඳහා යන විට මදීනාවෙහි පත් කළ භාරකරු කවුද?
2. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ඉහ්රාම් අඳිනු ලැබූ ස්ථානය කුමක් ද?
3. දුල් හජ් 8 වන දිනය හඳුන්වනු ලබන්නේ කෙසේ ද?
4. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ දේශනාව නැවත නිවේදනය කළ සහාබිවරයා කවුද?
5. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ හජ් වන්දනාව "හජ්ජතුල් විද" යනුවෙන් හැඳින්වීමට හේතුව කුමක් ද?

**ක්‍රියාකාරකම්**

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා හජ්ජතුල් විදාඃ හි දී දේශනා කළ කරුණු ලියා ප්‍රදර්ශනය කරන්න.



# 20
# මහබ්බතුර් රසූල්




මා ඔබහට ඔබගේ දරුවන්ට වඩාත්, ඔබලාගේ දෙමව්පියන්ට වඩාත් ලොව සියල්ලන්ට වඩාත් දයාලු වූවකු නොවන තාක් කල් ඔබ ඊමාන්ධාරියකු නොවන්නෙහු යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පැවසූහ. (බුහාරි, මුස්ලිම්)

ලොව පවතින දේවල් අතර විධිමත් සම්බන්ධතාවක් ඇති කරලීම සඳහා අල්ලාහු තආලා විසින් විවිධාකාර වූ ආකර්ෂණ ශක්තීන් අප හට ලබා දී ඇත. ආදරය යන ආකර්ෂණ ශක්තිය ද ඒ අතර එකකි. විධිමත් පවුල් සංස්ථාවක් සඳහා දෙමව්පියන් හා දරුවන් අතර පවතින ආදරය ද, විධිමත් අධ්‍යාපනයක් සඳහා ගුරුවරුන් හා සිසුන් අතර පවතින ආදරය ද හේතු වේ. සමාජයක නායකයා හා ජනතාව අතර දක්නට ලැබෙන සෙනෙහස සමාජයේ ජයග්‍රහණයට හේතු වේ. මෙලෙස මුස්ලිම් සමාජයක් අත්පත් කර ගත යුතු ආදරයක් ලෙස **මහබ්බතුර් රසූල් යනුවෙන් හැඳින්වෙන නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් වෙත දක්වන ආදරය හැඳින්විය හැකි ය.**

නබි මිතුරන් වන සහාබාවරු තම ප්‍රාණයටත් වඩා අධික සෙනෙහසක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා කෙරෙහි දක්වූහ. කුරෛෂි නායකයින්ගෙන් කෙනෙකු වන අබූ සුෆ්යාන් නබි තුමාණන්ගේ විරෝධියකු ව සිටි කාලයේ පවා මුහම්මද් සල්ලල්ලාහු අලෛහි

වසල්ලම් තුමාණන් පිළිබඳව පවසන විට "මුහම්මද්ගේ මිතුරන් මුහම්මද්ට දක්වන සෙනෙහස මෙන් සෙනෙහසක් මිනිසුන් අතර කිසිවකු තවත් මිනිසකුට දක්වනු මම දැක නොමැත්තෙමි" යැයි පවසා ඇත්තේ ය. සහාබාවරු නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා කෙරෙහි දැක්වූ සැබෑ ආදරය සඳහා සිදුවීම් රැසක් නිදසුන් ලෙස දැක්විය හැකි ය.

### පළමුවන සිදුවීම :

වරක් මක්කාවාසී කාෆිර්වරු සෛද් බින් තසිනා රළියල්ලාහු අන්හු නම් සහාබිවරයා එල්ලුම් ගසෙහි නංවා ඔහුට දරුණු හිරිහැර පමුණුවමින් සිටියහ. එවිට කාෆිර්වරු ඔහු දෙස බලා "අප ඔබ නිදහස් කරන්නෙමු. ඒ වෙනුවට මුහම්මද් අල්ලා මෙලෙස හිරිහැර පමුණුවන්නෙමු. එයට ඔබ කැමති වන්නේහි ද?" යි විමසුවෝ ය. එවිට ඔහු "නැත, කිසිවිටෙක හෝ නැත. එතුමා සිටින ස්ථානයේ එතුමාගේ පාදයේ කටුවක් ඇනීම පවා මා ප්‍රිය නොකරමි" යැයි පිළිතුරු දුන්නේ ය.

### දෙවන සිදුවීම :

උහද් යුද්ධ සමයේ දී නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා මදීනාවේ දී ඝාතනයට ලක් වූ බවට කට කතාවක් පැතිර ගියේ ය. එසේ දිවයන අතරමග දී, ඇගේ සැමියා, පියා හා සහෝදරයා ද සටනේ දී, ඝාතනයට ලක් වූ බව ඇයට දන්වා සිටිනු ලැබිණ. එහෙත් එම කාන්තාව ඒ බව නොතකා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ජීවත් ව සිටින්නේ දැයි විමසමින් ම යුද්ධ පිටිය කරා දිව ගියා ය. එවිට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ජීවත් ව සිටින බව දැනගන්නට ලැබුණි. එම පණිවිඩයෙන් තෘප්තිමත් නොවූ එම කාන්තාව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා තම පියවි ඇසින් දැකීමට අවශ්‍ය බව ඇයට පැවසුවා ය. පසු ව ඇය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් වෙත කැඳවා යන ලදී. ඇය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් දුටු විගස "අල්ලාහ්ගේ දූතයාණනි, ඔබ තුමා ජීවතුන් අතර සිටීම දැකීමෙන් පසු මට අහිමි වූ සියල්ල සාමාන්‍ය ය" යැයි පැවසුවා ය.

### තෙවන සිදුවීම :

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වෙතට පැමිණි මිනිසෙක්, "අල්ලාහ්ගේ දූතයාණනි, මාගේ පණට වඩා, මාගේ දරුවන්ට වඩා ද, මාගේ දේපළවලටත් වඩා ද, මාගේ සෙනෙහසට පාත්‍ර වූයේ ඔබතුමා ම ය. මා නිවසේ සිටින විට ඔබතුමා සිහි වූයේ

නම් විගස පැමිණ ඔබ දැක බලා ගන්නා තුරු මම සැහීමකට පත් නොවන්නෙමි. ඔබ තුමාගේ මරණය ද මාගේ මරණය ද සසඳා බලන කල, මා දන්නා පරිදි ඔබ තුමා ස්වර්ගයේ නබිවරුන්ගේ කණ්ඩායමේ සිටියි. එබැවින් මා ස්වර්ගයට පිවිසිය හොත්, ඔබ තුමා දැක බලා ගැනීමට නොහැකි වේ දෝයි සිතා බිය වෙමි," යැයි පැවසුවේ ය. එයට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පිළිතුරු නොදුන්හ. එවිට අල්ලාහු තආලා අන්නිසා පරිච්ඡේදයේ 69 වන වැකිය පහළ කළේ ය.

**"යමෙකු අල්ලාහ් ද, රසූල්වරයා ද ප්‍රිය කළහොත් ඔවුන් හට නබිවරුන්, සිද්දීකීන් (සත්‍යවාදීන්), ෂුහදාවරුන් හා (අල්ලාහ්ගේ මාර්ගයේ මිය ගිය අය) සාලිහීන් සමග සිටීමට අල්ලාහ් ආශිර්වාද කරන්නේ ය." (4 : 69)**

සහාබාවරුන් සේ ම ඔවුන් සමග සිටි තාබිඊන්වරුන්, තබඋත් තාබිඊන්වරුන් ආදීන්ගේ කාලවල දී ද, එයට පසු පැවති කාලවල දී ද ජීවත් වූ සියලු යහගැත්තෝ නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට ස්නේහවන්තයින් ලෙස ම සිටියහ. "නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පිළිබඳ ඔවුන් සමග පවසන විට ඔවුන්ගේ සිරුරේ පැහැය වෙනස් වේ, නෙත් කඳුළින් තෙත් වේ," යනුවෙන් තාබිඊන්වරු පිළිබඳව ඉතිහාස ග්‍රන්ථවල ලියැවී ඇත. හදීස් කලාවේ ඉමාම්වරුන් මෙලොව කිසි දු ප්‍රතිලාභයක් බලාපොරොත්තු නොවී හදීස් එක්රැස් කිරීමේ දී මුහුණ දුන් විවිධ දුෂ්කරතා, නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් කෙරෙහි ඔවුන් දැක්වූ ආදරය ට කදිම නිදසුනකි.



නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා කෙරෙහි ආදරය දැක්වීමට හේතු වූ කරුණු රැසක් ඇත. එයින් කිහිපයකට අවධානය යොමු කරමු.

1. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් ලෝ වැසියන් සියල්ලන්ට දයාදයක් ලෙස සිටීම.

"ලෝ වැසියන්ට දයාලු බවින් මිස අන් කිසිවක් නිසා අපි නුඹ නොඑව්වෙමු." (21:107)

2. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් තම උම්මත්වරුන් හට දැඩි ස්නේහයක් දැක්වීම.

"විශ්වාසවන්තයිනි! නිශ්චය වශයෙන් ම අපගේ දූතයෙක් ඔබ වෙත පැමිණ සිටියි. හේ තොප අතර ම කෙනෙකි. ඔබ අතර කෙනෙකු දුක් විඳීම ඔහුට මහත් වේදනාවක් ව පවතියි. එපමණ ප්‍රමාණයක දයාවක් ඔබ කෙරෙහි තබා ඇත. එදින ඔබට යහපතක් සිදු වනු දැකීමට ප්‍රියවූවකු ලෙස ද, විශ්වාසවන්තයින් වන ඔබ කෙරෙහි මහත් කරුණාව ද, දයාව ද හිමි ය." (9:128)

3. පරලොවෙහි දී සියලු දෙනා වෙනුවෙන් අල්ලාහු තආලාගෙන් ෂෆාඅත් කිරීමට අනුමැතිය ලත් එක ම නබිවරයා ලෙස නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් සිටීම.

4. අල්ලාහු තආලාගේ ආදරය ලැබීම සඳහා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් හට ආදරය දැක්වීම හා එතුමා අනුගමනය කිරීම එක් කොන්දේසියක් ලෙස පැවතීම.

"තොපි අල්ලාහ්ට ස්නේහ කරන්නෙහු නම් මා අනුගමනය කරනු. අල්ලාහ් තොපට ස්නේහ කරන්නේ ය." (3 : 31)

5. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් හට ආදරය දැක්වීම මගින් එතුමාණන් සමග ස්වර්ගයෙහි ලැගුම් ගැනීමේ ශ්‍රේෂ්ඨතම භාග්‍යය හිමි වීම.

මිනිසා තමන් ස්නේහය දැක්වූවන් සමග ම (පරලොවෙ හි) සිටියි. (බුහාරි )

6. ඊමානය පරිපූර්ණ වීම සඳහා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් කෙරෙහි ස්නේහය දැක්වීම කොන්දේසියක් ලෙස පැවතීම.

"නිශ්චය වශයෙන් ම විශ්වාස කරන්නවුන් හට ඔවුන්ගේ ප්‍රාණයට ද වඩා නබි තුමා හට ප්‍රමුඛත්වය ලබා දෙති." (33 : 6)

7. "ජනතාවට යහමග හිමි විය යුතු ය" යන පැතුම ඉටු වීම සඳහා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් ගෙන ගිය මහඟු ජීවිතය හා ඒ සඳහා එතුමාණන් විඳි දුෂ්කරතා.

ඉහත සඳහන් කරුණු දෙස බලන කල නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා කෙරෙහි ස්නේහය දැක්වීම සමස්ත මුස්ලිම් උම්මත්වරුන් හට උරුම වූ කරුණකි.

**නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් කෙරෙහි වූ ආදරය හෙළි දැක්වීම සඳහා ඉස්ලාම් ධර්මය අපට විවිධාකාර වූ මගපෙන්වීම් ලබා දී ඇත. එනම්,**

1. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා කෙරෙහි අධික ලෙස සලවාත් පැවසීම.
2. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ පවුලේ සාමාජිකයන් වන 'අහ්ලුල් බයිත්' වරුන් කෙරෙහි ස්නේහය දැක්වීම.
3. නබි මිතුරන් වන සහාබාවරුන් වෙත ආදරය දැක්වීම.
4. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් කෙරෙහි ස්නේහය දක්වන්නන් වෙත ස්නේහය දැක්වීම.
5. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ සුන්නාහ්ව අනුගමනය කිරීම.
6. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ සීරාව අධ්‍යයනය කිරීම.
7. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් අල්ලාහ්ගේ සැබෑ දූතයා බව ලොවට ගෙන හැර පෑම.
8. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් හට විරුද්ධ ව නැගෙන අභියෝග බිඳ දැමීම.
9. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ උම්මත්වරුන් වන මුස්ලිම්වරුන් අතර එකමුතුකම රැකීම හෝ ඇති කිරීම.
10. ජීවිතයේ සියලු සිදුවීම්වල දී නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් ආදර්ශයට ගැනීම.
11. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් තම අනුගාමිකයින්ගෙන් බලාපොරොත්තු වූ දේ ඉටු කිරීමට ඇප කැප වීම.
12. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් හට අන් අය ලවා දෙස් නැගීම සඳහා මග සලසා නොදීම.

ඉහත සඳහන් මගපෙන්වීම් නබි මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් වෙත දක්වන ස්නේහය එළිදැක්වීමක් ලෙස අප ක්‍රියාවට නංවන්නේ නම්, එය තනි මිනිසාගේ ජයග්‍රහණයට ද, පොදුවේ උම්මත්වරුන්ගේ ජයග්‍රහණයට ද හේතුවක් ලෙස පවතියි.

**එනිසා අපි ද සහාබාවරුන් සේ, අපගේ ප්‍රාණයට ද වඩා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමන් කෙරෙහි ආදරය දක්වමු.**

**අභ්‍යාස**

**(අ) නිවැරදි පිළිතුර වරහන් තුළින් තෝරා හිස්තැන් පුරවන්න.**

(ප්‍රාණයටත් වඩා, මහබ්බතුර් රසූල්, ෂෆාඅත්, ආදරය, අභියෝග)

1. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ අනෝන්‍ය .......................... පදනම් කරගනිමින් මුස්ලිම් සමාජය ගොඩනැගූහ.
2. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් වෙත දක්වන ආදරය .......................... නම් වේ.
3. පරලොවෙහි දී සියලු දෙනා වෙනුවෙන් අල්ලාහු තආලාගෙන් .......................... කිරීමේ අනුමැතිය ලත් එක ම තැනැත්තා මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වේ.
4. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ට එරෙහි ව පැමිණෙන .......................... මැඩලීම මුස්ලිම්වරයකු සතු වගකීමක් වේ.
5. අපි අපගේ .......................... අධික ව මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් වෙත ආදරය දැක්විය යුතු ය.

**(ආ) පහත ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

1. සහාබාවරු නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් වෙත දැක්වූ ස්නේහය අබූ සුෆ්යාන්ගේ පැසසුමට ලක් වූයේ කෙසේ ද?
2. කුරෛෂිවරුන් සෛද් බින් තසීනාගෙන් විමසූ ප්‍රශ්නය ද, එයට එතුමා ලබා දුන් පිළිතුර ද සඳහන් කරන්න.
3. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් කෙරෙහි වූ ආදරය එළිදක්වන මගපෙන්වීම් පහක් ලියන්න.



# 21

# නබිවරුන් දෙදෙනෙක්

## මූසා අලෛහිස්සලාම් තුමා

මූසා අලෛහිස්සලාම් තුමා ක්‍රිස්තු පූර්ව 1250 වසරේ ඊජිප්තුවේ (මිසරයේ) බනූ ඉස්රාඊල්වරුන්ගේ පවුලක ඉපදුණේ ය. යූසුෆ් අලෛහිස්සලාම් තුමාගේ කාලයේ පලස්තීනයේ සිට පැමිණ ඊජිප්තුවේ පදිංචි වී ගෞරවයට පාත්‍ර වූ බනූ ඉස්රාඊල්වරුන්ට, පසු කාලයේ ෆිර්අවුන් නම් ඊජිප්තුවේ රජුගේ දරදඬු පාලනයට යටත්ව සිටීමට සිදු විය.

බනූ ඉස්රාඊල්වරුන්ගේ පවුලේ උපදින පිරිමි දරුවකු නිසා තමාට තර්ජනයක් විය හැකි බව කියැවෙන අනාවැකියකට අනුව, දෙවන රාම්සීස් නමැති ෆිර්අවුන් රජු බනූ ඉස්රාඊල් පවුලේ උපදින පිරිමි දරුවන් මරා දමන්නට විය. මෙලෙස වූ වාතාවරණයක මූසා අලෛහිස්සලාම් තුමා ඉපදුණේ ය.

ළදරු මූසා, අල්ලාහ්ගේ බලයෙන් ෆිර්අවුන්ගේ මාලිගාවේ රජබිසව වූ ආසියා වෙත යහපත් ව හැදී වැඩුණේ ය. තමා බිය වූ බනූ ඉස්රාඊල් පවුලට අයත් පිරිමි දරුවා මොහු යැයි රජතුමා එවිට දැන සිටියේ නැත. නමුත් තරුණ වයසට එළඹුණු මූසා අලෛහිස්සලාම් තුමාට ඊජිප්තුවේ සිට මද්යන් නගරයට පලා යාමට සිදු විය. එහි දී දේව විශ්වාස භක්තිකයකු වූ වයොවෘද්ධයකු (ෂුඅයිබ් අලෛහිස්සලාම් තුමා) සමග සිටීමට එතුමාට සිදු විය; පසුව ඔහුගේ දියණියන්ගේ රැකවරණය සඳහා දෙදෙනාගෙන් කෙනෙකු විවාහ කර ගත්තේ ය.

දිනක්, රාත්‍රියෙහි තමාගේ මව හා සහෝදරිය බලා එන්නට එතුමා බිරිඳත් සමඟ පිටත් විය. එතුමා තුර්සීනා කන්ද අභියසට ළඟා විය. එම අවස්ථාවේ දී දැඩි ලෙස රෝගාතුර වූ බිරිඳට සීතලෙන් බේරී සිටීමට ගින්දර සොයන අතරේ දී තුර්සීනා කඳු පාමුල ගිනි දැල්වෙනු දුටුවේ ය.

එහි ගිය විට “මූසා තුමණි, මම වෙමි ලෝ වැසියන්ගේ දෙවියා වන අල්ලාහ්,” නමින් රැව් දුන් හඬක් ඇසුණි. මෙය මූසා අලෛහිස්සලාම් තුමා නබිවරයකු ලෙස තෝරා ගත් අවස්ථාවයි.

අල්ලාහ්, මූසා අලෛහිස්සලාම් තුමාට ෆිර්අවුන් වෙත ගොස් තමා අල්ලාහ්ගේ දූතයා බව පවසා බනූ ඉස්රාඊල්වරුන් ඔහුගෙන් මුදා ගන්නා ලෙස අණ කළේ ය. තමා නබිවරයකු බව තහවුරු කිරීමට මුඃජිසාත් දෙකක් වන දෙඅත් ආලෝකවත් ව බැබළීම හා හැරමිටිය නයෙක් බවට පත්වීමේ ප්‍රාතිහාර්ය ලබා දුන් අල්ලාහුතආලා එතුමාගේ ඉල්ලීමට අනුව සහෝදර හාරූන් අලෛහිස්සලාම් තුමාවත් නබිවරයකු ලෙස තෝරා එතුමාට උදවු කළේ ය.

නබිවරු දෙදෙනා ම ෆිර්අවුන් වෙත ගොස් අල්ලාහ්ගේ අණ ප්‍රකාශ කළෝ ය. අහංකාර වූ ෆිර්අවුන් ඔවුන් හාස්‍යයට ලක් කළේ ය; හූනියම්කරුවන් මඟින් ඔවුන්ගේ නුබුව්වතය බිඳ හෙළීමට උත්සාහ කළේ ය. නමුත් අවසානයේ හූනියම්කරුවෝ පවා මූසා අලෛහිස්සලාම් තුමා නබිවරයකු ලෙස විශ්වාස කළෝ ය.

ෆිර්අවුන් මුරණ්ඩුකමෙන් හා අහංකාරකමින් සිටිනු දැක නබි මූසා අලෛහිස්සලාම් තුමා, අල්ලාහ්ගේ අණ පරිදි රහසිගතව බනූ ඉස්රාඊල්වරුන් ඔවුන්ගේ ආරම්භක ස්ථානය වන පලස්තීනයට ම රැගෙන ගියේ ය. බනූ ඉස්රාඊල්වරුන් ඊජිප්තුවෙන් පලා යන බව දැනගත් ෆිර්අවුන් ඔහුගේ සේනාවත් සමඟ ඔවුන් லුහුබැන්දේ ය. අල්ලාහ් ෆිර්අවුන් හා ඔහුගේ සේනාව මුහුදේ ගිල්වා විනාශ කළේ ය.



ඊජිප්තුවේ සිට පැමිණි මූසා අලෛහිස්සලාම් තුමා අල්ලාහ්ගේ අණ පරිදි පලස්තීනය බලා තම සමූහයා රැගෙන ගියේ ය. අල්ලාහ් මූසා අලෛහිස්සලාම් තුමාට බනූ ඉස්රාඊල්වරුන් යහ මඟ යැමට තව්රාත් නම් ආගම පහළ කළේ ය. අධික වශයෙන් දේව ආශිර්වාදය ලැබූ බනූ ඉස්රාඊල්වරුන්ගෙන් බහුතරයක් දෙනා කළගුණ නොදත් හා පිටුපාන්නන් වශයෙන් සිටියහ. අල්ලාහ්ට සමානයක් තැබුවෝය.

ඔවුහු මූසා අලෛහිස්සලාම් තුමා හිත් වේදනාවට පත් කළහ; පලස්තීනයට ළඟා වූ විට ඔවුන් තම බියගුලු ගතිය පෙන්වා, එහි නොගොස් මූසා අලෛහිස්සලාම් තුමාගේ අණ ද පිටුපා ක්‍රියා කළෝ ය. එනිසා අල්ලාහු තආලා දිගු කාලයක් ඔවුන් ව සීනායි නම් කාන්තාරයේ දිවිගෙවීමට සලස්වා පරීක්ෂාවට ලක් කළේ ය.

ටික කලකට පසු මෙම නබිවරුන් දෙදෙනාගෙන් හාරූන් අලෛහිස්සලාම් තුමා පළමුවෙන් වෆාත් විය. තම සමූහයාගේ කළගුණ නොදත්කම නිසා අල්ලාහ් ශුද්ධ භූමියක් කළ පලස්තීනයට යැමට නොහැකිව මූසා අලෛහිස්සලාම් තුමා දැඩි ලෙස සිත් වේදනාවට පත් විය. අල්ලාහ් පොරොන්දු වූ භූමිය නැරඹීමේ චේතනාවෙන් එතුමා පලස්තීනය බලා ගමන් කළේ ය. එවිට එතුමාගේ වයස අවුරුදු 120කි. එහි ගිය එතුමා නැවතත් නොපැමිණියේ ය. එහි ම මරණයට පත් ව ඇතැයි සිතූ බනූ ඉස්රාඊල්වරු දින කිහිපයක් ශෝකය දැක්වූවෝ ය. එතුමා මරණයට පත් වූ ප්‍රදේශයත්, මිහිදන් වූ ස්ථානයත් බනූ ඉස්රාඊල්වරු නොදත්තෝ ය.

මූසා අලෛහිස්සලාම් තුමාගේ මරණය ගැන පවසන විට “එතුමා භූමදානය කළ ස්ථානය ‘කුද්ස්’ නම් ස්ථානයට ගලක් විසි කරන දුරෙහි තිබෙන රතු පස් පර්වතය ළඟ පිහිටි පාර අසල” යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ.



# ඊසා අලෛහිස්සලාම් තුමා

බනූ ඉස්රාඊල්වරුන්ට මග පෙන්වීම සඳහා අල්ලාහ් විසින් පහළ කරන ලද නබිවරුන්ගෙන් සකරියියා අලෛහිස්සලාම් තුමා ද කෙනෙකි. මෙතුමාගේ කාලයේ බනූ ඉස්රාඊල්වරුන් අතර ඉම්රාන් නම් කෙනෙක් සිටියේ ය. ඔහුගේ බිරිඳ තමාට ලැබීමට සිටින දරුවා, මුළු ජීවිත කාලය ම බෛතුල් මුකද්දිසයේ සේවයට යොදවන බවට අල්ලාහ් වෙත බාර වූවා ය. ඔවුන් බලාපොරොත්තු වූයේ පිරිමි දරුවකු නමුත් ඉපදුණේ ගැහැනු දැරියකි. ඇයට මර්යම් යැයි නම් තබා ඇය අල්ලාහ් වෙත ම භාර කරන ලදී. අනාථ දැරියක ලෙස ඉපදුණු ළදරුවා අල්ලාහ්ගේ උපකාරයෙන් යහපත් ලෙස හැදී වැඩුණා ය. ඇය දැරියකව සිටිය දී ඇයගේ මව තමාගේ බාරය ඉටු කළා ය.

සකරියියා අලෛහිස්සලාම් තුමා එම දැරිය තම භාරයට ගත්තේ ය. දැරියට අවශ්‍ය ආහාරපාන අල්ලාහ් විසින් යවන ලදී. බෛතුල් මුකද්දිස්හි දේව නැමදුම් සමග හැදුණු වැඩුණු දැරිය තරුණ වයසට පත්වෙද්දී මලාඉකාවරුන්ට මුණ ගැසුණි.

අල්ලාහ්ගේ හාස්කමින් ඇය අල්මසීහ් නමැති විශේෂ නාමයෙන් යුත් ඊසා බින් මර්යම් යන නමින් පිරිමි දරුවකු වදන්නට යන බවත්, පසුව ඔහු බනූ ඉස්රාඊල්වරුන් වෙත අල්ලාහ්ගේ රසූල්වරයා ලෙස සිටිනු ඇති බවත් ශුභාරංචි පවසනු ලැබුවා ය.

ඊසා අලෛහිස්සලාම් තුමා අල්ලාහ්ගේ බලයෙන් පිරිමියකුගේ සබඳතාවෙන් තොරව ඉපදීම නිසා බනූ ඉස්රාඊල්වරු මර්යම් අලෛහිස්සලාම් තුමියට අපහාස කළහ. එවිට අත දරුවකු වූ ඊසා අලෛහිස්සලාම් තුමා වැඩුණු පුද්ගලයක් සේ, එම මිනිසුන් සමග කතා කර මව බේරා ගත්තේ ය. පලස්තීනය පාලනය කළ ඒරෝත්තු නම් රජ ඊසා අලෛහිස්සලාම් දරුවා මරා දැමීමට සෙව්වේ ය. එවිට මර්යම් අලෛහිස්සලාම් තුමිය ඇයගේ පවුලේ ආරක්ෂාව සඳහා ඊජිප්තුව බලා ගමන් කළා ය. රජතුමාගේ මරණ පුවත ඇසුවායින් පසුව නැවතත් ඔවුහු පලස්තීනයට පැමිණියහ.

ඊසා අලෛහිස්සලාම් තුමා කුඩා දරුවකු ලෙස සිටිය දී ම බනූ ඉස්රාඊල් ආගමික විද්වතුන් සමග වාද කළේ ය; ඔවුන්ගේ වැරදි පෙන්වා දුන්නේ ය; ඔවුන්ගේ අපරාධ ක්‍රියාවන්ට එරෙහි වීම නිසා ඔවුන්ගේ කෝපයට ද ලක් විය.

ඊසා අලෛහිස්සලාම් තුමා, තමාගේ 30 වන වියට පා තැබූ විට අල්ලාහ් තම නබි හා රසූල් වශයෙන් එතුමා තෝරා ගත්තේ ය. ඉන්ජීල් නම් ආගම ද පහළ කළේ ය. ඒ සමග ම මළවුන් පණගැන්වීම, උපතින්ම අන්ධයින්ට පෙනීම ලබා දීම, කුෂ්ඨ රෝගීන් සුව කිරීම, නිවසෙහි සඟවා තබා ඇති දේවල් ගැන නිවැරදිව කීම යනාදී ප්‍රතිහාර්ය පෑමේ බලය ද (මුඃජිසාත්) අල්ලාහ් එතුමාට ලබා දුන්නේ ය.

ඊසා අලෛහිස්සලාම් තුමා, අල්ලාහ්ගෙන් තමන් ලද ආගම ජනතාවට දේශනා කළේ ය. තව්රාත් ආගමේ ඇති දැඩි නීති ලිහිල් කිරීම සඳහා අල්ලාහ් ඉන්ජීලය ලබාදුන් බවත්, අදින් පසු මේ ආගම පිළිපැදිය යුතු බවටත් ජනතාවට ආරාධනා කළේ ය. තමා පිළිබඳව මූසා

අලෛහිස්සලාම් තුමා පෙර දැනුම් දීමක් කර ඇති බවත් එතුමා පැවසී ය. මෙය දරා ගත නොහැකි වූ බනූ ඉස්රාඊල්වරුන්ගේ ආගමික විද්වත්හු එතුමාට විරුද්ධව නැගී සිටීමට මහ ජනයා පෙළඹවූහ. මහජනයාගෙන් ලද සියලු ම විරෝධතාවලට ඊසා අලෛහිස්සලාම් තුමා ඉවසීමෙන් මුහුණ දුන්නේ ය. එසේ ම ඔවුන්ට සමාව දී ආදරය ද දැක්වී ය.

ඊසා අලෛහිස්සලාම් තුමා පෙන්වූ මුඃජිසාතයන් දැක එතුමාගේ කැඳවීම පිළිගත් පළමු අනුගාමිකයන් "හවාරියියූන්වරුන්" යැයි හඳුන්වනු ලැබේ. මොවුහු ඊසා අලෛහිස්සලාම් තුමා ගැන තොරතුරු ජනයා අතර ප්‍රචාරය කළහ. මෙයින් මහජනයාගෙන් වැඩි දෙනෙක් ඊසා අලෛහිස්සලාම් තුමා විශ්වාස කළහ.

ඉන්ජීල් ආගම දිනෙන් දින ව්‍යාප්ත වී යාම දුටු සමහර බනූ ඉස්රාඊල්වරු ඊසා අලෛහිස්සලාම් තුමා ඝාතනය කිරීමට කුමන්ත්‍රණ කළහ. ඉන්පසු ඔවුහු පලස්තීනය පාලනය කළ රෝමයේ ජුදාස් රජු වෙත ගොස් ඊසා අලෛහිස්සලාම් තුමා බනූ ඉස්රාඊල්වරුන්ගේ රජු වශයෙන් තමා පත්කර ගැනීමට උත්සාහ කරන බව පැවසූහ. මෙයින් දැඩි ලෙස කෝපයට පත් රජතුමා ඊසා අලෛහිස්සලාම් තුමා රට පීරමින් සොයන්නට විය.

ඊසා අලෛහිස්සලාම් තුමා දිනක් තම අනුගාමිකයන් සමඟ අසුන්ගෙන සිටින විට රෝමානු යුද භටයන් එතුමා අත් අඩංගුවට ගැනීමට ඉදිරියට එනු දුටුවේ ය. එවිට එතුමා අල්ලාහ්ගෙන් ආරක්ෂාව පැතී ය. අල්ලාහ් ඊසා අලෛහිස්සලාම් තුමාගේ රුව ඔහු පාවා දීමට උපකාර කළ තැනැත්තාට ලබා දී, ඊසා අලෛහිස්සලාම් තුමා තමා වෙත ගෙන්වා ගත්තේ ය. රෝමානු යුදභටයන් ඊසා අලෛහිස්සලාම් තුමා යැයි සිතා එම මිනිසාව අත් අඩංගුවට ගෙන අවසානයේ දී කුරුසයේ තබා ඇණ ගසා මැරුවෝ ය.

කුරුසයේ ඇණ ගසා මරා දැමුවේ ඊසා අලෛහිස්සලාම් තුමා යැයි දැනටත් බොහෝ දෙනෙක් විශ්වාස කරති. ඊසා අලෛහිස්සලාම් තුමා පිළිබඳ සත්‍ය තොරතුරු මින්පසු පැමිණෙන දේවදූතයා ජනයාට පැහැදිලි කරනු ඇත යනුවෙන් ඊසා අලෛහිස්සලාම් තුමා කලින් ම පවසා ඇත්තේ ය. මෙම පෙර දැනුම් දීම දැනටත් ඉන්ජීල් ආගමේ සුරක්ෂිතව ඇත්තේ ය.

ඊසා අලෛහිස්සලාම් තුමාට පසුව නබිවරයා ලෙස පැමිණි මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ඊසා අලෛහිස්සලාම් තුමා ගැන පවසද්දී "එතුමා කුරුසයේ ඇණ ගැසුවේ ද නැත; මැරුවේ ද නැත. එතුමා අල්ලාහ් ඔහු වෙත ඔසවාගනු ලැබුවේ ය. ලෝක අවසානයේ පෙර නිමිත්තක් ලෙස අල්ලාහ් නැවතත් ලෝකයට යවා තබන්නේ ය; ඔහු ජනයා ඉස්ලාමය වෙත කැඳවයි; අපරාධවලට එරෙහි ව සටන් කරයි; නීත්‍යානුකූලව පාලනය සිදු කරයි; එතුමා මරණයට පත්වන්නේ ඉන් පසුව ය," යැයි පැහැදිලි කර ඇත්තාහ.

**අභ්‍යාස**

**පහත ප්‍රකාශ හරි , වැරදි යන්න සඳහන් කරන්න.**

01. මූසා අලෛහිස්සලාම් තුමා පලස්තීනයේ ඉපදුණේ ය. (    )

02. බනූ ඉස්රාඊල්වරු ඊජිප්තුවට පැමිණීමෙන් පසු තාඩන පීඩනවලට ලක් වූහ. (    )

03. ඊසා අලෛහිස්සලාම් තුමා බනූ ඉස්රාඊල් පරම්පරාවට අයත් ය. (    )

04. බනූ ඉස්රාඊල්වරු ඊසා අලෛහිස්සලාම් තුමා මරා දැම්මෝ ය. (    )

05. ඊසා අලෛහිස්සලාම් තුමා නැවත වතාවක් මෙලොවට පැමිණෙයි. (    )

**පහත දැක්වෙන ප්‍රශ්නවලට කෙටියෙන් පිළිතුරු ලියන්න.**

01. අල්ලාහ් මූසා අලෛහිස්සලාම් තුමාට ලබා දුන් මුඃජිසාතයන් (ප්‍රාතිහාර්යයන්) මොනවා ද?

02. මූසා අලෛහිස්සලාම් තුමාට විරුද්ධ වූ ෆිර්අවුන්ගේ නම කුමක් ද?

03. අල්ලාහ් ඊසා අලෛහිස්සලාම් තුමාට ලබා දුන් මුඃජිසාතයන් මොනවා ද?

04. ඊසා අලෛහිස්සලාම් තුමාගේ අනුගාමිකයෝ කුමන නමින් හැඳින්වෙත් ද?

**පැවරුම**

මූසා අලෛහිස්සලාම් තුමාගේ ඉතිහාසය විවිධ සිදුවීම්වලින් සමන්විත ය. ඒවායින් සමහරක් අල්කුර්ආනයේ ඇත. පහතින් දී ඇති අල්කුර්ආන් වාක්‍යයන් කියවා පහතින් ඇති මාතෘකා යටතේ එම සිදුවීම් කතාවක් ලෙස ගෙන පොත් පිංචක් සකස් කරන්න.

01. මූසා අලෛහිස්සලාම් තුමාගේ උපතත්, ෆිර්අවුන්ගෙන් ආරක්ෂා වූ අන්දමත් (අල් කසස් 7: 13)

02. ඊජිප්තුවේ සිට පලා යාමට හේතුව (අල් කසස් 14: 21)

03. විවාහය (අල්කුර්ආන් 22: 28)

04. මන්ත්‍රකරුවන් පරාජය කිරීම (ෂුඅරා 34: 51)

05. ෆිර්අවුන්ගේ විනාශය (ෂුඅරා 52: 66)

# උම්මහාතුල් මුඃමිනීන්වරියන්

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ විශිෂ්ට ජයග්‍රහණය සඳහා එතුමාගේ බිරින්දෑවරියන්ගේ දයකත්වය ප්‍රධාන විය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ට ආවතේව කිරීම, එතුමාගේ දේශනාවලට අනුකූල ව ආදර්ශවත් වීම, උපදෙස් දීම, නබිතුමාගෙන් ආගමික දැනුම ලබාගෙන එය අන් අයට ඉගැන්වීම යනාදිය මොවුන්ගේ ප්‍රධාන දයකත්වයන් වේ. එබැවින් **උම්මහාතුල් මුඃමිනීන්වරියන්** (විශ්වාස කරන්නන්ගේ මාතාවන්) යනුවෙන් විශේෂයෙන් සඳහන් වන නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ භාර්යාවන් පිළිබඳ ව අප දැන සිටීම අත්‍යවශ්‍ය ය. මොවුන්ගෙන් සිව් දෙනෙකු පිළිබඳ ව අපි මෙහි දී සලකා බලමු.

## සෙයිනබ් බින්ත් කුසයිමා රළියල්ලාහු අන්හා තුමිය

බද්ර් යුද සමයේ මුස්ලිම්වරුන් ද, කාෆිර්වරුන් ද සටන් වැදුණෝ ය. එවිට මුස්ලිම් සේනාවෙහි සටන් කළ අබ්දුල්ලාහ් ඉබ්නු ජඃස් රළියල්ලාහු අන්හු තුමා ෂහීද් විය. සෙයිනබ් බින්ත් හුසෙයිමා රළියල්ලාහු අන්හා තුමිය මෙතුමාගේ බිරිඳ වූවා ය. මෙතුමිය මයිමූනා රළියල්ලාහු අන්හා තුමියගේ මව් පාර්ශවයේ සහෝදරිය වූවා ය. තම සැමියාගේ මරණයත් සමග ඔහුගේ පදිංචි ස්ථානය වන මදීනාවෙහි වැන්දඹුවක ලෙස තනිවම ජීවත් වූවා ය. ඒ වකවානුවේ, නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ එතුමිය හා විවාහ වීමට කැමැත්ත ඉල්ලා සිටියහ. එයට ඇය, "අල්ලාහ්ගේ දූතයාණනි, ඔබ කැමති වූ දේ ඉටු කිරීමට මම ද කැමති වෙමි" යැයි පිළිතුරු දුන්නා ය.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ සයිනබ් බින්ත් කුසෙයිමා රළියල්ලාහු අන්හා තුමියට දිර්හම් 400ක් මහ්ර් ලෙස දී, හිජ්රි 3 වන වසරේ දී එතුමිය හා විවාහ වූහ. එහෙත් මොවුන්ගේ විවාහ ජීවිතය මාස කිහිපයකට පමණක් සීමා විය. 'වාහිද්' යන ඉතිහාසඥයාගේ වාර්තාවට අනුව සයිනබ් බින්ත් හුසෙයිමා තුමිය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් සමග විවාහ වී මාස කිහිපයකින් වෆාත් වූවා ය.

එතුමියගේ ජනාසා සලාතය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් විසින් පවත්වා පසු ව '**ජන්නතුල් බකීහ්**' හි භූමිදනය කරනු ලැබී ය.

සෙයිනබ් බින්ත් කුසෙයිමා රළියල්ලාහු අන්හා තුමිය ජාහිලියියා කාලයට පෙර සිට ම දන් දීමෙහි කීර්තියක් ලැබ සිටියා ය. එතුමිය ඉස්ලාමයට පෙර ද, පසු ව ද, දුගීන්ට ද, අනාථයන්ට ද අධික ලෙස දයාව දක්වූ තැනැත්තියක ලෙස ද, ඇති පමණ වියදම් කළ කෙනකු ලෙස ද, සිටි බැවින් "**දුගීන්ගේ මෑණියෝ**" හෙවත් "**උම්මුල් මසාකීන්**" යනුවෙන් අමතනු ලැබුවා ය.

## සයිනබ් බින්ත් ජහ්ස් රළියල්ලාහු අන්හා තුමිය

සයිනබ් රළියල්ලාහු අන්හා තුමිය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ පියාගේ සහෝදරිය වන උමයිමා බින්ත් අබ්දුල් මුත්තලිබ් මැණියන්ගේ දියණිය වේ. ඇය හිජ්රතයට පෙර ඉස්ලාමය වැළඳ ගත්තා ය. පසුව මදීනාවට හිජ්රත් කළා ය. එහි දී තම හදාවඩාගත් පුත්‍රයා වූ සයිද් රළියල්ලාහු අන්හු තුමාට සයිනබ් රළියල්ලාහු අන්හා තුමිය විවාහ කර දීමට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ කැමති වූහ. එහෙත් උසස් කුල කාන්තාවක් වූ සයිනබ් රළියල්ලාහු අන්හා තුමිය එයට අකමැති වූවා ය. එවිට සූරතුල් අහ්සාබ්හි 36 වන වැකිය පහළ විය.

පසුව එතුමිය සයිද් රළියල්ලාහු අන්හු තුමා හා විවාහ වීමට කැමති වූවා ය. විවාහය ද සිදු විය. එහෙත් ඔවුන්ගේ විවාහ ජීවිතය දිගු කාලයක් නොපැවතිණි. සයිද් රළියල්ලාහු අන්හු තුමා ඇගෙන් දික්කසාද වූයේ ය. එවිට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ට එතුමිය හා විවාහ වන ලෙස අල්ලාහු තආලා අණ කළේ ය. හිජ්රි පස් වන වසරේ දී නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ එතුමිය හා විවාහ වූහ.

"ආගමික කටයුතුවල දී සයිනබ් තුමියට වඩා උසස් කාන්තාවක මා දැක නොමැත. ඇය අධික දේව භක්තියක් ඇති තැනැත්තියකි. ඇත්ත කතා කරන්නී ය, ඥාති සබඳතා රකින්නී ය; අධික ලෙස දන් දෙන්නී ය," යැයි ආයිෂා රළියල්ලාහු අන්හා තුමිය පවසා ඇත. සයිනබ් රළියල්ලාහු අන්හා තුමිය මෙලොව ආශාවෙන් තොර වූ තැනැත්තියක් ලෙස ද දුගී දුප්පතුන්ට අධික ව සෙනෙහස දක්වන්නියක ලෙස ද ප්‍රකට ව සිටියා ය.

සයිනබ් රළියල්ලාහු අන්හා තුමියගේ මරණාසන්න අවස්ථාවේ එහි සිටි අය බලා "මම මා හට අවශ්‍ය කෆන් රෙද්දක් සූදනම් කර තබා ඇත්තෙමි. කලීෆා උමර් රළියල්ලාහු අන්හු තුමා ද මා හට කෆන් රෙදි යවනු ලැබුවේ නම් දෙකෙන් එකක් දන් දෙන්න," යැයි පැවසුවා ය.

වරක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ තම භාර්‍යාවන් දෙස බලා තමන් මරුමුවට පත් වූ පසු ප්‍රථමයෙන් මිය යන්නේ ඔබ අතරින් **දිගු අතක් ඇති තැනැත්තිය** යැයි පැවසූහ. මෙයට සවන් දුන් ඔවුහු තමන් අතර කවරකුගේ අත් දිගු වන්නේ දැයි සසඳා බැලූහ. එවිට සව්ද රළියල්ලාහු අන්හා තුමියගේ දෑත් ඉතා දිගුව තිබුණි. එහෙත් ප්‍රථමයෙන් මිය ගියේ සයිනබ් බින්ත් ජහස් රළියල්ලාහු අන්හා තුමියයි.

ආයිෂා රළියල්ලාහු අන්හා තුමිය මෙසේ පැවසුවා ය.

"නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ මරණයෙන් පසුව ප්‍රථමයෙන් ම මිය ගියේ සයිනබ් රළියල්ලාහු අන්හා තුමිය වූ බැවින් දිගු අත ඇති තැනැත්තිය යනුවෙන් නබි තුමා ගෙනහැර දැක්වූයේ අධික වශයෙන් දන් දීම බව අපි වටහා ගත්තෙමු.

"සයිනබ් තුමිය තම දෑතින් ම උපයා අධික වශයෙන් දන් දුන් තැනැත්තියක ලෙස සිටියා ය." (බුහාරි)

මෙතුමිය, හිජ්රතයට පසු 20 වන වසරේ තම 53 වන වියෙහි දී මරුමුවට පත් වූවා ය. මරණයෙන් පසු එතුමියගේ දේපළ වශයෙන් කිසිවක් ඉතිරි ව නොතිබිණි. ඒ සියල්ල දන් දී තිබුණි. කලීෆා උමර් රළියල්ලාහු අන්හු තුමා විසින් එතුමියගේ ජනාසා සලාතය ඉටු කරන ලදී. පසුව ජන්නතුල් බකීහ් හි එතුමිය භූමදානය කරනු ලැබුවා ය.

# මයිමූනා රළියල්ලාහු

# අන්හා තුමිය

හිජ්රි 7 වන වසරේ නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් උම්රා ඉටු කොට මක්කාවේ තම මිතුරන් සමග වාඩි වී සිටි මොහොතක, එක් තරුණ කාන්තාවක් ඔටුවකු පිට නැග නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් ඉදිරියට පැමිණියා ය. ඇය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා දෙස බලා, "අල්ලාහ්ගේ දූතයාණනි, මෙම ඔටුවා ද, ඒ මත නැග සිටින්නී ය ද අල්ලාහ් හා අල්ලාහ්ගේ දූතයා සතු වේ," යැයි පැවසුවා ය. මෙලෙස දේව ධර්ම දූතයාණන් වෙනුවෙන් කැප වූ මෙතුමිය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් විසින් අවසානයේ දී විවාහ කර ගන්නා ලදී.

මයිමූනා රළියල්ලාහු අන්හා තුමිය අබ්බාස් රළියල්ලාහු අන්හු තුමාගේ බිරිඳ උම්මුල් ෆළ්ල් රළියල්ලාහු අන්හා තුමියගේ සහෝදරිය වූවා ය. මෙතුමිය ඉස්ලාමය වැළඳ ගැනීමට පෙර මෙතුමියගේ පළමු සැමියා වන මස්උඃද් නම් තැනැත්තා මෙතුමියගෙන් වෙන් වූ පසු මෙතුමිය දෙවනුව අබූ රුහුම් යන තැනැත්තා හා විවාහ වූවා ය. කෙටි කාලයකින් එතුමා ද මරුමුවට පත් වූයේ ය. මෙයින් පසු නබි තුමාණෝ වැන්දඹුවක වූ මයිමූනා රළියල්ලාහු අන්හා තුමිය විවාහ කර ගත්හ.

මයිමූනා රළියල්ලාහු අන්හා තුමිය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා කෙරෙහි අධික දයාවක් දැක්වූවා ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගෙන් අධික දැනුමක් ද ලබා ගත්තා ය. දේව නැමදුම සඳහා බොහෝ කාලයක් වැය කළා ය. මස්ජිදුල් නබවියෙහි සලාත් ඉටු කිරීම මගින් පරම සතුටක් ලැබුවා ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් හට මරණ වේදනාව දැනුණු මොහොතේ එතුමා පිවිසියේ මයිමූනා රළියල්ලාහු අන්හා තුමියගේ නිවසට ය. මයිමූනා රළියල්ලාහු අන්හා තුමියගේ අවසරය ලබා ගෙන ආයිෂා රළියල්ලාහු අන්හා තුමිය නබි තුමා තම නිවසට කැඳවා ගෙන ගියා ය.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ වෆාතයෙන් පසු සහාබාවරුන්ට හා තාබිඊන්වරුන්ට මයිමූනා රළියල්ලාහු අන්හා තුමිය හදීස් ඉගැන්වීමෙහි නිරත වූවා ය. හදීස් 76ක් පමණ එතුමිය රිවායත් කර ඇත. හිජ්රි 51 වන වසරේ දී හජ් සඳහා ගොස් එන අතර මග, තම අසූ වැනි වියෙහි දී එතුමිය වෆාත් වූවා ය. එතුමියගේ ඉල්ලීමට අනුව එතුමිය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් හා විවාහ වන අවස්ථාවේ ඉදිකරන ලද පැලෙහි භූමදානය සිදු කරන ලදී.

"අල්ලාහ් වෙත දිවුරා පවසමි. අප සියලු දෙනාට ම වඩා මයිමූනා රළියල්ලාහු අන්හා තුමිය දේව භක්තියෙන් අධික වූ කෙනකු ලෙස ද, ඥාති සබඳතා අධිකව රකින කෙනකු ලෙස ද සිටියා," යැයි ආයිෂා රළියල්ලාහු අන්හා තුමිය පැවසුවා ය.

# උම්මු හබීබා රළියල්ලාහු
# අන්හා තුමිය

මක්කා ජයග්‍රහණයට පෙර හිජ්රි 8 වන වසරේ දී කුරෛෂි නායක අබූ සුෆ්යාන් හුදෛබියා ගිවිසුම පිළිබඳ ව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් සමග සාකච්ඡා කිරීමට මදීනාවට පැමිණියේ ය. එහි දී තම දියණිය වන රම්ළාගේ නිවසට ගියේ ය. එහි ඇතිරිල්ලක් දිග හැර තිබුණි. ඔහු එහි වාඩි වීමට සමීප වූ විට රම්ලා තම පියාට එහි වාඩිවීමට නොදී එය නවා තැබුවා ය. පසුව තම පියා දෙස බලා "මෙය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා අසුන් ගන්නා ඇතිරිල්ල වේ. නජිස් වූ මුෂ්රික් වූ තත්ත්වයේ සිටින ඔබ වැනි අයෙකුට එහි අසුන්ගත නොහැක," යැයි පැවසුවා ය.

රම්ළා තුමිය තම සැමියා සමග ඉස්ලාමය වැළඳගත් පසුව දෙදෙනා ම ඇබීසීනියාවට හිජ්රත් කළෝ ය. එහි දී සැමියා ඉස්ලාමය අතහැර ක්‍රිස්තියානි ආගම වැළඳ ගත්තේ ය. රම්ළා තම සැමියා අහිමි වී වැන්දඹුවක් වූවා ය. එවිට එතුමියට "හබීබා" යනුවෙන් දැරියක් ද සිටියා ය. එබැවින් ඇයට උම්මු හබීබා යැයි අමතනු ලැබිණි.

උම්මු හබීබා රළියල්ලාහු අන්හා තුමියගේ තත්ත්වය දැනගත් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ නජ්ජාෂි රජු හා සාකච්ඡා කළහ. උම්මු හබීබා තුමිය තමන් හට විවාහ කර දෙන මෙන් ඉල්ලා සිටියහ. රජු ද එයට එකඟ වී උම්මු හබීබා තුමිය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාහට විවාහ කර දුන්නේ ය. පසු ව හබෂාවට හිජ්රත් කළ අය සමග එතුමිය ද මදීනාවට යැව්වේ ය. මෙය හිජ්රි 7 වන වසරේ දී සිදු විය. එවිට උම්මු හබීබා රළියල්ලාහු අන්හා තුමියගේ වයස අවුරුදු 36ක් විය.

හිජ්රි 44 දී, උම්මු හබීබා රළියල්ලාහු අන්හා තුමියගේ වයස අවුරුදු 72 දී තම දෙවියන් වන අල්ලාහු තආලා මුණගැසීමට යන අවස්ථාව ආසන්න වූ බව එතුමිය දැන ගත්තා ය. ආයිෂා රළියල්ලාහු අන්හා තුමිය මෙලෙස දැනුම් දුන්නා ය; "උම්මු හබීබා රළියල්ලාහු අන්හා තුමියගේ මරණාසන්න කාලයේ දී එතුමිය මා හට, තම අසලට පැමිණෙන ලෙස පැවසුවා ය. මම ද ගියෙමි. එවිට මා දෙස බලා, "ආයිෂා එක් සැමියකුගේ බිරින්දෑවරුන් අතර ඇති වන අමනාපකම් මා වෙත ද තිබුණි. ඒ වෙනුවෙන් මා හට සමාවන්න, යැයි කීවා ය. මම ඇයට සමාව දුන්නෙමි. පසුව ඇය ඔබ මා සතුටට පත් කළෙහි ය. එබැවින් අල්ලාහ් නුඹව සතුටට පත් කරනු ඇත!" යැයි කීවා ය. පසුව උම්මු සලමා රළියල්ලාහු අන්හා තුමිය ද අමතා එලෙස ම ඉල්ලා සිටියා ය. එයින් පසුව ඇය අල්ලාහ් වෙතට පියමං කළා.

## අභ්‍යාස

**පහත ප්‍රශ්නවලට පිළිතුරු ලියන්න.**

1. ඉස්ලාමයේ ජයග්‍රහණය සඳහා උම්මහාතුල් මුඃමිනීන්වරියන් ලබා දුන් දායකත්වයන් හතරක් ලියන්න.
2. උම්මහාතුල් මුඃමිනීන්වරියන් අතුරින් උම්මුල් මසාකීන් යන නම හිමි වූ මාතාව කවුද?
3. සයිනබ් බින්ත් ජහ්ෂ් රළියල්ලාහු අන්හා තුමිය, සයිද් රළියල්ලාහු අන්හු තුමා විවාහ කර ගැනීමට එකඟ වීමට ප්‍රධාන හේතුව වූ අල් කුර්ආන් වැකියෙහි අර්ථය ලියන්න.
4. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් සමග තම විවාහය සිදු වූ ස්ථානයේ තම භූමදානය සිදු කරන ලෙස ඉල්ලා සිටි මාතාවගේ නම සඳහන් කරන්න.
5. උම්මු හබීබා රළියල්ලාහු අන්හා තුමියගේ ඉතිහාසයේ ඔබ සිත්ගත් අවස්ථාවක් පවසන්න.

23

# මුස්ලිම් වීරවරුන් දෙදෙනා

## ජයග්‍රාහී වීර සලාහුද්දීන් අයියූබි



ඉස්ලාමීය ඉතිහාසයේ කීර්තිමත් වීරවරුන් රැසක් අතර සුල්තාන් සලාහුද්දීන් අයියූබි මහත් ප්‍රසිද්ධියක් දරන වීරවරයෙකි. ඉස්ලාමීය අධිරාජ්‍යයට විරුද්ධව යුධ වදින විට එය රැක ගැනීමට ඔහු කළ සේවය ඉතිහාසයේ විශේෂ ස්ථානයක් දරයි.

ක්‍රිස්තු වර්ෂ 1138ට සමගාමී වන, එනම් හිජ්රි 532හි දී ඉරාකයේ "දික්රිද්" යන නගරයේ කුර්තිෂ් කුලයේ ගෞරවනීය පවුලක මෙතුමා උපත ලැබුවේ ය. මෙතුමාගේ පියා හා සුළු පියා දේශපාලනය, පරිපාලනය හා යුද හමුදව ආදී අංශවලින් දක්ෂතා හා අත්දැකීම් ඇති අය ලෙස දක්නට ලැබුණු හෙයින් සලාහුද්දීන් අයියූබි කුඩා කල සිට ම එම ගුණාංග මුසු කොට ගනිමින් ඇති දැඩි විය.

ඉමාමුද්දීන් (Z)සන්කී තුමාගේ රාජ්‍ය පාලනයේ පරිපාලන ක්ෂේත්‍රයේ සේවය කිරීම සඳහා එතුමාගේ පියා ඇරයුම් ලද හෙයින් ළදරු කාලයේ සිට ම පියා සමග කුඩා සලාහුද්දීන් ද දික්රිද් නගරයේ සිට මව්සිල් නගරයේ පදිංචියට ගියේ ය. එහි දී එතුමා වෙනත් වීරවරුන් සමග එක් ව අශ්වාරෝහණ පුහුණුව, යුද පුහුණුව, පරිපාලනමය පුහුණුව ද ලැබුවේ ය. තව ද අල් කුර්ආන්, අල් හදීස් සහ අරාබි භාෂාව ආදිය සාර්ථකව හැදෑරීමේ භාග්‍යය ද එතුමාට ලැබිණි.

තරුණ අවධියට පත්වන විට සලාහුද්දීන් අයියූබි විවිධ නායකත්ව වගකීම් දැරිය හැකි, විවිධ දක්ෂතාවලින් පෝෂණය විය. කලහකාරීව කටයුතු කළ ෆාතිමියියා නම් කණ්ඩායම මෙල්ල කිරීමට උසස් ගුණාංගවලින් යුක්තව විවිධ දක්ෂතා දක්වමින්, විශේෂයෙන් හමුද ක්ෂේත්‍රයේ දක්ෂතාවලින් එතුමා දීප්තිමත් විය. ඊජිප්තුවට යවන ලද සේනාවට මෙතුමා සහාය සෙන්පති ලෙස පත්කරන ලදී. එහි සෙන්පති වූයේ මෙතුමාගේ සුළු පියා වන අසදුද්දීන් ය. මෙම අවස්ථාවේ ෆාතිමියියාවරුන් විසින් ඇති කරන ලද කලහකාරී තත්ත්වය සහ කුරුස සේනාවේ තර්ජනයෙන් ද ඊජිප්තුව මුදවා ගැනීමේ අවශ්‍යතාව අවබෝධ කරගත් සෙන්පති නූරුද්දීන් (Z)සන්කී තුමා, සලාහුද්දීන්ගේ සුළු පියා වන සෙන්පති අසදුද්දීන්ගේ නායකත්වයෙන් ඊජිප්තුවට සේනාවක් යැව්වේ ය. එවිට තරුණ සලාහුද්දීන් සහාය සෙන්පති වශයෙන් කටයුතු කළේ ය.

සුළු පියාගෙන් පසු ඊජිප්තුවේ පරිපාලනය සලාහුද්දීන් තුමා භාර ගත්තේ ය. සලාහුද්දීන් තුමා ඒ වන විට ඉස්ලාමීය අධිරාජ්‍යය පත්ව තිබූ දුක්ඛිත තත්ත්වයෙන් එය මුදවාගෙන නැවත එහි ආශ්චර්යය විධිමත් ලෙස ඉස්මතු කරලීමට අවස්ථාවක් උදා කළේ ය. ඒ සඳහා සියලු කටයුතු ඉතා වේගයෙන් විශිෂ්ට ලෙස ඉටු කළේ ය. මොහුගේ පෞරුෂ ගුණාංග අවධානයට ලක් කළ එකල ඉස්ලාමීය අධිරාජ්‍යයේ පාලකයින්ගෙන් අධික පිරිසක් මොහුගේ නායකත්වය යටතේ එක්වීමට ඉදිරිපත් වූහ. එම පසුබිම මත ඊජිප්තුව, සිරියාව හා ඒ අවට ප්‍රදේශ ඇතුළත් වන ලෙස අයියූබිගේ පාලනය සිදු විය. ඉතා කෙටි කාලයකින් බලවත් රාජ්‍යයක් ලෙසට මෙය වෙනස් වුව ද එහි පාලන කටයුතු සිදු වූයේ මධ්‍යම පාලනය සිදු වූ අබ්බාසීය පාලනයට ගෞරව කරන අයුරින් ය.

ප්‍රබල පාලකයකු ලෙස වෙනස් වූ සුල්තාන් සලාහුද්දීන් තම දිගු කාලීන සිහිනයක් වූ බයිතුල් මුකද්දිසය මුදවා ගැනීමේ සේවයෙහි නියැලුණේ ය. මෙම සේවය සඳහා ඉස්ලාමීය උගතුන් රාශියක් යෙදවූයේ ය. මෙමගින් එතුමා යුධ හමුදව ශක්තිමත් කළේ ය.

මෙවන් නොසැලෙන උත්සාහයක් මගින් එතුමා බලවත් හමුදවක් ගොඩනැගී ය. වසර ගණනාවක් පුරා ඉවසීමෙන් ද අධිෂ්ඨානපූර්වකව ද සූදනම් කරන ලද හමුදව තම ප්‍රධාන ඉලක්කය වූ බයිතුල් මුකද්දිසය මුද ගැනීමේ සේවයට සූදනම් විය.

ක්‍රි. ව. 1187 එනම් හිජ්රි 583හි ක්‍රිස්තියානි කුරුස සේනා හමුදවට විරුද්ධව සුල්තාන් සලාහුද්දීන්ගේ නායකත්වයෙන් ඉස්ලාමීය හමුදව **"හිත්තීන්"** යුද්ධයේ මහත් සටනක නිරත විය. අවසානයේ සුල්තාන්ගේ සේනාව අල්ලාහ්ගේ සහාය ඇතිව ජයග්‍රහණය ලැබීය.

මෙම ජයග්‍රහණය මගින් බයිතුල් මුකද්දිසය නැවත මුස්ලිම්වරුන් අතට පත් වීමේ දොරටු විවර වී හිත්තීන්ගේ මුස්ලිම් සේනාව ජය ලබා මාස දෙකක් තුළ බයිතුල් මුකද්දිසය මුස්ලිම්වරුන් සන්තක විය. මෙම පුවත මගින් මුස්ලිම් අධිරාජ්‍යයේ පරිපූර්ණ සේනාවක් ඇති කිරීමෙන් සුල්තාන්ගේ ගෞරවය හා සැලකිල්ල ඉහළ නැංවීමට හේතු විය. සමස්ත මුස්ලිම් ප්‍රජාව සුල්තාන්ගේ නායකත්වයට ගරු කළහ.

පලස්තීනය අත්පත් කර ගත් මුස්ලිම්වරු කුරුස සේනාව මුස්ලිම්වරුන්ට විරුද්ධව දියත් කළ මැරවරකම්වලට ඔවුන්ගෙන් පළි ගැනීම සඳහා කිසි දු ක්‍රියාවක් සිදු නොකළහ. එහෙත් සුල්තාන්ගේ ඉල්ලීමට අනුව පරාජයට පත් වූ ඔවුන්ට ගෞරව කළහ. එහි විසූ ක්‍රිස්තියානි අයට ද, යුදෙව් අයට ද පොදු සමාව දෙන ලදී. එපමණක් නොව අවශ්‍යතාවට අනුව ඔවුනට ප්‍රවාහන පහසුකම් ද සපයන ලදී. එහෙත් කළ ගුණ නොමැති, පරාජය දරාගත නොහැකි යුරෝපීය ජාතිකයෝ නැවත සේනාවක් සූදානම් කර තවත් සටනකට ප්‍රවේශ වූහ. සටනට පැමිණෙන අතර මග ඔවුහු දහස් සංඛ්‍යාත මුස්ලිම් පිරිසක් ඝාතනයට ලක් කළහ. නැවතත් දෙපිරිස ම සටන් කර අවසානයේ රිචඩ් නමැත්තාගේ කුරුස සේනාව පරාජය වී පසුබෑමට ලක් විය. ජෙරුසලම හා ඒ අවට ඇති බොහෝ ප්‍රදේශ මුස්ලිම්වරුන් සතු විය.

සුල්තාන්ගේ මානුෂීය ගුණාංග පිළිබඳව වර්තමාන යුරෝපීයන් ද ප්‍රශංසා කරති. ඊජිප්තු සේනාධිපති තුමා අසනීප වූ විට, තම වෛද්‍යවරයා යවා බෙහෙත් කරවූවා පමණක් නොව ඔහුගේ අශ්වයා මිය ගිය විට උසස් කුලයේ අශ්වයකු ද ඔහුට තිළිණ කළේ ය. ඉතිහාසයේ සුල්තාන් සලාහුද්දීන් වැනි පාලකයකු දැකීමට පවා නොලැබේ යැයි පැවසිය හැකි පමණට ආදර්ශවත් පාලකයකු ලෙස ඔහු බලසම්පන්න විය. අල්ලාහ්ගේ දීන් (ධර්මය) අධිෂ්ඨානපූර්වකව පිළිපැදීමෙහි ලා ආදර්ශවත් පුද්ගලයකුව සිටියේ ය.

ඉතිහාසය තුළ මහා වීර සලාහුද්දීන් අයියූබි යනුවෙන් සනිටුහන් වීමට මොහුගේ මෙම ශ්‍රේෂ්ඨ යහ ක්‍රියා හේතු විය. මෙවන්නන්ගේ ජයග්‍රහණයන් වර්තමාන මුස්ලිම් සමාජයේ කිසිවකුටත් අත්පත් කර ගැනීමට නොහැකි විය.

සුල්තාන් සලාහුද්දීන් අයියූබි රහ්මතුල්ලාහි තුමා ක්‍රි. ව. 1193දී, එනම් හිජ්රි 589 සෆර් මස තම 55 වන වියෙහි දී වෆාත් වූයේ ය.

# සුල්තාන් මුහම්මද් අල් ෆාතිහ් තුමා



සුල්තාන් මුහම්මද් ක්‍රි. ව. 1432 වසරේ මාර්තු මස 30 වන දින සුල්තාන් දෙවන මුරාද්ගේ පුතකු ලෙස මෙලොව එළිය දුටුවේ ය. ඉතිහාසය තුළ මොහු "ජයග්‍රාහක" යන අර්ථය ඇති **අල් ෆාතිහ්** යන ගෞරවනීය නාමයෙන් අමතනු ලැබී ය. එබැවින් මුහම්මද් අල් ෆාතිහ් යනුවෙන් එතුමා හඳුන්වන ලදී.

උස්මානීය අධිරාජ්‍යයේ කුමාරවරුන්ට ශාරීරික, අධ්‍යාපනික හා ආධ්‍යාත්මික වශයෙන් උසස් පුහුණුවක් ලබා දීම එකල රජ පරපුරේ සම්ප්‍රදයයක් ලෙස දක්නට ලැබුණි. එබැවින් සුල්තාන් මුහම්මද් අල් ෆාතිහ් තුමාව ද, ළමා කාලයේ පටන් යහපත් ලෙස ඇති දැඩි කරන ලදී. කුඩා කල සිට ම අල් කුර්ආන්, හදීස්, ෆික්හු වැනි ඉස්ලාමීය ශිල්පශාස්ත්‍රවලින් එතුමා පෝෂණය විය. ඒ සමග ගණිතය, විද්‍යාව, තාරකා විද්‍යාව, හමුද ක්ෂේත්‍රයේ ශිල්පශාස්ත්‍ර ආදිය එතුමාට උගන්වනු ලැබී ය. මුහම්මද් අල් ෆාතිහ් තුමා මෙම සියලු ක්ෂේත්‍රවල දක්ෂයෙක් විය. එතුමා අරාබි, පර්සියානු, තුර්කි, ලතින්, ග්‍රීක භාෂාවල ද නිපුණතාව ලැබීය.

එපමණක් නොව, ළමා කල පටන් දේශපාලනික අත්දැකීම් ලබා දීම සඳහා රාජ පවුල්වල අයට කුඩා ප්‍රදේශවල පාලන වගකීම (බලය) භාර දීම උස්මානීයවරුන්ගේ සම්ප්‍රදයයක් විය. ඒ අනුව මුහම්මද් අල් ෆාතිහ් තුමා **"මක්නීදියා"** යන ස්ථානයේ පාලකයා ලෙස තම වයස අවුරුදු 12 දී පත්කරනු ලැබී ය. මොහුට අවශ්‍ය සෑම අංශයක් ම පුහුණු කිරීමට කටයුතු කරමින්, කීර්තිමත් විද්වතුන් වන ෂෙයික් ආක් ෂම්සුදීන් හා මුල්ලා කව්බානි යන දෙදෙනා මග පෙන්වූහ. මෙලෙස මුහම්මද් අල් ෆාතිහ්ගේ පෞරුෂත්වය ගොඩනැගීමට ඉහත ගුරුවරුන් දෙදෙනාගෙන් ලද සේවය අතිශය වැදගත් විය.

එකල කැමරන් ප්‍රදේශයේ රජතුමා උස්මානීය අධිරාජ්‍යයට එරෙහි ව සටන් කළේ ය. එහෙත් එය ඉතා පහසුවෙන් ජය ගැනීමට දෙවන සුල්තාන් මුහම්මද් සමත් විය. එය ඉතා පහසුවෙන් ජය ගත්තේ ය. මෙය දෙවන සුල්තාන් මුහම්මද්ගේ ප්‍රථම යුද්ධය ද, ප්‍රථම ජයග්‍රහණය ලෙස ද ඉතිහාස ගත විය.

මුහම්මද්ගේ ගුරුවරයා වන ආක් ෂම්සුදීන්, "කොන්ස්තන්තිනෝපලය වීරයකු විසින් ජයග්‍රහණය කරනු ලබයි. එම සේනාධිපති ශ්‍රේෂ්ඨ සේනාධිපති ය. සේනාව ශ්‍රේෂ්ඨ සේනාව ය" යන හදීසය තම සිසුන්ට නිතර නිතර සිහිගන්වා ඒ කෙරෙහි නිසිමග පෙන්වමින් සිටියේ ය. මෙහි ප්‍රතිඵලයක් ලෙස මුහම්මද් කොන්ස්තන්තිනෝපලය ජය ගැනීම සඳහා ඉස්ලාමීය ඉතිහාසයේ නිතර සිදු වූ සටන් අතර උස්මානීය රජවරුන්

දියත් කළ යුද්ධ ක්‍රමෝපායයන් පිළිබඳ දැනුමක් ඇති ව සිටියේ ය. තව ද මෙම ජයග්‍රහණය පිළිබඳව නබි සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම් තුමාගේ අනාවැකිය ද දැඩි ලෙස ඔහු සිතෙහි මුල්බැස ගත්තේ ය.

ක්‍රි. ව. 1453හි මුහම්මද් අල් ෆාතිහ්ගේ නායකත්වයෙන් 50,200 ක් පමණ වූ මුස්ලිම් සේනාව බයි(Z)සාන්තිය මහරජතුමාගේ බලකොටුව (කොන්ස්තන්තිනෝපලය) දෙසට පිටත් වූහ. කොටුවට ආසන්න වන විට ෆාතිහ් තුමා තම සේනාව කොටස් වශයෙන් වෙන් කර බෙදා එය විවිධ ප්‍රදේශවලින් වටලෑම පිණිස නතර කළේ ය. ඔහුගේ නාවික හමුදාව ද මුහුද දෙසින් පැමිණියේ ය. ෆාතිහ් තම සේනාව සමග ඉදිරියට ගමන් කරමින් උපදෙස් ලබා දුන්නේ ය.

මුස්ලිම්වරුන්ගේ සේනාව දුටු කොන්ස්තන්තිනෝපලයේ රජතුමා යුරෝපීයන්ගෙන් සහාය සේනාවක් යවන ලෙස ඉල්ලා සිටියේ ය. ඒ අනුව පසුදින යුරෝපීය සේනාව විශාල නෞකාවකින් ද, තවත් පිරිසක් බෝට්ටු මගින් ද පැමිණියහ. මෙය බයි(Z)සාන්තීය වරුන්ට මානසික ප්‍රබෝධයක් විය. මෙම අවස්ථාවේ මුහම්මද් අල් ෆාතිහ් තුමා කොටුවේ රජතුමාට ලිපියක් යැව්වේ ය. "ඔබතුමාගේ කොන්ස්තන්තිනෝපල් නගරය අපහට භාර කර යහපත් පාලනයකට සහයෝගය ලබා දෙන්න. නැතිනම් සෑම පුද්ගලයකු ම පුද්ගල බදු ගෙවා ඉස්ලාමීය අධිරාජ්‍යය යටතේ යහපත් පාලනයක් ගෙන යන්න. සැබවින් ම මාගේ සේනාව දේපළ පිළිබඳව හෝ සම්පත් පිළිබඳව හෝ තැකීමක් නොකරති," යැයි අවධාරණය කළේ ය. මෙය දුටු රජු කෝපයෙන් පිබිදුණේ ය. සටන් කරන බවට අධිෂ්ඨාන පූර්වකව දැනුම් දුන්නේ ය. කොටුවේ වීරවරු සටන සඳහා සූදානම් වූහ.

මුස්ලිම් සේනාව තමා සන්තකයේ පැවති විශාල කාලතුවක්කු යොදා ගෙන කොටුවේ ආරක්ෂිත ස්ථාන වෙත ප්‍රහාර එල්ල කිරීම ආරම්භ කළෝ ය. මුහම්මද් අල් ෆාතිහ් තුමා දිනක් බොහෝ අපහසුතා මධ්‍යයේ කිසිවකුටත් සිතීමට පවා නොහැකි ආශ්චර්යවත් සැලැස්මක් යෙදුවේ ය. එය තම සේනාධිපතිවරුන් සමග හුවමාරු කර ගත්තේ ය. මෙම සැලැස්ම සේනාව දැනගත් වහා ම කට විවර කර පුදුමයට පත් වූහ. සමහරු මෙය කළ හැකි වේ දැයි සැක පළ කළහ. කෙසේ හෝ එම සැලැස්ම මුහම්මද් ෆාතිහ් තුමා නායකත්වය ගෙන, ඉදිරිපත් වී තම සේනාවේ සහයෝගයෙන් සාර්ථකව කර අවසන් කළ පසුව සේනාව එය කොපමණ අපහසු ක්‍රියාවක් ද, කොතරම් ආශ්චර්යවත් සැලැස්මක් ද යන්න වටහා ගත්තේ, එය අවසන් වූ පසු ය.

කොටුව පිටුපස විශාල ජල ස්කන්ධයක් දක්නට ලැබේ. එය "අල් කර්නුස්(z)සහරි" නම් වේ. ඒ සමග ම කඳු වැටියක් ද, තිබේ. එම ජල ව්‍යාප්තියේ නැව් මගින් ගියේ නම් පහසුවෙන් කොටුව අත්පත් කරගත හැකි ය. රාත්‍රිය මුළුල්ලේ ෆාතිහ් තම සේනාව මගින් කඳු කැලෑවේ මධ්‍යම ප්‍රදේශයෙන් "කර්නුස්(z)සහරි" දක්වා ගස් කපා සැතපුම් තුනකට පමණ දුරකට විශාල රේල් පාරක් ඉදි කළේ ය. පසුව එය දිගේ එක ම රාත්‍රියේ තම නැව් 70 ඇදගෙන ගොස් කර්නුස්(z)සහරි නම් ප්‍රදේශයේ නතර කළේ ය.

පසු දින අලුයම මුහම්මද් තවත් නව සැලසුම් රැසක් රැගෙන, පෙළ ගැසී සිටින සේනාව ඉදිරියට පැමිණ ඔවුන් ඇමතුවේ ය. වීරවරුන් ධෛර්යවත් කළේ ය. "ජයග්‍රහණය නොහොත් වීර මරණය" යන මන්ත්‍රණය නැවත නැවත පවසා දිරිමත් කළේ ය. තව ද යුද අවස්ථාවේ දී පොදු ජනයා අසාධාරණ ලෙස ඝාතනයට ලක් නොකරන ලෙස ද, ළදරුවන්, කාන්තාවන්, වයෝවෘද්ධයින් වෙත දයාව දක්වන මෙන් ද අන්‍ය දේවස්ථාන හා අන්‍ය ආගමික නායකයන් කෙරෙහි ගරු කර කටයුතු කරන මෙන් ද පවසා බොහෝ යුධ උපක්‍රම තදින් පිළිපදින ලෙස ද පැවසුවේ ය. සුපුරුදු පරිදි සටන ආරම්භ විය. පෙර දින කාලතුවක්කු පරීක්ෂා කළ ස්ථාන ම ඉලක්ක කර කාලතුවක්කු ප්‍රහාර එල්ල කළහ. මෙවර කාලතුවක්කු සේනාවට කුළුණු මත රැඳී සිට අල්ලා ගැනීමට නොහැකි විය. එක් ප්‍රදේශයක කෝලාහලයක් ආරම්භ වී මහත් සටනක් ඇති විය. කර්නුස්(z)සහෆි හි ගොඩ බැස්වූ නැව් පියවරින් පියවර ඉදිරියට පැමිණියේ ය.

කොන්ස්තන්තිනෝපලය අත්පත් කර ගැනීමට වසර ගණනාවක් මුළුල්ලේ විවිධ සටන් ඇති වූව ද කිසිවකුටත් එය ඉටු කර ගැනීමට නොහැකි විය. තවදුරටත් කිසිවකු විසින් එය සිදු කළ නොහැකි එකක් බවට එම ජනතාව විශ්වාස කරමින් සිටිය හ. එහෙත් එය තරුණ වීර පෝතක මුහම්මද් අල් ෆාතිහ් විසින් පරිපූර්ණ වශයෙන් ඉටුකරන ලදී. සතියකින් සටන අවසන් විය. කොන්ස්තන්තිනෝපල් කොටුව මුළුමනින් ම මුස්ලිම්වරුන් සතු විය. පසුව කොන්ස්තන්තිනෝපලය ඉස්ටැන්බුල් ලෙස නම් කරන ලදී.

## ජයග්‍රහණයෙන් පසු සිදු කළ වීර ප්‍රකාශය

''මාගේ දයාබර සහෝදරයිනි, ඔබ කොන්ස්තන්තිනෝපලය ජයගත් වීර සෙබළුන් වී හමාර ය. ඔබ නබි තුමාගේ රන් වදන් වලට නිදසුනක් වූවෙහු ය. එතුමාගේ සුභාශිංසනය ලැබුවෝ ය. වැඩිහිටි සහාබාවරුන්ගේ ද, අපට පෙර සිටි අයගේ ද සිහින සැබෑ කරවුවෝ ය. අල්ලාහ් අප සියලු දෙනාට ම යහපත ලබා දෙත්වා. මාගේ දයාබර වීරවරුනි, මෙම ජනතාවට යහපත සලසන්න. ඔවුන්ට දයාව ලබා දෙන්න. කවරකුට හෝ කිසි දු හේතුවක් මත හෝ අයුක්තියක් සිදු නොකරන්න. දේවස්ථානවලට ද ආගමික නායකයින්ට ද ගෞරවයෙන් සලකන්න. ඉස්ලාම් පවසන ශ්‍රේෂ්ඨ සාරධර්ම මෙය වේ,'' යැයි ජයග්‍රාහී වීර මුහම්මද් සිය ජයග්‍රහණයෙන් අනතුරුව සිය හමුදව අමතා ප්‍රකාශ කළේ ය.

මෙසේ සුළු ප්‍රකාශයක් නිකුත් කිරීමත් සමග ම තක්බීර් නාදය රැව් පිළිරැව් දුන්නේ ය. මුහම්මද් තම අසුපිටින් බැස අල්ලාහ්ට ස්තුති කිරීම පිණිස සලාත් රකඅත් දෙකක් ඉටු කළේ ය. මුස්ලිම්වරුන්ගේ ජයග්‍රහණය ආරංචි වූ ජනතාව බියෙන් තැතිගෙන පිළිසරණ පතා ක්‍රිස්තියානි දේවස්ථානවලට ඇතුළු වූහ. මුහම්මද් තුමා ඔවුන් ඉදිරියට ගොස් අප ඔබ හට කිසි දු අකටයුත්තක් සිදු නොකරන බව පවසා පෙර ජීවත් වූයේ කෙසේ ද, එලෙස ම තම වාසස්ථානවලට ගොස් සතුටින් සිටින ලෙස දැනුම් දුන්නේ ය. තමන් වැනසීමට

පැමිණි අය ද මෙසෙ පවසන්නේ යැයි කියමින් ඔවුහු විස්මයට පත් වූහ. තම ජීවිතවලට ද දේපළවලට ද කිසි දු හානියක් නොවීම පිළිබඳ එම ජනතාව සතුටට පත් වූහ. මුහම්මද් අල් ෆාතිහ් වර්ෂ 1481හි (හිජ්රි 886හි) තම 49 වන වියෙහි දී වෆාත් වූයේ ය.

**අභ්‍යාස**

1. සුල්තාන් සලාහුද්දීන් අයියූබි යන මාතෘකාවෙන් පහත කරුණු ඇතුළත් කර රචනාවක් ලියන්න.

★ උපන් වසර ★ උපන් ස්ථානය ★ පුහුණුව ලැබූ ස්ථානය

★ පියාගේ රැකියාව ★ විශේෂ දක්ෂතා ★ මානුෂීය ගුණාංග

★ ජයග්‍රහණය ★අභාවයට පත්වූ වසර හා මාසය

2. හිත්තීන් යුද්ධය පිළිබඳ කෙටියෙන් ලියන්න.

3. "කොන්ස්තන්තිනෝපලය ජය ගත යුතු ය" යන හැඟීම් අල්ෆාතිහ් තුමා තුළ ඇති වීමට හේතු වූ කාරණාව කුමක් ද?

4. කොන්ස්තන්තිනෝපලය ජය ගැනීමට අල්ෆාතිහ් තුමා යෝජනා කළ විශ්මයජනක වූ සැළැස්ම කුමක් ද?

5. ලෝක සිතියමක කොන්ස්තන්තිනෝපලය පිහිටා ඇති ස්ථානය ලකුණු කර පෙන්වන්න.



# 24

# ඉතිරි කිරීම සහ අරපිරිමැස්ම

(අට වන කාල පරිච්ඡේදය සඳහා සීනුව නාද වේ. ඉස්ලාම් විෂයභාර ගුරුතුමා සලාම් කියමින් පංති කාමරයට ඇතුළු වේ. සිසුහු පිළිතුරු සලාමය සමග ගුරුතුමා පිළිගනිති. පන්ති නායක සලීම් ගුරුතුමා පැමිණි වහා ම අත පිරෙන්න හුණු කූරු රැගෙන පන්ති කාමරයට ඇතුළු වෙයි. ගුරු මේසය මත හුණු කූරු තබන විට එයින් කිහිපයක් බිම වැටී කැඩෙයි. එවිට ගුරුතුමා සලීම් දෙස බලා හුණු කූරු අධික ව ගෙන ආවේ ඇයි? දැයි විමසයි. සලීම් නිහඬව සිටියදී, අවශ්‍ය ප්‍රමාණය ඉක්මවා හුණු කූරු ගෙන ඒම නාස්තියක් යැයි පවසා ඕනෑ ම ද්‍රව්‍යයක් අවශ්‍යතාවට සරිලන පරිදි අරපිරිමැස්මෙන් භාවිත කළ යුතු යැයි අවධාරණය කළේ ය. පසුව එදින ඉගෙන ගැනීමට නියමිත "ඉතිරි කිරීම හා අරපිරිමැස්ම" යන පාඩම ඉගැන්වීමට ආරම්භ කළේ ය.)

ගුරුතුමා : ඉස්ලාම් දහම මෙලොවට හා පරලොවට මගපෙන්වන මාර්ගය වේ. මෙහි උපදෙස් මනසට සුවය ලබා දෙයි. එය ක්‍රියාත්මක කිරීම පහසු ය. ඒ සමග ඉස්ලාම් දහම යහගුණාංගවලින් පිරි ආගමක් ද වේ. ඉස්ලාම් අපට මග පෙන්වන යහගුණාංග අතර එකකි, ඉතිරිකිරීම හා අරපිරිමැස්ම.

නෂාත් : අරපිරිමැස්මෙන් ජීවත් වීම කියන්නේ කුමකට ද සර්?

ගුරුතමා : අරපිරිමැස්මෙන් ජීවත් වීම කියන්නේ තිබෙන දෙය අවශ්‍යතාවට අනුව නිවැරදි ව ඉටු කර ගැනීමයි. එනම් මසුරුකම හා නාස්තිය අතර පවතින තත්ත්වය අරපිරිමැස්ම වේ. ප්‍රමාණය ඉක්මවා වියදම් කිරීම වළක්වා ගත යුතු ය. මධ්‍යස්ථ ව සිට වියදම් කිරීම යහගැත්තන්ගේ ගුණාංගයක් බව අල්කුර්ආනය ගෙනහැර දක්වයි.

**"තව ද ඔවුහු වියදම් කරන විට නාස්තිය ද, මසුරුකම ද, කරන්නේ නැත. එහෙත් ඔවුන්ගේ වියදම් මෙම තත්ත්වයන් දෙක අතර මධ්‍යස්ථව පවතියි." (25 : 67)**



අයාද් : සර්, ප්‍රමාණය ඉක්මවා වියදම් කිරීම යනු කුමක් ද?

ගුරුතුමා : මෙය අද පන්තියේ සිදු වූ සිද්ධියත් සමග සම්බන්ධ කර බැලිය හැකි ය. එක් හුණු කූරක් ප්‍රමාණවත් වේ නම්, එය එපමණකින් නතර කර ගැනීම අරපිරිමැස්ම වේ. එකට වඩා වැඩි හුණු කූරු ප්‍රමාණයක් භාවිත කිරීම නාස්තියකි.

නුස්කි : සර් නාස්ති නොකර අරපිරිමැස්මෙන් භාවිත කළ පසු ඉතිරි වූ දෙය ආරක්ෂා කිරීමට නේද ඉතිරි කිරීම යැයි කියන්නේ?

ගුරුතුමා : ඔව්, එහෙම තමයි. ජසාකල්ලාහු හයිරා. ඒක ම තමයි ඉතිරි කිරීම කියන්නේ. මෙලෙස ඉතිරි කිරීම මගින් කරදරයක දී එය තමාට උදවු වේ. මෙය ශ්‍රේෂ්ඨ ගුණාංගයකි. අල්ලාහ් මෙය මිනිසාට පමණක් නොව කුඹින් වැනි වෙනත් සමහර මැවීම්වලට ද දී ඇත. කුඹි තමන්ට අවශ්‍ය ප්‍රමාණයක ආහාර පමණක් අනුභව කර ඉතිරි ආහාර ප්‍රවේශමෙන් ගබඩාකර තබති. මෙමගින් ඔවුහු වැසි කාලයේ දී ආහාර අවශ්‍යතාව සපුරා ගනිති. මී මැස්සෝ ද මී පැණි ඉතිරි කර ගනිති. මෙය මී මැස්සන්ට පමණක් නොවේ. මිනිසාගේ ප්‍රයෝජනයට ද ගැනෙයි.

රයාන් : සර්, එලෙස අපගේ අවශ්‍යතා අරපිරිමැස්මෙන් ඉටු කර ගත් පසු ඉතිරි කර ගැනීම මගින් අනාගත පරපුර ද එයින් ප්‍රයෝජනය ගන්නවා නොවේ ද?

ගුරුතුමා : මාෂා අල්ලාහ් ! හොඳ අදහසක්, ඉතිරි කිරීමේ අරමුණු අතර මෙය ද එකක්. මෙවැනි ආදර්ශවත් ගුණාංග අප නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ ජීවිතයේ ද දක්නට ලැබේ. එතුමා සැම විට ම අරපිරිමැස්ම ද සරල බව ද ප්‍රිය කළේ ය. එතුමාගේ ජීවිතයේ විවිධ අවස්ථාවල දී මෙය දකින්නට ලැබුණි. එතුමා රටඉඳි අතු පැදුරුවල නිද ගත්තේ ය. එම නිසා එතුමාගේ ශරීරයේ පිටෙහි එහි සලකුණු සටහන් වී තිබිණි. මෙය දුටු නබි මිතුරෝ "ඔබට පුළුං මෙට්ටයක් සකස් කර දෙන්න ද?" යැයි විමසූහ. එය පිළිගැනීම ප්‍රතික්ෂේප කළ නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා "මගියෙක් ගස් සෙවණක රැඳී සිට එය අතහැර යනවා සේ මම ද මෙලොව අතහැර වෙන් වී යාමට ප්‍රිය කරන්නෙමි," යැයි පැවසුවේ ය. (මුස්ලිම්)

මෙලෙස සරල බවෙන් හා අරපිරිමැස්මෙන් ජීවත් වූ නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ඉතිරි කිරීමට ද අවසරය ලබා දී ඇත්තේ ය. එතුමාගේ භාර්‍යාවන්ගෙන් කිහිප දෙනකු වසරකට අවශ්‍ය කරන දේ ඉතිරි කර තබා ගත්හ. (ඉබ්නු අසාකිර්)

සලාහ් : සර්, ඔබ දවසක් යූසුෆ් නබි තුමාගේ ඉතිහාසයේ ඉතිරි කිරීම සඳහා කළ මහත් සැලැස්මක් පිළිබඳව කිවුවා නේද?

ගුරුතුමා : ඔව් සලාහ්, ඔබ මතක් කළ සිද්ධිය ඉතිරි කිරීමට කදිම නිදසුනක්. ඊජිප්තුවේ තද නියඟයක් ඇති වීමට නියමිත බව අල්ලාහ්ගේ උදවු ඇති ව දැනගත් නබි යූසුෆ් අලෛහිස්සලාම් තුමා රටෙහි වගා කරනු ලබන ධාන්‍යවලින් එක් කොටසක් අඛණ්ඩ ව වසර හතකට රැස් කළේ ය. මෙලෙස සැලසුම් සහගත ලෙස එක් රැස් කළ ධාන්‍ය, නියඟය ඇති කාලයේ ජනතාවට බෙදා දී උදවු කළේ ය. එමගින් එම කාලයේ හට ගැනීමට නියමිත ව පැවති දුගී බව, සාගතය ආදිය තුරන් වී ගියේ ය. මෙය අරපිරිමැස්මට හා ඉතිරි කිරීමට අගනා ආදර්ශයක් ද සාර්ථක සැලසුම්කරණයක් ද වේ.

රායිද් : සර්, අපගේ එදිනෙදා ජීවිතයේ අධික ව පවතින්නේ නාස්තිය හා ආඩම්බරකම නොවේ ද? එම නිසයි ඉතිරිකිරීම හා අරපිරිමැස්ම අවම වී තිබෙන්නේ.

ගුරුතුමා : ඇත්තෙන් ම රායිද්ගේ අදහසට මම ද එකඟ වෙමි. අපගේ ජීවිතයේ මහත් භාග්‍යයක් ලෙස හිමි වන කාලය, ධනය, ජලය, විදුලිය, පොදු වස්තු යන බොහෝ දේ නාස්තියට භාජන වනවා නිතර අපි දකින්නෙමු. නාස්ති කිරීම ෂෙයිතාන්ගේ ක්‍රියාවකි. එය විශාල පාපයක් ද වේ. මේ පිළිබඳ ව අපි පරලොවේ දී ප්‍රශ්න කිරීමට ලක් වන්නෙමු. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ වුලූඃ කරන විට පවා ජලය නාස්ති කිරීම වැළැක්වූහ.

වරක් නබි මිතුරෙකු වන සඃද් රළියල්ලාහු අන්හු තුමා වුලූඃ කරමින් සිටින විට, ඔහු පසු කර ගමන් කළ නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ සඃද්

දෙස බලා "මෙපමණ නාස්තියක් කරන්නේ ඇයි?" දැයි විමසූහ. නබිවරයාණනි, "වුලූඃ හි ද නාස්තියක් තිබේ ද?" යි විමසූ කල, "ඔව්," යැයි පවසා, "ගලන ගංගාවක ඔබ වුලූඃ කළ ද, නාස්ති නොකළ යුතු ය." යැයි පැවසූහ. (අහ්මද්, ඉබ්නු මාජාහ්)

මෙම සිද්ධියෙන් ජල බිංදුවක් හෝ නාස්ති නොකළ යුතු බව අවධාරණය කෙරෙයි. එබැවින් අපගේ නිවාස, පාසල්, මස්ජිද් ආදී ස්ථානවල ජලය, විදුලිය, ආහාර වැනි දෑයෙහි නාස්තිය වළක්වන්නේ කෙසේ ද යන්නට නිදසුන් කිහිපයක් කියන්න බලමු.

නුස්කි : වැඩි දීප්තියක් ලබා දෙන විදුලි පහන්, විදුලි පංකා ආදිය නිවා දැමීම, ජලය ගලා යන ජල කරාම ආදිය තදින් වැසීම, ජලය පානය කරන විට භාජනයකට ගෙන පානය කිරීම, අවශ්‍ය ප්‍රමාණයට පමණක් ආහාර බඳුනට බෙදා ගැනීම ආදිය සඳහන් කළ හැකි ය.



ගුරුතුමා : මාෂා අල්ලාහ් නුස්කි. ඔබ මහත් බුද්ධිමතකුව සිටිනවා. සුදුසු නිදසුනක් ඉදිරිපත් කළා. ජසාකල්ලාහු කයිරා. එසේ ම අනවශ්‍ය විහිළුවලින් කාලය ගත කිරීම, නුසුදුසු ආකාරයෙන් මුදල් වියදම් කිරීම, අධික ලෙස අනුභව කිරීම, පමණට වඩා ඇඳුම් පැළඳුම් මිල දී ගැනීම ආදිය ද නාස්තියට නිදසුන් ලෙස දැක්විය හැකි ය.

සෙයියාබ් : සර්, නාස්තිකාර, ආඩම්බර ජීවිතයෙන් වැළකී, අරපිරිමැස්ම හා ඉතිරි කිරීම පිළිපැදීමෙන් කුසල් හිමිවනවා නේද?

ගුරුතුමා : ඔව්, ඇත්තෙන් ම මෙම ගුණාංග අප තුළ වර්ධනය කර ගැනීම මගින් මෙලොව දී ද, පරලොවෙහි දී ද කුසල් අත් කර ගනිමු. පිරිමැස්ම, ඉතිරි කිරීම ආදී ගුණාංග අප ජීවිතයේ නිසි ලෙස පිළිපදින විට ණයවීම, ආර්ථික අවහිරතා, අන් අය මත යැපීම ආදී අවස්ථාවලින් අපට ආරක්ෂා විය හැකි ය. එය සතුටින් පිරුණු ජීවිතයකට මග පෙන්වයි.

## අභ්‍යාස

**පහත ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

1. නාස්ති කිරීම පාපයකි යන්නට මූලාශ්‍රය සාධකයක් සපයන්න.
2. අරපිරිමැස්ම හා ඉතිරි කිරීමෙහි වැදගත්කම පෙන්වන ඉස්ලාමීය ඉතිහාසයේ සිදුවීමක් සඳහන් කරන්න.
3. යූසුෆ් අලෛහිස්සලාම් තුමාගේ කාලයේ හට ගත් ආහාර හිඟයට එතුමා විසඳුම් ලබා ගත්තේ කෙසේ ද?
4. ජල සම්පත නාස්ති වීම වළක්වා ගත හැකි ආකාර දෙකක් ලියන්න.
5. ඉතිරි කිරීම හා අරපිරිමැස්ම මගින් හිමි වන ප්‍රයෝජන හතරක් ලැයිස්තු ගත කරන්න.

# 25 හලාල් හරාම් පිළිපදිමු

අල්ලාහ් අනුමත කළ දෑ පිළිපැදීමත්, තහනම් කළ දෙයින් වැළකී සිටීමත් හලාල්, හරාම් පිළිපැදීම යනුවෙන් හඳුන්වනු ලැබේ. මෙය ඉස්ලාමයේ මූලධර්මවලින් එක් අංගයකි.

ඉස්ලාම් ධර්මයේ අනුමත දේ හලාල් යැයි ද අනුමත නොකළ දේ හරාම් යැයි ද හඳුන්වනු ලැබේ. හරාම් වූ දේ කිරීම වරදක් මෙන් ම පාපී ක්‍රියාවක් ද වේ. අල්ලාහ්ට බිය වී, ඔහුගේ නීතියට ගරු කර හලාල් වූ සීමාවේ ජීවත් වීමෙන් පමණක් මෙලොව හා පරලොව යහපත් ආනිශංස ලබා ගැනීමට හැකි වන්නේ ය.

**"හලාල් කුමක් ද, හරාම් කුමක් දැයි තීරණය කිරීමේ බලය ඇත්තේ අල්ලාහ්ට පමණි. අල්ලාහ්ට තිබෙන එම බලයට මිනිසුන් හිස දැමීම මහා පාපයකි,"** (16 : 116 - 117)

අල්ලාහ් මිනිසා මැවීමට පෙර ම ලොවේ සියලු දේ මිනිසා වෙනුවෙන් ම මැව්වේ ය. පසුව මිනිසා පරීක්ෂාවට ලක් කිරීම සඳහා ඒවායින් සමහරක් හරාම් කළේ ය. මිනිසාගේ පරම විරෝධියකු වන ෂෛතාන් මිනිසා හරාම් දෙසට ම හරවමින් සිටියි. ෂෛතාන්ගේ අරමුණ මිනිසා පාපී ක්‍රියාවන් කිරීමට පොළඹවා ඔහු නිරය වෙත ඇදගෙන යාමයි.

සත්‍ය වශයෙන් ම හලාල් දේවල්හි ම අධික වූ යහපත ඇත්තේ ය. හරාම් දේවල්හි අයහපතම අධිකව පවතී. අල්ලාහුතආලා මිනිස් යහපතට ම වැදගත්කම දී හලාල් හරාම් ඇති කොට තිබේ.

**අල්ලාහ් හරාම්කළ දේ පහත සඳහන් අයුරින් වර්ග කළ හැකි ය**

### 1. ආහාර හා සම්බන්ධ දේ

ඌරුමස්, මළමිනී, රුධිරය (ලේ), ශරීරයට හා ප්‍රාණයට හානි කරන දේ, මත් භාවය ඇති කරන දේ, රත්තරන්, රිදී භාජනවල ආහාර පාන ගැනීම.

### 2. ඇඳුම් හා සම්බන්ධ දේ

පිරිමින්ට සේද රෙදි, රත්තරන් ආභරණ, පිරිමින් ස්ත්‍රීන් ලෙස වෙස් ගැනීම, ස්ත්‍රීන් පිරිමි වෙසින් ඇඳුම් ඇඳීමත්, ඉස්ලාමීය ෂරීආවට පටහැනි වූ ඇඳුම්.

උදා : ශරීර අවයව පෙනෙන ඇඳුම්

### 3. ඉපැයීම හා සම්බන්ධ දේ

පොළිය මෙන් ම ඒ හා සම්බන්ධ ගනුදෙනු, අනෙකුත් තහනම් කළ ගනුදෙනු ක්‍රියා හා සම්බන්ධ පටිපාටීන්

### 4. පිරිමි හා ගැහැනු සම්බන්ධ දේ

අජ්නබි - මහ්රම් සීමාවන් නොසලකා හැරීම.

### 5. දුරාචාරය සම්බන්ධ දේ

- (z)සිනා (දුරාචාරය)
- ලිවාත් (සමලිංගික සේවනය) යනාදිය

### 6. අන් අයගේ අයිතිවාසිකම් හා සම්බන්ධ දේ

- සොරකම
- නිකරුණේ අවලාද කීම
- අවමානයට ලක් කිරීම
- ජීවිතක්ෂයට පත් කිරීම
- දේපළවලට හානි කිරීම යනාදිය.

### 7. සාරධර්ම හා සම්බන්ධ දේ

- බොරු කීම
- රැවටීම
- ඊර්ෂ්‍යාව
- අසභ්‍ය වචන කතා කිරීම
- බොරු සාක්කි දීම
- අසභ්‍ය ක්‍රියා
- අල්ලාහ් වැළැක් වූ දේ බැලීම
- ඇසීම යනාදිය.

ඉහත සඳහන් ආකාරයට අල්ලාහ් හරාම් කළ දේ ලැයිස්තු ගත කළ හැකි ය. මෙසේ කිරීම අල්ලාහ්ගේ අණට පිටුපෑමක් වන්නේ ය. ඉහත සඳහන් දේවලින් සම්පූර්ණයෙන් ම වැළකිය යුතු ය.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මෙසේ පැවසූහ.

"හලාල් පැහැදිලි ය. හරාම් ද පැහැදිලි ය. ඒ දෙක මධ්‍යයෙහි සැක සහිත දෑ ද ඇත. බොහෝ දෙනා ඒ පිළිබඳව නොදැනුවත්ව සිටිති. කවරෙක් සැක සහිත දේවලින් වැළකී සිටින්නේ ද ඔහු ආගම හා ආත්මගරුත්වය ආරක්ෂා කර ගත්තේ ය. කවරෙක් අවිනිශ්චිත වූ දේවල් කරන්නේ ද ඔහු හරාම් කළ තැනැත්තා ය. ඔහු ආරක්ෂිත සීමාවන් දමා තිබෙන භූමියේ ගොපල්ලකු වැනිය. ඔහුගේ සතුන් එම භූමියට ඇතුළු වීමට හැකියි නේ ද? දැනගන්න, හැම රජෙකුට ම ආරක්ෂිත සීමාවක් තිබේ. අල්ලාහ්ගේ ආරක්ෂිත ප්‍රදේශය ඔහු හරාම් කළ දේවල් ය." (බුහාරි, මුස්ලිම්)

හරාම් වූ දේවලින් වැළකී සිටීමෙහි වැදගත්කම අල්කුර්ආන්, සුන්නාහ් යන දෙක ම නොයෙකුත් පදමාලාවන්ගෙන් විදහා පා ඇත. 'හරාම් වූ දේට ළං නොවන්න.' 'එය නොකරන්න, වළකින්න, අනුගමනය නොකරන්න, එය පවකි, නොකරන්න' යනාදිය ඒවායින් සමහරකි.

**එනිසා මේවා තේරුම් ගෙන හරාම් වූ දෙයින් වැළකී ජීවත් වීමට උත්සාහ දරමු.**

**අභ්‍යාස**

01. පහත සඳහන් ප්‍රකාශවල හරි, වැරදි බව වරහන් තුළ දක්වන්න.

1. හලාල් කුමක් ද, හරාම් කුමක් ද යන තීරණ ගැනීමේ අයිතිය මිනිසාට තිබේ. ( )
2. අල්ලාහ් හරාම් කළ දේවල යහපතට වඩා අයහපත වැඩි ය. ( )
3. ෂෛතාන් මිනිසාගේ සිත් තුළ හරාම් වූ දේ කෙරෙහි ආසාව ඇති කරයි. ( )
4. හලාල් වූ දේට වඩා හරාම් වූ දේ අධික ය. ( )
5. හලාල්, හරාම් පිළිපැද ජීවත් වීමෙන් පරලොව යහපත ලබා ගත හැකි ය. ( )

02. ඔබ ජීවත් වන පරිසරයේ දැකීමට ඇති හරාම් වූ ක්‍රියාකාරකම් 5ක් ලියන්න.



# 26

# ජාතීන් අතර සහජීවනය ගොඩනැගීම

සෙනෙහස, සහෝදරත්වය, ඉවසීම, ජාතීන් අතර සහයෝගීතාව යනාදී මිනිස් සබඳතාවන් තර කරන ගුණාංගයන්ගෙන් බැඳී තිබීම ජනයා අතර සමෘද්ධිය ඇති කිරීමට අවස්ථාවක් වන්නේ ය. ඉස්ලාම් දහම මෙය පිළිගන්නා අතර එහි වැදගත්කම ගැන දේශනාවන් ද කර ඇත. සාමකාමී ලෙස ජීවිතය ගත කිරීමට බල කරන ඉස්ලාම් ධර්මය, මිනිසා එකිනෙකා දැන හඳුනාගෙන ජීවත් වීමට මගපෙන්වන්නේ ය.

## සමාජ අතර සාධාරණත්වය පිළිපැදීම

ජාති, භාෂා, ප්‍රදේශ යනාදී සීමාවන් ඉක්මවා විවිධ ආගම්, සංස්කෘති අනුගමනය කරන ජනයා සමග සාමයෙන් ජීවත් වීමට ශුද්ධ වූ අල්කුර්ආනය මග පෙන්වා ඇත. මෙය ළඟා කර ගැනීමට වැදගත් සාධකයක් ලෙස සාධාරණත්වයෙන් කටයුතු කිරීමට බල කර ඇත. ජනයා අතර සාධාරණත්වයෙන් කටයුතු කිරීම දේව භක්තියට සම කළ හැකි බව අල්කුර්ආනය පැහැදිලි කරයි. එක් සමාජයක් හෝ කණ්ඩායමක් වෙත කෙනෙකු හෝ කණ්ඩායමක් දරන කැමැත්ත හෝ අකමැත්ත මත යුක්තිය ඉදිරියේ බලපෑම් නොකළ යුතු යැයි අල්කුර්ආනය අවධාරණය කරයි. **“ඊමාන්ධාරිනී, ඔබ නීතිගරුක වී අල්ලාහ් හමුවේ සාක්කිකරුවන් වන්න. ඔබ දක්වන යුක්තිය ඔබට හෝ ඔබගේ දෙමාපියන්ට හෝ ළඟ ම නෑදෑයකුට හෝ විරුද්ධ වුව ද කම් නැත.”** (4 : 35)

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මදීනාවේ පාලනය ස්ථාපනය කරන විට එහි සිදු වූ සිදුවීම්, ජාතීන් අතර සුහදතාව රැකගැනීමේ කටයුත්තෙහි ආදර්ශයක් විය. මුස්ලිම්වරු මක්කාවේ සුළු ජාතිකයන් ලෙස ජීවත් වූ විට කුරෛෂිවරුන්ගේ තාඩන පීඩන විඳ දරාගෙන හා මදීනාවේ මහජාතීන් ලෙස ජීවත් වූ විට සුළු ජාතීන්ගේ අයිතිවාසිකම්වලට ගරු කරමින් ජීවත් වූ බවට ඉතිහාසය සාක්කි දරයි. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ට පසුව සහාබාවරුන්ගේ හා තාබිඊන්වරුන්ගේ කාලවල දී මෙය ආදර්ශයක් ලෙස පැවතුණි.

## ගිවිසුම් මඟින් අයිතීන් රැක ගැනීම

මදීනාවේ ජීවත් වූ යුදෙව්වෝ නිතර ම ඉස්ලාමයට හා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ට විරුද්ධව ක්‍රියා කළ අය වූහ. ඔවුහු කටකතා පතුරවා හැර, මුස්ලිම්වරුන්ට එරෙහිව මුෂ්රික්වරුන් උසි ගැන්නුවෝ ය; මුස්ලිම්වරුන්ගේ සහෝදරත්වය විනාශ කිරීමට උත්සාහ කළෝ ය. මොවුන්ගෙන් නිතර ම ඉස්ලාමයට අනතුරු බහුල විය. එනමුත් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මදීනාවේ පාලනය බාරගත්හ. එම අවස්ථාවේ දී නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ එම යුදෙව්වන් සමඟ සුහදව ක්‍රියා කළහ. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් පාලනය කළ මදීනා ප්‍රදේශයේ යුදෙව්වෝ නජ්රාන් දේශයේ සිටියහ. එහි සියලු ම ආගමිකයින්ට සියලු ආකාරයේ අයිතීන් දී තිබුණි. ඔවුන් අතර ගිවිසුම් කිහිපයක් ද තිබුණි. ක්‍රි. ව. 622 දී මදීනා ගිවිසුමේ ඇති සමහරක් අයිතීන් ලබා දෙන ලදී.

- ගිවිසුම් ඇති කරගත් යුදෙව්වන් අපේ ආරක්ෂාවට අයිති වූවන් ය. ඔවුන්ට සියලු ම අයිතීන් ඇත. ඔවුන්ට අයුක්තියක් නොකරමු. ඔවුන්ගේ සතුරන්ට උදවු නොකරමු.
- යුදෙව්වන් ඔවුන්ගේ ආගමට අනුව ජීවත් වෙති. විවාහය, දික්කසාදය, දේපල උරුමකම්, වස්තු බෙදීම යනාදී කටයුතුවල දී යුදෙව්වන්ගේ ආගමේ නීතිරීති අනුව විසඳුම් දීමට හැකි ය.

### ක්‍රි. ව. 630 නජ්රාන් රටේ ක්‍රිස්තියානිවරුන් සමඟ ඇති කරගත් ගිවිසුමෙහි

- නජ්රාන් හා එය අවට ප්‍රදේශවල ජීවත් වන වැසියන්ගේ ප්‍රාණය, වස්තු, භූමිය, වෙළෙඳාම, ආගම වැඳුම් කරන පිළිම යනාදී සියල්ල ම දෙවියන්ගේ හා දේව දූතයාගේ ආරක්ෂාව යටතේ තිබේ.
- ඔවුන්ගේ දැනට පවතින තත්වයෙහි කිසි දු වෙනසක් සිදු නොකෙරේ, ඔවුන්ගේ අයිතිය පැහැර ගන්නේ නැත. කිසි දු පූජකවරයකු දේවාලයේ භාරකාරත්වයෙන් හා තනතුරුවලින් ඉවත් කරන්නේ ද නැත.

ඉහත දැක්වූ ගිවිසුම් දෙක ම නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා අනෙක් සමාජයන් සමඟ සුහදව කටයුතු කිරීම විදහා පාන්නේ ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ කාලයේ සේ ම සහාබාවරුන්ගේ කාලයේ දීත් ජාතීන් අතර සුහදතාව රැකුණේ ය.

වරක් උමර් රළියල්ලලාහු අන්හු තුමාණෝ මුස්ලිම් නොවන පුද්ගලයකුගෙන් අශ්වයකු මිලට ගත්හ. එම අශ්වයා පිට නැග ටික දුරක් යනවිට උගේ යම්කිසි අඩුවක් තිබෙන බව දැනගත් එතුමා විකුණූ තැනැත්තා වෙත පැමිණ නැවත ඌ භාරගන්නා ලෙස කී විට ඔහු එයට එකහෙළා ම විරුද්ධ විය. දෙදෙනා ම ෂුරයිහ් නම් විනිසුරුතුමා වෙත ගියෝ ය. නඩුව හොඳින් තේරුම්ගත් 'කාලිතුමා' "භාණ්ඩයක් විකුණූ පසුව දෙදෙනා ම එම ස්ථානයෙන් ඉවත් වීමට පෙර එය නැවත භාර දීමේ අයිතිය ගැනුම්කරුවාට තිබෙන නමුත් එම ස්ථානයෙන් දෙදෙනා ම ඉවත් වුවායින් පසු එය භාර නොගැනීමේ අයිතිය විකුණුම්කරුවාට තිබෙන බව" කියා එතුමා නඩුව අවසන් කළේ ය. එම තීන්දුවෙන් ඉතා සතුටට පත් වූ කලීෆා උමර් රළියල්ලාහු අන්හු තුමා 'කාලි' තුමාගේ තනතුර උසස් කොට 'කුබා' වෙහි 'කාලිවරයා' ලෙස ඔහු පත් කළේ ය.

## ආගම්වලට තිබෙන අයිතිවාසිකම්

සෑම මිනිසෙකුට ම තමා කැමති ප්‍රතිපත්තිය හෝ ආගම අනුගමනය කිරීමේ නිදහස තිබේ. මෙම වෙනස් වූ ප්‍රතිපත්ති හෝ ආගම් අනුගමනය කරන්නන් එකිනෙකාට සතුරන් නොවන බවත්, එලෙස ම කෙනෙකු පිළිගත් ආගම හෝ ප්‍රතිපත්තිය වෙනත් කෙනෙකුට පිළිගැනීමට බල කිරීමේ අයිතියක් නොමැති බවත් පෙන්වන්නේ ය.

**"ආගම් විෂයෙහි බල කිරීමක් නොමැත."** (2 : 256)

**"ඔබට ඔබගේ මාර්ගය, මා හට මාගේ මාර්ගය, ඔබ ඔබගේ ආගම අනුගමනය කරන්න. මම මගේ ආගම අනුගමනය කරන්නෙමි."** (109 : 6)

ඔවුන් විශ්වාස නොකළා යැයි ඔවුන් වෙත කිසිදු ආධිපත්‍යයක් කළ නොහැකි ය. **"ඔවුන් වෙත ආධිපත්‍යය පතුරවන්නෙකු ලෙස ඔබ නැත."** (88 : 22) යැයි අල්කුර්ආන් පවසන්නේ ය.

මෙවන් වාක්‍යයන් අධික වශයෙන් අල්කුර්ආනයේ දක්නට ඇත.

ක්‍රිස්තියානිවරුන් බහුලවශයෙන් විසූ පලස්තීනයේ පාලනය භාරගැනීමට ගිය කලීෆා උමර් රළියල්ලාහු අන්හු තුමාණෝ සලාතයෙහි නියමිත වෙලාව පැමිණ විට කිතුනු පල්ලියක සිටියහ. එම පල්ලිය භාර පූජකතුමා කලීෆා වෙත පැමිණ පල්ලිය තුල සලාතය ඉටු කරන ලෙස ඉල්ලූ විට, එය ප්‍රතික්ෂේප කළ කලීෆා තුමා පසු කාලයේ දී කෙනෙකු මෙහි මම සලාතය ඉටු කළ හේතුවෙන් මෙය මස්ජිදයක් කරන්නට පුළුවනි'' යැයි පවසා දේවාලයෙන් පිටත එතුමාගේ සළුව දමා සලාතය ඉටු කළේ ය.

## අනුන්ගේ හැඟීම්වලට ගරු කිරීම

යුදෙව්වකුගේ අවමඟුල් පෙරහැර පාරේ ගමන් කරන විට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ නැගී සිටියහ. "එය යුදෙව්වකුගේ මිනිය" යැයි කී විට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ "එයත් ආත්මයක් (ජීවිතයක්) නොවේ ද" යනුවෙන් පැහැදිලි කළහ. (බුහාරි, මුස්ලිම්)



## උදවු උපකාර කිරීම

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මක්කාවෙන් පිට වී මදීනාවේ ජීවත් වන කාලයේ මක්කා වාසීන් සාගතය හේතුවෙන් කුසගින්නෙන් පීඩා විඳින බව ආරංචි වී, වහා ම හාතිබ් බින් අබී බල්තආ යන මිතුරාට දිර්හම් 500ක් දී මක්කාවේ ජීවත් වන කුරෛෂි කාෆිර්වරුන්ට අවශ්‍ය දේවල් මිලට ගෙන දෙන ලෙස කීවෝ ය. මීට අමතරව මක්කාවේ මුස්ලිම්වරුන් වධහිංසාවලට ලක් වූ විට ඔවුන්ගෙන් සමහර අය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් ඇබිසීනියාවේ ක්‍රිස්තියානි රජතුමා වන නජ්ජාෂි වෙත ආරක්ෂා සහිතව යැව්වේ ය. මදීනාවේ ක්‍රිස්තියානි දූත පිරිසකට මස්ජිදයට ම කැඳවා සංග්‍රහ කළෝ ය. මදීනාවේ සිටින යුදෙව්වන් සමඟ ඇසුරක් තබාගත් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ හදිසි අවස්ථාවලදී ඔවුන් සමඟ ණය ගනුදෙනු ද සිදු කළහ.

## සහජීවනය ගොඩනැගීමට අදාළ මගපෙන්වීම්

- මිනිසුන් සියලු දෙනා ආදම් අලෛහිස්සලාම් තුමාගේ පරම්පරාවෙන් පැවත එන්නන් යැයි පිළිගැනීම.
- අසල්වැසියන් සමඟ සුහද ඇසුරක් තබා ගැනීම.
- වරදක් සිදු වන අවස්ථාවල දී සමාව දීම, සමාව ඉල්ලීම යනාදී වශයෙන් මහන්තත්වයෙන් තොරව කටයුතු කිරීම.
- පොදු සිදුවීම්, උත්සව අවස්ථාවල ඒවාට සහභාගීවීම, අන්‍යෝන්‍ය වශයෙන් උපකාර කිරීම.
- හදිසි අවස්ථාවලදී, අවශ්‍යතා ඇති වූ විට උදවු කරගැනීම, ප්‍රාදේශීය, ජාතික වශයෙන් යහපත් කටයුතුවල දී සහභාගීවීම.
- ජාතික සුහදතාව ඇති කිරීමේ සාකච්ඡා, රැස්වීම් යනාදී වැඩසටහන් සංවිධානය කිරීම හා ඒවාට සහභාගීවීම.
- අකීකා, ඉබාදා, හලාල්, හරාම් යනාදී කටයුතුවල දී අනුන්ගේ සිත්වල ජාති ආගම් විරෝධතා මතු නොවන ලෙස කටයුතු කිරීම.
- කතාවෙන් හෝ ක්‍රියාවෙන් අනෙක් ආගමික සංස්කෘතීන්ට අයත් ජනයා අපහසුතාවට පත් කිරීමෙන් වැළකීම.

### අභ්‍යාස

1. ජාතීන් අතර සහජීවනය සුරැකීමෙහි ලා මදීනා ගිවිසුමේ දායකත්වය දක්වන්න.
2. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් සහෝදර ආගමිකයන්ගේ හැඟීම්වලට ගරුකරමින් කටයුතු කළ බවට උදාහරණයක් ලියන්න.
3. සහාබාවරුන්ගේ යුගයේ ජාතික සහජීවනය සඳහා සිදුවූ සිද්ධියක් දක්වන්න.

# 27

# අන්‍ය ආගම්වලට ගරු කිරීම

ඉස්ලාම් ධර්මය සාමකාමී ධර්මයකි. එය ලොවෙහි සමෘද්ධිය හා අභිවෘද්ධිය ඇති කිරීම ප්‍රිය කරයි. ජනයා අතර සමානාත්මතාව, සහෝදරත්වය ඇති කිරීමට එය ප්‍රයත්න දරයි. සියලු දෙනා එකමුතුවෙන් ජීවත්වීම දේශනා කරයි; අන්‍ය සමාජයන් සමඟ ඉවසීමෙන් යුතුව කටයුතු කළ යුතු බව පවසන්නේ ය. අන්‍යයන් සමග සහයෝගයෙන්, යහපත් කටයුතුවල යෙදී, කුසල් රැස් කර ගන්නා ලෙසත් ආරාධනා කරයි. උදවුවීම, සහයෝගීත්වය, සාධාරණව කතා කිරීම, කැප කිරීම යන උසස් ගුණාංග සැමදා පිළිපදින මෙන් ඉල්ලා සිටින්නේ ය.

## සියලු මනුෂ්‍යයෝ සහෝදරයෝ ය.

ඉස්ලාම් ධර්මය මානව සහෝදරත්වය පිළිගෙන එය ආරක්ෂා කිරීමට බලකරන්නේ ය. සැම මිනිසෙකුගේ ම මුතුන් මිත්තන් වන්නේ ආදම්, හව්වා යැයි කීවේ ය. මිනිසා ඔවුන් දෙදෙනාගෙන් පරම්පරා ගත වූවන් ලෙස ද සඳහන් කර සියලු දෙනා ම සහෝදරයන් යැයි දේශනා කරයි.

**"නියත වශයෙන් ම අපි ඔබ එක් කාන්තාවකගෙන් හා එක් පිරිමියකුගෙන් ඇති කළෙමු. පසුව ගෝත්‍ර වශයෙන් හා කණ්ඩායම් වශයෙන් පත් කළෙමු. ඔබට එකිනෙකා වටහා ගැනීමට අවකාශ සැලැස්වීම වෙනුවෙන් මෙය කළෙමු."** (49 : 13)

"මිනිසුනි, ඔබගේ දෙවියා ඒකයා ය. දැනගන්න. අරාබිවරු, අරාබි නොවන්නන්ට වඩා හෝ සුදු ජාතිකයින් කළු ජාතිකයින්ට වඩා හෝ උසස් නොවන්නේ ය. උසස්භාවය තීරණය වන්නේ දේව භක්තිය මත පමණි." (අහ්මද්) යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් පවසා තිබීම සියලු ම ජනයා සහෝදරයන් බවට ආදර්ශයකි.

සහෝදරත්වය පිළිබඳ ඉස්ලාමීය අදහස ඉතා පුළුල් ය; යාවත්කාලීන ය, ඉස්ලාමීය විශ්වාසයේ එක් අංගයක් ලෙස ද එය ඇත්තේ ය. "දෙවියනි, මිනිසුන් සියලු දෙනා සහෝදරයින් බව මම සාක්කි දරමි" යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ සෑම ෆර්ලු සලාතයන්ගෙන් පසුව ප්‍රාර්ථනා කිරීම පුරුද්දක් ලෙස පිළිපදිමින් සිටියහ." යැයි සයිද් බින් අර්කම් රළියල්ලාහු අන්හු තුමාණන් පවසා ඇත. (අහ්මද් - අබූදාවූද්)

අල්කුර්ආනයේ බොහෝ දේශනාවන් හි ද මිනිසුනි, යනුවෙන් ඇරඹෙයි. එයට හේතුව එහි සඳහන් දේශනා ජනයින් සියලු දෙනාට ම උචිත වූ ඒවා යැයි පෙන්වීමටයි. එනිසා අප සියලු දෙනා එක ම කුලයකට අයත් වූ, සහෝදරයන් ය යන හැඟීම අප තුළ තිබිය යුතු ය.

- "තමා කැමති දෙය, තම සහෝදරයාටත් කැමති වනතුරු කෙනෙක් මුස්ලිම්වරයෙක් නොවේ." (මුස්නද් අහ්මද්)

- "මිහිතලයේ සිටින මිනිසාට ඔබ ඇලුම් කරනවා නම් ගුවනේ සිටින අල්ලාහ් ඔබට ඇලුම් කරයි." (තිර්මිදි)

- "මැවිම් සියල්ල ම දෙවියන්ගේ පවුල වේ." (බයිහකී)

එහෙයින් ජාති, ආගම්, ප්‍රාදේශීය වෙනස්කම් නොබලා මිනිසුන් සියලු දෙනාට ම ඇලුම් කළ යුතු බව ඉස්ලාමයේ මූලික දේශනයක් ලෙස පවතින බව දැකගත හැකි ය.

### ආගමික නිදහස

සෑම මිනිසෙකුට ම තමා කැමති ප්‍රතිපත්තිය හෝ දහම අනුගමනය කිරීමේ නිදහස ඇත. මෙය ඉස්ලාමය පිළිගෙන ඇත. මේ අනුව වෙනස් වූ ප්‍රතිපත්ති හෝ දහම් අනුගමනය කරන්නන් කෙනෙකුට කෙනෙක් සතුරන් නොවන බව ඉස්ලාමය දේශනා කරයි.

එසේ ම තමා පිළිගත් දහම හෝ ප්‍රතිපත්තිය වෙනත් කෙනෙකුට බලෙන් පැටවීමට කිසි දු අයිතියක් නැත. මෙය ද ඉස්ලාමය පැහැදිලිව ප්‍රකාශ කර ඇත. එය අල්කුර්ආනය මෙසේ පවසයි.

"ආගමේ බල කිරීම් නොමැත." (2 : 256)

"ඔවුන් කෙරෙහි ආධිපත්‍යය පතුරුවන්නකු ලෙස ඔබ නොසිටින්නෙහි." (88 : 22)

ඒ සමඟ ම අල්ලාහ් හැර වෙනත් දේවලට වැඳුම් පිදුම් කරන්නන්ගේ දෙවියන් හට අවමන් නොකරන්නැයි කුර්ආනය අණ කරන්නේ ය."(දේව විශ්වාසවන්තයිනි) ඔවුන් අල්ලාහ් හැර, කවුරුන් වෙත ප්‍රාර්ථනා කරන්නේ ද, ඔවුන්ට බැන වදින්න එපා." (6: 108)

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් පාලනය කළ මදීනාවේ යුදෙව්වන් අතර ප්‍රතිමාවන්ට වදින්නන්ද සිටියහ. මදීනා නගරය ආසන්නයේ නජ්රාන් දේශයේ ක්‍රිස්තියානිවරු සිටියහ. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ, එතුමාගේ පාලන සමයේ සියලු ම ආගම්වලට අයත් අයිතීන් ලබා දුන්හ.

## යුක්තිය සාධාරණය ලබා ගැනීමේ අයිතිය

ජාතිය, භාෂාව, ප්‍රදේශය, රට යනාදී සීමා ඉක්මවා මිනිසුන් එක් වී සාමයෙන් ජීවත් වීමට ඉස්ලාමය දක්වන තවත් දෙයක් නම් සැමට ම පොදු වූ සාධාරණත්වය තහවුරු කිරීම ය. සමාජයේ ජීවත් වන සෑම මිනිසෙකුට ම සාධාරණව සැලකීම, පාලන බලය සතු සෑම තරාතිරමක ම සිටින නායකයින්ගේ වගකීම වේ. මෙම වගකීම ඉතා භාරදූර වගකීමකි. දේව විශ්වාසයට  සමානව යුක්තිය පිළිබඳ අල්කුර්ආනය පැහැදිලි කරන්නේ ය.

"යුක්තිය ක්‍රියාත්මක කරන්න. එය දේව බියට ඉතා සමීප වේ." (5 : 8)

එක් සමාජයකට හෝ කණ්ඩායමකට හෝ කෙනෙකුට හෝ කණ්ඩායමකට දක්වන කැමැත්ත - අකමැත්ත යුක්තිය ක්‍රියාත්මක කිරීමේ දී පක්ෂපාතී නොවිය යුතු බව අල්කුර්ආනය එක හෙළා ම අණ කර ඇත.

"ඊමාන්ධාරීනි, ඔබ යුක්තිය ක්‍රියාත්මක කිරීමේ දී අල්ලාහ්ට සාක්කිකරුවකු වන්න. ඔබ යුක්තිය ක්‍රියාත්මක කිරීමේ දී ඔබ, ඔබගේ දෙමාපියන්ට හෝ හිතවත් නෑදෑයින්ට විරුද්ධ වූව ද" කම් නැත. (4 : 35)

මුස්ලිම් නොවන ජනයාගේ ප්‍රාණය (ජීවය), වස්තූන්, විශ්වාසය, ගෞරවය යනාදිය ආරක්ෂා කිරීමේ දී ඉස්ලාමය ඒ දෙස අවධානය යොමු කරන්නේ ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මෙසේ පැවසූහ. "ගිවිසුම්කරුවන්ට (ඉස්ලාමීය පාලනයේ මුස්ලිම් නොවන පුරවැසියෙකුට) මුස්ලිම්වරයෙක් අසාධාරණයක් සිදු කළා නම් හෝ අයිතිය පැහැර හැරියා නම් හෝ, ඔහුගේ ශක්තියට වඩා බර පැටවූවා නම් හෝ ඔහුගේ බඩුබාහිරාදියක් බලෙන් ලබාගත්තා නම්, අවසාන දිනයේ අල්ලාහ්ගේ අධිකරණයේ ඒ මුස්ලිම්වරයාට විරුද්ධව පවරන නඩුවේ මුස්ලිම් නොවන පුරවැසියා වෙනුවෙන් මම වාද කරමි." (අබූදාවූද්)

හස්රත් උමර් රළියල්ලාහු අන්හු තුමාණන්ගේ පාලන සමයේ අම්ර් ඉබ්නු ආස් රළියල්ලාහු අන්හු තුමා ඊජිප්තුවේ ආණ්ඩුකාරවරයා ලෙස සිටියේ ය. ඔහුගේ පුතා ඊජිප්තු සමාජයේ ක්‍රිස්තු තරුණයෙකුට දරුණු ලෙස පහර දුන්නේ ය. ලැජ්ජාව දරා ගත නොහැකි වූ ඒ තරුණයා මෙම සිද්ධිය කලීෆා උමර් රළියල්ලාහු අන්හු තුමාණන්ගේ අවධානයට යොමු කළේ ය. කලීෆා උමර් රළියල්ලාහු අන්හු තුමා ආණ්ඩුකාරවරයාට හා පුතාට වහා ම මදීනාවට පැමිණෙන ලෙස පණිවිඩයක් යැවී ය.

කලීෆා ඉදිරියට ආණ්ඩුකාර අම්ර් ඉබ්නු ආස් හා ඔහුගේ පුතා ද, පහරදීමට ලක් වූ තරුණයා ද පැමිණ සිටියහ. කලීෆා ඒ තරුණයා දෙස බලා "ඔබට ආණ්ඩුකාරවරයාගේ පුතා කෙසේ ද පහර දුන්නේ, එසේ ම ඔබත් ආණ්ඩුකාරවරයාගේ පුතාට පහර දෙන්න," යැයි අණ කළේ ය. පහර වැදුණි. ආණ්ඩුකාර අම්ර් ඉබ්නු ආස් මහත් විමතියට පත්විය. උමර් රළියල්ලාහු අන්හු තුමාණෝ මෙසේ පැවසූහ. "හැම මවක් ම තම දරුවන් නිදහස් ව වදා ඇත. එසේ තිබියදී ඔබ ඔවුන් වහලුන් ලෙස තබාගන්නට උගත්තේ කෙදිනක ද?''

**එනිසා මුස්ලිම් සමාජය මහ ජාතියක් ලෙස හෝ සුළු ජාතියක් ලෙස හෝ ජීවත් විය හැකි ය. නමුත් ඔවුන්ගේ ජීවිතයේ මග පෙන්වීම ඉස්ලාමය පමණක් විය යුතු ය. සහජීවනය එම සබඳතාවල මූලික විය යුතු ය. එහි සාමය තිබිය යුතු ය. ඉස්ලාමයේ අනන්‍යතාව රැකගත යුතු වන අතර ම අන්‍ය ආගමිකයන්ට ද ගරු කර ජීවත් වීම අත්‍යවශ්‍ය වේ.**

**අභ්‍යාස**

1. මිනිස්සුන් සියලු දෙනා සහෝදරයෝ ය, යන්න පවසන හදීස් දෙකක් ලියා දක්වන්න.
2. අන්‍ය ආගම්වලට ගරු කළ යුතු බව පවසන අල්කුර්ආනයේ ඉගැන්වීම් දේශනා දෙකක් ලියා දක්වන්න.
3. උමර් රළියල්ලාහු අන්හු තුමාණන්ගේ පාලන සමයේ යුක්තිය ක්‍රියාත්මක කිරීම සම්බන්ධයෙන් වූ සිද්ධියක් ලියා දක්වන්න.
4. අන්‍ය ආගම්වලට ගරු කිරීම පිළිබඳව ඔබගේ මිතුරාට ඔබ පවසන උපදෙස් පහක් ලියන්න.

# 28

# ශ්‍රී ලංකාවේ ඇති අනෙකුත් ආගම් - 1



ශ්‍රී ලංකාව විවිධ ආගම් අදහන ජනතාවගෙන් සැදුම්ලත් රටකි. බෞද්ධාගම, හින්දු ආගම, ඉස්ලාම් ආගම හා ක්‍රිස්තියානි ආගම ඒ අතර වැදගත් වේ. ආගමික වශයෙන් වෙනස් වුව ද, එක ම රටක ජීවත් වන්නන් වශයෙන් සියලු ආගමිකයින් අන්‍යෝන්‍ය අවබෝධයකින් යුතු ව කටයුතු කිරීම මගින් දීප්තිමත් ශ්‍රී ලංකාවක් ගොඩනැගීමට දායක විය හැකි ය.

මුස්ලිම්වරුන් වන අප අනෙකුත් ආගම් ද, ආගමික නායකයින් සහ ආගමික උත්සව පිළිබඳව ද දැන සිටීම සුදුසු ය. එවිට අනෙකුත් ආගම් අදහන පිරිස සමග මනා අවබෝධයකින් යුතු ව සහයෝගයෙන් කටයුතු කළ හැකි වේ. එසේ ම ආගමික දේශනාවලට හා ඔවුන්ගේ පාරිශුද්ධ සංකේතවලට අගෞරව නොකිරීම අපගේ යුතුකම වේ.

ඒ අනුව බෞද්ධ ආගම, හින්දු ආගම, ක්‍රිස්තියානි ආගම ආදිය පිළිබඳව හා එම දේශනා, නිර්මාතෘවරුන් ආදිය පිළිබඳව විමසා බලමු.

## අ) බෞද්ධ ආගම

වසර 2600කට පමණ පෙර ඉන්දියාවේ ඊසාන දෙසින් හිමාල කන්දෙහි දකුණු බෑවුමෙහි ශාක්‍ය ජනපදය පිහිටා තිබුණි. එය ශාක්‍ය වංශිකයින් විසින් පාලනය කරන ලදී. එම



වංශයේ නායකයා සුද්ධෝදන මහරජතුමා විය. ඔහුගේ බිසව මහාමායා දේවියයි. ඇය ලුම්බිණි නම් වූ අලංකාර සල් උයනෙහි තම කුළුඳුල් දරුවා බිහි කළා ය. එම දරුවාට සිද්ධාර්ථ යැයි නම් තබන ලදී. එම දරුවාගේ පෙළපත් නාමය ගෞතම වේ. එබැවින් සිද්ධාර්ථ ගෞතම යනුවෙන් ඔහු පෙනී සිටියේ ය.

රජ පවුලක සුඛෝපභෝගී ව ඇති දැඩි වූ සිද්ධාර්ථ කුමාරයා ක්‍රමයෙන් වැඩෙත් ම රජ කුමරෙකුට අවශ්‍ය සියලු ශිල්ප කලාවන් උගන්වන ලදී. පසු ව තම දහසය වන වියෙහි දී යශෝධරා දේවිය හා විවාහ වූයේ ය.

එසේ වුව ද, තම සුඛෝපභෝගී ජීවිතය පිළිබඳ ව එතුමාට කළකිරීමක් ඇති විය. සෑම මොහොතක ම භාවනාවෙහි නිරත වීම එතුමාගේ පුරුද්දක් විය. එහෙත් සුද්ධෝදන රජතුමා තම දරුවා රාජ කුමාරයකුට හිමි ජීවිතයකට යොමු කිරීමට මහත් උත්සාහයක් දැරුවේ ය. එහෙත් සිද්ධාර්ථ කුමරු ජීවන යථාර්ථය පිළිබඳ ව සෙවීමෙහි නියැලුණේ ය.

එතෙක් අධි සුඛෝපභෝගී ජීවිතයක් ගත කළ මෙතුමාට මිනිසාගේ දුක් කම්කටොලු කිසිවක් දැක ගැනීමට හැකි වූයේ නැත. එහෙත් කෙටි කාලයකින් දුක්ඛිත සිදුවීම් රැසක් දක්නට ලැබිණි. පළමු ව මහල්ලකු ද, පසු ව රෝගියකු හා මළ මිනියක් ද එතුමාට දැකීමට ලැබිණි.



මෙහි ප්‍රතිඵලයක් ලෙස මෙලොව ජීවිතය වනාහි දුෂ්කරතාවලින් පීඩිත වූ කටුක ජීවිතයක් ය යන සත්‍යය එතුමා වටහා ගත්තේ ය. පසුව ශාන්ත වූ, තැන්පත්, පැවිදි කෙනෙකු හමු වීමේ අවස්ථාව ද හිමි විය. උන් වහන්සේ මෙන් ගිහි ජීවිතය අතහැර පැවිදිවීමට සිද්ධාර්ථ කුමාරයාට අවශ්‍ය විය. එමගින් තමන්ට මෙන් ම ලෝවැසි ජනතාවට ද දුක් කරදරවලින් මිදීමට හැකි වේ යැයි එතුමාණෝ සිතූහ.

එම අවස්ථාවේ එතුමාණන්ගේ බිරිඳ තම කුළුඳුල් දරුවා මෙලොවට බිහි කළා ය. තමා රජ මාලිගාවේ තවදුරටත් ජීවත් වූයේ නම් තම බිරිඳ කෙරෙහි ද දරුවා කෙරෙහි ද වූ සෙනෙහස අධික වී විමුක්තිය කරා යාමට බාධාවක් වේ. ලෝක සත්ත්වයා කෙරෙහි මෛත්‍රියෙන් රජ පදවිය ද අතහැර තම බිරිඳගේ හා දරුවාගේ සෙනෙහසින් මිදී ජීවිතයේ යථාර්ථය සොයා ගැනීම සඳහා තම 29 වන වියෙහි දී සිද්ධාර්ථ කුමාරයා අභිනිෂ්ක්‍රමණය කළේ ය.

කුමාරයා ගිහිගේ අතහැර දමා සය වසරක් විවිධ ස්ථානවලට ගොස් දුෂ්කරතා අත්වින්දේ ය. බුද්ධිමතුන්ගේ උපදේශනවලට සවන් දුන්නේ ය. විවිධ දුෂ්කරතා හා පරීක්ෂණ තමා වෙත ඇති කර ගත්තේ ය. නමුදු තමා සොයා ගිය සත්‍යය සොයා ගැනීමට එතුමාට නොහැකි විය. එතුමා තම ශරීරයට අධිකව දුක් දීම තුළින් සත්‍යය සෙවීමට උත්සාහ ගත්තේ ය. එහෙත් එය අසාර්ථක විය. අවසානයේ අධික සැප විඳීමෙන් හෝ අධික දුක් විඳීමෙන් නොව මධ්‍යම ප්‍රතිපදාවෙන් (ඒ දෙක අතරමැදි ලෙස ගමන් කිරීමෙන්) සැප ලැබිය හැකි බව උන්වහන්සේ තේරුම් ගත්හ.

වෙසක් පෝය දිනයක ඇසතු බෝගස් සෙවණක එතුමාණෝ ගැඹුරු භාවනාවක යෙදී සිටියෝ ය. එවිට තමන් සොයා ගිය සත්‍යය අවබෝධ වී පහත සඳහන් කරුණු (චතුරාර්ය සත්‍යය) එතුමාණෝ අවබෝධ කරගත්හ.

- සියලු දෙනාට ම තම ජීවිතයේ දී නොයෙක් දුක් විඳීමට සිදු වේ. (දුක්ඛ සත්‍යය)
- එම දුක් ඇතිවීමට හේතු ඇත. (සමුදය සත්‍යය )
- එම දුකට හේතුව නැති කළ විට දුක නැති වේ. (නිරෝධ සත්‍යය )
- එම දුකෙන් මිදීමට ක්‍රමවේදයක් ඇත. (මාර්ග සත්‍යය )

සත්‍යය අවබෝධ කොට බුද්ධත්වය ලැබූ පසු උන්වහන්සේ **සම්මා සම්බුදු රජාණන් වහන්සේ** යනුවෙන් හඳුන්වන ලදහ.

බුදු රජාණන් වහන්සේ තමන් වහන්සේ අවබෝධ කර ගත් ධර්මය මිනිසුන්ට දේශනා කළ සේක. බොහෝ ශ්‍රාවකයෝ උන්වහන්සේගේ ශිෂ්‍යයෝ වූහ. කෙනෙකු තම ජීවිතයේ අධි සුඛෝපභෝගී සැප සම්පත් සොයා යන්නේ නම් අවසානයේ දුක්විඳීමට සිදු වේ, යන්න මෙම දේශනාවේ අන්තර්ගත විය. එසේ ම අධිකව දුක් විඳින්නාට ද සැපක් උදාකරගත නොහැකි වේ. එබැවින් අවශ්‍ය පමණට සීමා වූ මැදියම් වූ පිළිවෙතක් අනුග මනය කිරීම සුදුසු බව උන්වහන්සේ දේශනා කළ සේක.

මින් පසුව වසර හතළිස් පහක් පමණ උන්වහන්සේ ජීවත් වූ සේක. එම කාලය පුරා සියලු සත්ත්වයන්ගේ යහපත වෙනුවෙන් තම ජීවිතය කැප කළ සේක. අවිහිංසාව, ආදරය, කරුණාව, අන් අයට සේවය කිරීම, ඔවුන්ගේ සැපවත් ජීවිතය පිළිබඳව සිතීම, රෝගීන්ට පිහිටවීම ආදිය බුදුන් වහන්සේගේ ජීවිතයේ වැදගත් අංග විය.

වෙසක් පෝය දිනයක කුසිනාරා නුවර නම් ස්ථානයේ පිහිටි සල් ගස් උයනක උන්වහන්සේ පිරිනිවන් පෑ සේක. එවිට උන් වහන්සේ තම අසූ වන වියෙහි පසු වූ සේක. ලොව පුරා වෙසෙන බෞද්ධ ජනතාවගේ කරුණාවේ උල්පත වූ බුදුරජාණන් වහන්සේගේ ඉපදීම, බුදුවීම, පිරිනිවන් පෑම යන තෙමගුල සිදු වූ වෙසක් පෝය දිනය මහත් උත්සවාකාරයෙන් සමරනු ලැබේ. බුදුන් වහන්සේගේ දේශනා විශාල පිරිසකට ආශීර්වාද ලබා දෙමින් පවතින්නේ ය.

**අභ්‍යාසඃ**

1. ශ්‍රී ලාංකික ජනතාව අදහන ආගම් හතරක් නම් කරන්න.
2. මහාමායා දේවියට උපන් කුළුඳුල් පුතාට තබන ලද නම කුමක් ද?
3. බුදු රජාණන් වහන්සේ දුටු දුක්ඛිත සිදුවීම් තුන කවරේ ද?
4. බුදු රජාණන් වහන්සේගේ ඉපදීම, බුදුවීම හා පිරිනිවන් පෑම සිදු වූයේ කුමන දිනයේ ද?

# 29

# ශ්‍රී ලංකාවේ ඇති අනෙකුත් ආගම් - 2

## හින්දු ආගම



හින්දු ආගම පෞරාණික ආගමකි. ලොව පැවත එන ආගම් අතුරින් මෙය ඉපැරණි ම ආගමක් වේ.

හින්දු ආගම යන නාමය එසේ එනමින් හැඳින්වූව ද, එහි ආගමික ග්‍රන්ථ කිසිවක එම නාමය සඳහන් වන්නේ නැත. ඉතා පැරණි කාලයේ සින්දු ගංගා මිටියාවතෙහි ජීවත් වූ ජනතාවට, පර්සියානුවරු හින්දුවරුන් යැයි ඇමතූහ. කල් ගතවන විට ඉන්දීය ජනතාවගේ ආගම හින්දු ආගම යැයි භාවිත විය. සැබැවින් ම හින්දු ආගමෙහි නිවැරදි නම "සනාතන ධර්මය" නම් වේ. ඕනෑ ම කාලයකට, ඕනෑ ම අවස්ථාවකට උචිත ලෙස කටයුතු කරන ධර්මය යන්න මෙහි අදහස වේ.



හින්දු ආගමේ විවිධ ආගමික කොටස් දක්නට ලැබේ. එම කොටස් අතර,

1. එක දෙවියකු සිටින්නේ ය (ඒක දේව) යන්න ද,

2. ඉරුක්කු (ඍග් වේදය), යකුර් (යජුර්වේදය), සාමම් (සාමවේදය), අදර්වනම් (අථර්වවේදය) යන ආගම් හතර තම ආගමෙහි මූලාශ්‍ර ග්‍රන්ථ යන්න ද පිළිගැනේ. ආගම් යනු ඍෂිවරුන්ට හා නැණවතුන්ට දෙවියන් විසින් කාලයෙන් කාලයට පහළ කරනු ලැබූ ආගමික ග්‍රන්ථයන් ය.

හින්දු ආගමික කොටස් අතර දෙමළ ජනතාව අතර ස්ථාවර ලෙස පැවත එන ප්‍රධාන කොටස් සයිවම් හා වයිනවම් නම් වේ. සයිවවරු තම ප්‍රථම දෙවියා ශිව දෙවියන් ලෙස පිළිගනිති. වයිනවවරු තම ප්‍රථම දෙවියා විෂ්ණු යැයි පිළිගනිති. මෙම දෙපිරිස තමන් සඳහා වෙනස් වූ වතාවත් ද සිරිත් ද ක්‍රියාත්මක කරති.

ශිව වතාවත් පුරාතන නගරයක් වූ මොහෙන්දජාරෝ, හරප්පා හි පැවති බව සමීක්ෂකයෝ පවසති. වර්තමානයේ ද හිමාලය සිට ශ්‍රී ලංකාව දක්වා සමහර ස්ථානවල ශිව වතාවත් සිදු වේ. ශ්‍රී ලංකාවේ ද ඈත අතීතයේ සිට ම හින්දු ආගම පැවත එන්නේ ය. සංස්කෘතික කාලයට පෙර පාලනය කළ රාවණා සයිවවරයෙකි. වර්තමානයේ ශ්‍රී ලංකාවේ බොහෝ හින්දුවරු සයිවවරු වෙති.

සයිව ආගමිකයන්ට වේදයන් සමග ධර්ම ශාස්ත්‍ර ග්‍රන්ථයන් ද ඇත. මෙමගින් ආගමික දර්ශනයන් ද, කෝවිල් ඉදිකරන ආකාරයන් ද, දෙවියන් අදහන ආකාරයන් ද පෙන්නුම් කර ඇත.

සයිවවරුන් හට පෙර පැවසූ පරිදි ම එක දෙවියෙක් පමණක් සිටියි. ඔවුහු දෙවියන් "ශිව දෙවියන්" ලෙස අමතති. (ශිව යන්නෙන් යහපත කරන්නා යන අදහස ගෙන දෙයි) දෙවියන් ඒකයකු වුව ද එම දෙවියන් විවිධ කටයුතු කරන විට ඔවුහු විවිධ නම්වලින් දෙවියන් අමතති.

සයිව ශුද්ධ කෝවිල් හා එහි ඇති ප්‍රතිමා ආදිය දාර්ශනික අදහස් පැහැදිලි කරන සංකේත වේ.

සයිව කෝවිල්වල දිනකට හය වරක් ආගමික වතාවන් සිදු වේ. සයිව ජනතාව දිනපතා කෝවිල තුළ නැමදීම් කටයුතු සිදු කළ යුතු ය. එලෙස කිරීමට නොහැකි වූ අය විශේෂ දිනවල දී හෝ කෝවිලට යා යුතු ය. විශේෂ දින අතර සිකුරාදා දිනය ද එකකි.

සයිව ජනතාව තම දෙවියන් භක්ති මාර්ගය මගින් පිළිපදිති. දෙවියන් වෙත දැඩි ස්නේහයකින් පිළිපැදීම භක්ති මාර්ගය වේ. මෙලෙස පිළිපදින විට එක් එක් අය තමන් හට ගැළපෙන ආකාරයෙන් දෙවියන් හා සම්බන්ධතා පවත්වති. සමහරු දෙවියන් ප්‍රධානියා ලෙස සලකා නැමදුම් කරති. තවත් සමහරු දෙවියන් පියාණන් ලෙස සලකා නැමදුම් කරති. තවත් සමහරු දෙවියන් සමග හිතවතකු හා සමානව ඇසුරු කරති. කුමන ආකාරයකින් දෙවියන් වන්දනය කළ ද, අවසානයේ සියලු දෙනා ගමන් කරන ශ්‍රේෂ්ඨතම වස්තුව එක ම වේ.

සයිව ජනතාව විවිධාකාර වූ උපවාස රකිති. උපවාස දිනවල සිත එක්තැන් කර දෙවියන්ට යාඥා කරති. උපවාසය දැඩිව රකින්නෝ දිවා, රෑ ආහාර අනුභව නොකර සිට පසු දින ආහාර අනුභව කරති.

සයිව ජනතාව ඇතුළු හින්දු ජනතාවගේ දෛනික ජීවිතය ද සමූහ ජීවිතය ද පාලනය කරන්නේ "සම්රුදි" යන ධර්ම ශාස්ත්‍රය ය. සයිව ආගමික ජීවිතය ගත කළ සෘෂිවරුන් විසින් එය ස්ථාපිත කරන ලද හෙයින් හින්දුවරුන් විසින් මෙය නොවරදවා පිළිපදිනු ඇතයි අපේක්ෂා කරනු ලැබේ. එහෙත් මෙය ආගමික දර්ශනයක් සේ සෑම කාලයකට ම උචිත වන්නක් නොවේ. මෙය කාලය හා පරිසරය මගින් වෙනස්කම්වලට භාජනය වේ.

දමිළ සයිව ජනතාවගේ සමාජයේ ද, කාලයෙන් කාලයට ඥානවන්තයින් බිහි වී, තම ජීවිතය මගින් ආගම ද, ආගමික බැඳීම ද, ජනතාව තුළ වර්ධනය කර ඇත. මොවුන් අතර අප්පා, සම්බන්දර්, ශුන්දරර්, මාණික්කවාසහර් යන සිව් වග ආගමික නිර්මාතෘවරුන් ලෙස සලකා ඔවුන් පෙන්වූ මග පිළිපැදීමට උත්සාහ දරති.

## ක්‍රිස්තියානි ආගම

ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ අනුගමනය කරන්නෝ ක්‍රිස්තියානිවරුන් යැයි හඳුන්වනු ලබති. ක්‍රිස්තුවරුන්ගේ ශුද්ධ ග්‍රන්ථය බයිබලය වේ. දේව පුත් වූ ජේසුස් වහන්සේ මිනිස් රූපයෙන් පාපතර වූ ලෝකයට පහළ වූ බව ද, කන්‍යාවක වූ මරිය තුමියට පරිශුද්ධ වූ ආත්මයකින් පිළිසිඳ ගැනීම සිදු කළ බව ද පවසනු ලැබේ. පසු කාලයේ දැඩි ලෙස වෙහෙස වී ලෝ වැසියන් මුදා ගැනීම වෙනුවෙන් කැප වී කුරුසි පත්ව තුන්වන දිනයේ උත්තාන වූ බව ක්‍රිස්තියානි භක්තිකයන්ගේ විශ්වාසය වේ. එය ක්‍රිස්තු භක්තිකයෝ දැඩි ලෙස විශ්වාස කරති.



ජේසු තුමා බෙත්ලෙහෙම් නම් කුඩා ගම්මානයේ ඉතා දුගී පැලක, යුදෙව් කුලයේ උපත ලැබී ය. කන්‍යාවක වූ මරිය තුමිය මෙතුමාගේ මව වූවා ය. මරියා තුමිය හට විවාහ යෝජනා කර සිටි වෘත්තියෙන් වඩුවකු වූ ශුද්ධ වූ ජෝසප් තුමා (ජුසේ මුනින්ද්‍ර) ජේසු තුමාගේ උපතේ සිට ම එතුමාගේ හදාවඩා ගත් පියා විය.

"නසරේත්" නම් ගමෙහි ජේසු තුමා තම තරුණ කාලය ගත කළ බැවින් මෙතුමා නසරේත්හි ජේසු යැයි හඳුන්වනු ලැබිණි. අනාගත වක්තෘ යෙසායා තුමා පැවසූ පරිදි අනාගතයේ බිහි වීමට නියමිතව සිටි තැනැත්තා අපේක්ෂාවෙන් බලා සිටි ගැලවුම්කරු, අවසාන වශයෙන් පැමිණ සිටින බව ජනතාවට දැනුම් දෙනු ලැබී ය.

ජේසු තුමාගේ වචන හා ක්‍රියාවලින් සපිරි ශුද්ධ වූ සේවය වූයේ දෙවියන් විශ්වාස කර, අසල්වාසීන්ට ප්‍රේම කර, සමාව දී ජීවත් විය යුතු ය, යන්න පැහැදිලි ය. එතුමා දුගීන්, අසරණයින්, වහලුන් ආදීන්ට උදවු කළේ ය; සමාජය පිළිකුල් කරන අයට එතුමා පක්ෂපාතීව සිටියේ ය; පාපිෂ්ටයින්ට මහත් අනුකම්පාවක් දැක්වූයේ ය; රෝගීන් සුවපත් කළේ ය. අන්ධයින්ට පෙනුම ලබා දුන්නේ ය; ගොළුවන් හට කථනය ලබා දුන්නේ ය; මළවුන්ට ප්‍රාණය ලබා දුන්නේ ය; මුහුදේ හටගත් කුණාටු පාලනය කළේ ය; එතුමාණෝ දේව පුත්‍ර භාවය ලබා සිටි බැවින් දේව ආත්මානුභාවයෙන් කටයුතු කරමින් ආශ්චර්යවත් ලෙස ක්‍රියා කළ සේක.

ජේසු තුමා තමාගේ සහායට ගෝලයන් දෙළොස් දෙනකු තෝරා ගත්තේ ය. ඔවුන්ට මෙලෙස දේශනා කළේ ය.

"මා ඔබට ප්‍රේම කරන්නා සේ ම ඔබ ද අන් අයට ප්‍රේම කරන්න."

එතුමාණෝ ගමින් ගමට ගොස් තමා පිළිගත් මහත් ජන සමූහයාට උපමා කතන්දර මගින් ද තම ජීවිත ආදර්ශය මගින් ද, සුභාරංචිය ඒත්තු ගැන්වූ සේක.

"ඔබගේ දෙවියාට හදවතින් ම ප්‍රේම කරන්න. ඔබට දෙවියන් ප්‍රේම කරන්නා සේ ම ඔබ අසල්වාසීන්ට ප්‍රේම කරන්න."

එතුමාගේ උපදේශන, සියල්ලන් හට පහසු ලෙස පැවතුණි. ආත්මාර්ථකාමී ජීවන රටාව වෙනස් කොට නව ජීවන ක්‍රමයකට නිරහංකාර වූ, දයාලු වූ හදවතින් යුක්තව සිටින්න; මාගේ මගෙහි ගමන් කරන්නන් හට සියලු යහපතක් ම සිදු වේ, යැයි පවසමින් විශේෂයෙන් තමන් හට සවන් යොමු කිරීම ප්‍රතික්ෂේප කළ ආඩම්බරකාරීන්ට ද, කුහකයන්ට ද, ඒ බව ඒත්තු ගැන්වූයේ ය.

සැබවින් ම උන්වහන්සේට ස්නේහ නොකළ පිරිසක් ද සිටියහ. සමහර දේවස්ථානවල පූජකයින් ද, අධිකාරීන් ද එතුමාට ස්නේහ නොකළහ. එබැවින් ඔහුට විරුද්ධව නැගී සිටි ජනයා එතුමාට දෝෂාරෝපණය කොට එතුමාට දඬුවම් නියම කිරීම සඳහා එවකට රෝමය පාලනය කළ "පෝන්තියුස් පිලාත් හට" භාර කළහ. ඔහු විසින් එතුමාට මරණ දඬුවම නියම කරන ලදී.

ජේසු තුමාට කසපහර දෙන ලදී. උසුළු විසුළු කරන ලදී. කටු කිරුළක් පලඳවන ලදී. කුරුසිය ඔසවාගෙන යාමට දී ජෙරුසලමට පිටතින් වූ කල්වරි කන්දෙහි දී කුරුසියේ ඇණ ගසන ලදී. රෝමවරුන්ගේ දඬුවම් ක්‍රම අතර මෙය ද එක් ක්‍රමයකි.

ජේසුස් වහන්සේ සිකුරාද දිනයක මරුමුවට පත් වූ බැවින් ක්‍රිස්තියානි භක්තිකයෝ වසරක් පාසා එම සිදුවීම සිහිකර වතාවත් කරති. එම ශෝක දිනය මහ සිකුරාද යැයි හඳුන්වනු ලබති. එසේ ම එතුමා ඉරිදා දිනයක උදෑසන නැවත උත්ථාන වූ බැවින් මෙය "පාස්කු ඉරිදා" යැයි ක්‍රිස්තු භක්තිකයෝ සමරති. එදින සිට ඔවුහු සෑම ඉරිදා දිනයක ම දේව නමස්කාරයේ යෙදෙති.

ජේසු තුමා මෙම ලෝකය තුළ උපත ලද දිනය නත්තල් දිනය ලෙස ක්‍රිස්තු භක්තිකයෝ සමරති.

ක්‍රිස්තියානි අය අතර විවිධ කණ්ඩායම් දක්නට ලැබේ. කතෝලික යනු ඔවුන්ගේ ප්‍රධාන කණ්ඩායමකි.

**අභ්‍යාස**

1. හින්දු ආගමෙහි නිවැරදි නම කුමක් ද? එහි අදහස කුමක් ද?
2. හින්දු ආගමික මූලාශ්‍රය ග්‍රන්ථ වන ආගම් හතර කුමක් ද?
3. "මහ සිකුරාදා" දිනය ක්‍රිස්තු භක්තිකයින් හට වැදගත් වන්නේ කෙසේ ද?
4. ක්‍රිස්තු භක්තිකයින් සමරන ප්‍රධාන උත්සව කවරේ ද? ඒවා සැමරීමට හේතු සඳහන් කරන්න.
5. ජේසුස් වහන්සේගේ මෑණියන් කවුද?

# 30

# දේශ ප්‍රේමය

ඉස්ලාමය ස්වාභාවිකත්වය අගය කරන ධර්මයකි. එය යථාර්ථවාදී, ප්‍රායෝගික ජීවන ක්‍රමයකි. මෙය මිනිස් ස්වභාවය හා මිනිසාගේ ශුභ සිද්ධිය කෙරෙහි අවධානය යොමු කරයි.

දේශ ප්‍රේමය, දේශීය හැඟීම් ආදිය ඇතිවීම සාමාන්‍ය ය. ඕනෑ ම මිනිසකු තම ජාතිය, භාෂාව, සමාජය, තමා ජීවත් වන භූමිය, ජීවත් වන රට ආදිය කෙරෙහි නැඹුරු වීම යථාර්ථවාදී වේ. පහත අල් කුර්ආන් වැකිය මේ බව මනාව ගෙන හැර දක්වයි.

**"මිනිසුනි, අපි එක් පිරිමියකුගෙන් ද එක් ස්ත්‍රියකගෙන් ද නුඹලා මැවුවෙමු."**

**"එකිනෙකා වෙන් කොට හඳුනා ගැනීම සඳහා අපි නුඹලා විවිධ ජාතීන් වශයෙන් ද, ගෝත්‍ර වශයෙන් ද පත් කළෙමු." (49 : 13)**

දේශ, ජාති, භාෂා, ප්‍රදේශ සියල්ල පසු කර යන තත්ත්වයෙන් පිරිමියකුගෙන් හා කාන්තාවකගෙන් මිනිසා මවා තිබීම පිළිබඳව අල් කුර්ආනය පවසන ආකාරය දෙස අවධානය යොමු කළ යුතු ය.



උපන් භූමියට ද, දේශයට ද ප්‍රේම කිරීම මිනිසා සතු ස්වාභාවික හැඟීමකි. උත්තරීතර වූ මෙම මානුෂීය ගුණය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා හා නබි මිතුරන්ගේ ජීවිතයෙහි ද දැකිය හැකි ය.

මක්කා වැසියන්ගේ හිරිහැර මගින් නබි තුමා පිටුවහල් කිරීමට බල කරනු ලැබූ විට, එතුමාගේ හදවතින් නිකුත් වූ වචන මගින් තමා ඇති දැඩි වූ මක්කා භූමිය කෙරෙහි එතුමා තබා තිබූ ඇල්ම මනාව පැහැදිලි වේ. මක්කා නගරය අමතා, "මක්කා මැණියනි! ඔබ ලොව පුරා ඇති භූමීන්ගෙන් මා හට අතිශයින් ම ප්‍රිය වූ භූමියයි. අල්ලාහ් වෙත ඉතා ගෞරවනීය වූ දේශයයි. ඔබ සමාජය මා නෙරපා නොදමන්නේ නම් මම ඔබ අත හැර නොයන්නෙමි," (මුස්නද් අබූ යඃලා) යැයි කඳුළු සලමින් එතුමාණෝ වැළපුණාහ.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් හට ප්‍රථම වහී පහළ වූ අවස්ථාවේ මේ පිළිබඳ ව විමසීම සඳහා කදීජා රළියල්ලාහු අන්හා තුමිය වරකත් බින් නව්ෆල් වෙත කැඳවා ගෙන ගියා ය. එවිට එතුමා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් මක්කාවෙන් නෙරපා දමනු ලබයි යැයි අනාවැකි පැවසූ විට, නබි තුමාණන් හට එය විශ්වාස කිරීමට නොහැකි විය. එතුමා දැඩි ආශ්චර්යයකින් යුතු ව, "මා ඉපදී, ඇති දැඩි වූ, එකමුතු ව ඇසුරු කළ මෙම භූමියෙන් ඔවුන් මා නෙරපා දමනු ලබත් ද?, යි විමසුවේ ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් තමා ඉපදී හැදී වැඩුණු භූමිය කෙරෙහි කෙතරම් ආලයකින් බැඳුණේ ද යන්න මෙයින් හෙළිදරව් වේ.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මක්කාවට හිජ්රත් කළායින් පසුව පවා, තම උපන් දේශය පිළිබඳව මෙනෙහි කර ශෝකයට පත් වූහ. එතුමාණෝ "යා අල්ලාහ් ඔබ අප හට මක්කාව ප්‍රේමයට පාත්‍ර වූ භූමියක් ලෙස පත් කරනු ලැබුවාක් සේ මදීනාව ද එලෙස ම පත් කරනු මැනව. නැතිනම් මක්කාවට වඩා ප්‍රේමයට පාත්‍ර වූ භූමියක් ලෙසට මදීනාව පත් කර දෙනු මැනව" (බුහාරි) යැයි ප්‍රාර්ථනා කළහ.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් හිජ්රත් කර නොබෝ දිනකින් පසු උසයිල් අල් ගිෆ්ෆාරි රළියල්ලාහු අන්හු තුමාණන් මදීනාවට පැමිණියේ ය. එවිට නබි තුමාණෝ එතුමා දෙස බලා "මක්කා නගරය කෙසේ පවතී ද?" යි විමසූහ. උසයිල් අල් ගිෆ්ෆාරි රළියල්ලාහු අන්හු තුමා පාරිශුද්ධ වූ මක්කාවේ සශ්‍රීකත්වය ද, වර්ෂා ජලයෙන් පිරී ඉතිරී ගිය මිටියාවත් ද, සාරවත් ව වැඩුණු මක්කාවේ තුරු ලතා ද පිළිබඳ වර්ණනා කිරීමට ආරම්භ කළ විට ම, නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ "ඇති. ඇති. නැවත එම මක්කාව පිළිබඳව පවසා අප හදවත් දුකෙහි ගිල්වන්නට එපා," යැයි පැවසූහ. (උස්දුල් ගාබා, අල් ඉසාබා)

දිනක් බිලාල් රළියල්ලාහු අන්හු තුමා මදීනාවේ දී අසනීප වූ අවස්ථාවක මක්කාව සිහි කොට කඳුළු සැලුවේ ය. "ඉක්තීර් සහ ජලීල් යන සශ්‍රීක තෘණභූමි මා වට කරමින්, මක්කා මිටියාවතෙහි එක් රාත්‍රියක් හෝ නිදියන දිනයක් මට නොපැමිණෙන්නේ ද? එක් දිනකට හෝ "මජන්නාහි" (මක්කාවේ එක් ස්ථානයක්) ජලය පානය කිරීමට අවස්ථාවක් මා හට නොලැබේ ද? ෂාමා, දුබයිල් යන කඳු දෙක මට දැකීමට නොලැබේ ද?" යනුවෙන් බිලාල් රළියල්ලාහු අන්හු තුමා කළ ප්‍රකාශය ස්වකීය දේශය කෙරෙහි එතුමාගේ හදෙහි වූ ඇල්ම මනාව හෙළි කරන්නක් ව පවතියි. (සහීහුල් බුහාරි)

"රටක් සාරවත් වන්නේ දේශ ප්‍රේමය හා දේශීයත්වය පිළිබඳ හැඟීම ඇති විට පමණි," යන උමර් රළියල්ලාහු අන්හු තුමාගේ ප්‍රකාශය ද අවධානයට ලක් විය යුතු ය.

දේශ ගවේෂක ඉබ්නු බතූතා තුමා සංචාරය සඳහා තම මව් බිමෙන් පිටවූ අවස්ථාව පිළිබඳ ව පවසන කල "සියලු රටවලට වඩා මා හට විශේෂ වූ ප්‍රේමයකට ලක් වූ මාගේ මව්බිමෙන් වෙන් වීම පිළිබඳ සිතා ශෝක වීම හේතුවෙන් ම මා මරණයට පත් වේ දෝ, යි සිතන්නෙමි," යැයි පවසා ඇත.

මිනිසකු තමා උපන් භූමිය ප්‍රිය කිරීමෙන් පමණක් දේශ ප්‍රේමය නතර වන්නේ නැත. එය අභිබවා ඔහු තම රටවැසියන්හට ප්‍රේමකරන්නකුව සිටිය යුතු ය. රට වැසියන්ගේ සුභ සිද්ධිය තකා ඔවුන් සමග සමගියෙන් ජීවත්වීම ද, ඔවුන් වෙනුවෙන් ඉපයීම ද සත්‍ය දේශප්‍රේමය වන්නේ ය. දේශප්‍රේමී වූ රට වැසියකු තම රටෙහි සෞඛ්‍යය, අධ්‍යාපනය, සංස්කෘතිය යනාදියෙහි වර්ධනය සඳහා මහත් වෙහෙසක් දැරීම ද, එයට දයක වීම ද, අගය කළ යුතු කරුණකි.

තම රට අනතුරකට හෝ දුගීභාවයකට හෝ සාගතයකට හෝ අසාධාරණයකට හෝ ලක් වන විට රට අතහැර නොගොස් තම ජීවිතය සුළු කොට තකා එහි රැඳී සිට රටේ විමුක්තිය වෙනුවෙන් සටන් වැදීම සැබෑ දේශප්‍රේමය වන්නේ ය.

දේශප්‍රේමය, ජාතික හැඟීම, භාෂාව ආදියට මුල් තැන දෙමින් මානුෂිකත්වයට විරුද්ධව හෝ සහෝදරත්වයට හා යුක්තිය ඉටු කිරීමට බාධා නොකළ යුතු බවට ඉස්ලාම් අවධාරණය කරයි.

විශ්වාසවන්තයිනි! සැමවිට අල්ලාහ්ට බිය වන්නෝ ද නීතියට සාක්කි දරන්නෝ ද වනු. සමූහයක් කෙරෙහි තොපගේ පිළිකුල ඔවුනට අසාධාරණය කිරීමට නොපෙළඹේවා! සාධාරණය ඉටු කරමු. එය බියබැති බවට ඉතා සමීප ය. අල්ලාහ්ට බියවෙමු. ඇත්තෙන් ම අල්ලාහ් තොප කරන දෙය දන්නේ ය. (5 : 8)

මේ සමග මිනිසාට ප්‍රේම කිරීම, රට වැසියන් සමග ආදරයෙන් සිටීම ඉබාදතයක් ලෙස ඉස්ලාම් දහම අපට කියා දෙයි.

"භූමියේ සිටින මිනිසුන්ට ප්‍රේම කළ විට, ගුවනේ සිටින අල්ලාහ් ඔබට ප්‍රේම කරයි." (තිර්මිදි)

"මිනිසාට දයාව නොදක්වන්නන් හට අල්ලාහ් දයාව නොදක්වන්නේ ය." (බුහාරි)

ජාති, භාෂා, වර්ණ ආදියෙන් ජනතාව වෙනස් වූව ද රටක් වශයෙන් එක් ව ජීවත් වීම නැතිව ම බැරි අංගයකි.

**එබැවින් අන්‍යෝන්‍ය ආදරය, අන්‍යෝන්‍ය අවබෝධය, ඉවසීම, පොදු යහපත සුරැකීම, අන් අයට ඉඩ දීම ආදිය ආභරණයක් කොට ගෙන දේශප්‍රේමී ව දේශයේ දියුණුව සඳහා දයක වීමට අධිෂ්ඨාන කර ගනිමු. දේශය කෙරෙහි ප්‍රේම කරමු! දේශයේ වර්ධනය වෙනුවෙන් උපයමු.**

## අභ්‍යාස

1. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ දේශප්‍රේමී බව එළි දැක්වන අවස්ථාවක් ලියන්න.
2. නබි තුමාගේ මිතුරන්ගේ දේශප්‍රේමී බව එළි දක්වන අවස්ථාවක් ලියන්න.
3. මිනිසකු තමන් ජීවත්වන රටට ප්‍රේම කිරීම හා යථාර්ථවාදී බව පෙන්නුම් කරන අල්කුර්ආන් වදනක් ලියන්න.
4. අප ශ්‍රී ලාංකිකයින් වශයෙන් අප රට කෙරෙහි ප්‍රේම කිරීම කළ හැකි වන්නේ කුමන ආකාරයෙන් ද යන්න සාකච්ඡා කර ලියන්න.